සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2562 ක් වූ වෙසක් මස (ව්‍යවහාරික වර්ෂ 2018 මැයි)

81 වෙනි කලාපය















## ලෝකයාට හෙළි නොවූ විස්මිත ප්‍රතිකර්ම



රු. 25/-

සැඟව ගිය බොදු මග යළි රැගෙන සැම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය



# බුදු සිරිත

සාරා සැකි කපක් සම තිස් පෙරුම් පිරූ
පීරා සසර සැප දුක සම සිතින් දැරූ
පායා දිලෙන පුර සඳ වන් රුවින් සරූ
මායා බිසව කුස හොත් පුතු පිනෙන් ගරූ

සව්සත් භව දුකෙන් මුදවාලන අටිනි
පින්වත් කුමරු පිළිබඳ මනු ලොව පැමිණි
පැනවත් අසිත තපසිඳු පිළිවිස නැණිනි
සිදුහත් නම තැබුනි බුදු වන බව පෙනුනි

සිප් සත උගෙන කුමරිඳු යව්වන වයසේ
කම් රස පහස විඳ බිම්බා සහ රිසි සේ
නිම් නැති ගොර සසර රුදු දුක දැක රහසේ
නික් මුනි තපස වෙත පුතු බිහි වුන දවසේ

එව මග දනිමු පැවසුව ගුරුවරු හමුවේ
භව දුක නිවන මග නැහැ කුමරිඳු දුටුවේ
නව තිනු එලය කිම එම මිතු දම නිම වේ
නුව ණැති කුමරු වනගත තපසට යොමු වේ

සුබ විහරණය අත් හළ හිඳ රජ ගෙදර
දුක අත් විඳිති කුමරිඳු සැපයද කවර
දැක විසඳුමක් නැති වග දැඩි දුක අතැර
සැක හැර මැදුම් පිළිවෙත පිළිගති එවර

කුල දුව සුජාතා දුන් කිරි පිඬු වළඳා
නිසැකව බුදු වෙමියි අදිටන සිතැ විහිදා
නිසලව ඇසතු රුක මුල වැඩ හිඳ සමිඳා
විරුදව පැමිණි මරු තෙද බිඳ බුදු වුනදා

කම්පා විය දෙරණ බුදු හිමි පහළ වුනා
නිම්මා නැති සසර කතරින් එතෙර වුනා
සම්මා පෙර නොඇසු දහමක් උරුම වුනා
එම්බා මරුව තගෙ බල සුණු විසුණු වුනා

පබැඳුම -
කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා





# ලෝක ස්වභාවය මුල් කරගෙන කමටහන් සැකසෙන අයුරු...

01 කොටස

සමාධිය පිළිබඳව වැඩිපුර විස්තර හොයා බලන සියලු පින්වතුන්ටත්, ඒ වගේම ආධුනික පින්වතුන්ටත් වැදගත් දහම් කාරණාවක් තමයි මේ පෙන්වා දෙන්න බලාපොරොත්තු වෙන්නෙ. මේ දහම හොයන ආධුනික පින්වත් පිරිසක් ඉන්න නිසා මූලික කර්මස්ථානයක් සකස් කරගන්නෙ කොහොමද කියන කාරණය තේරුම් ගන්න ඕන. ආරම්භයේදිම කර්මස්ථානයක් ඉල්ලන පින්වත් පිරිස් හිටියොත්, කොහොමද සාසනික කර්මස්ථානයක් ලබා දෙන්න මග පාදල දෙන්නෙ කියන කාරණය ගැනත් දැනුවත් වෙන්න ඕන.

එතකොට මේ බුද්ධ සාසනය පිළිබඳව දැනීමක් නැති නමුත්, මේ භාවනා කෙරෙහි සාසනික කර්මස්ථානයක් වර්ධනය කරගන්න කැමති අය ඇතුළු පින්වත් හැම පිරිසකටම ඒ උතුම් අවස්ථාව ලබා ගන්න නම් බුදු පියාණන් වහන්සේ දේශනා කළ ඒ මූලික දර්ශනය, මූල ධර්මය පළමුව තේරුම් ගන්න ඕන. ඒ සඳහා ගොඩක් හිතන්න දේවල් නෑ. ගොඩක් ඉගෙන ගන්න දේවල් නෑ. ත්‍රිපිටකය කියවල ගොඩක් දැනගන්න, පාලි කියල ගොඩක් ඉගෙන ගන්න මේ එකක්වත් අවශ්‍යතාවයක් නෑ.

බුදු පියාණන් වහන්සේ වැඩ ඉන්න කාලෙදි සමහර වෙලාවට විවිධ ආගම්වල හිටපු අය, කිසිම ධර්මයක් පිළිබඳව අහපු නැති විවිධ දෘෂ්ටි ගත්ත අය, බුදු පියාණන් වහන්සේ හමුවෙලා යම් කිසි වෙලාවක ඒ ධර්මයක් අහගත්තා. **ඊට පස්සෙ බොහොම සුළු වෙලාවක් තුළ ඒ අහගත්ත ධර්මය අර්ථවත්ව වටහාගෙන ඒකෙ සාරාංශය කර්මස්ථානයක් වශයෙන් අරගෙන ආරණ්‍ය, රුක්මුල්, ශුන්‍යාගාර... ආදියට ගිහින්, සමහර වෙලාවට උදේ ඉගෙන ගත්ත කර්මස්ථානයකින් හවස වෙනකොටම ප්‍රතිඵල ලබා ගත්තා. දින ගණනක් ඇතුලතත් ඒ ප්‍රතිඵල ලබා ගත්තා. ඒ විදිහට ධ්‍යාන, මාර්ග ඵල ලබාගෙන අරිහත් ඵලයට එනකල්ම වැඩ සිද්ධ කරගත්ත අවස්ථා අපේ ධර්මයේ බොහෝ කොටම සඳහන් වෙනවා.**

ඉතින් ඒ වෙලාවෙදි අසූ හාර දහසක් ධර්මස්කන්ධය කියන ඔය සියල්ලම අරගෙන එහෙම ලෑස්ති වුනේ නෑ. ලක්ෂණ, රස, පච්චු පට්ඨාන, පදට්ඨාන... ඔය ආදී වශයෙන් කියන එකක්වත් විග්‍රහ කරගෙන ඔය තරම් ගොඩක් දැනගෙන ගිහින් නෙවෙයි ඒ කර්මස්ථානය සම්පූර්ණ කරගත්තෙ. අර්ථවත්ව වටහා ගන්න පුළුවන් හරවත් ධර්මයක් කෙටියෙන් තේරුම් අරගෙන, ඒ කෙටියෙන් දේශනා කරපු ධර්මයක් අර්ථවත්ව විස්තර කරගෙන, ඒ ධර්ම කාණ්ඩය අරගෙන ගිහින් ඒ තුළින් තමයි ධ්‍යාන, මග ඵල සියල්ල සම්පූර්ණ කරගත්තෙ.

**මාර්ග ඵල ලබා ගන්න තියෙන මූලික කර්මස්ථානවලදී මේ ධ්‍යාන කියන ඒවා පෙන්වා තියෙන්නෙ කුමාරයෙකුට ආභරණයක් වගේ කියල. ඒ කියන්නෙ අමුතුවෙන් ගන්න දෙයක්, අමුතුවෙන් මහන්සි වෙන්න දෙයක් නෑ. ඉලක්ක කරන්න දෙයක් නෑ. නිරායාසයෙන්ම ලැබෙනවා.** හැබැයි මාර්ගය පොඩ්ඩක් හරි වෙනස් වුනොත්, ඒ මාර්ගය වෙන පැත්තකට හැරුනොත් ඒ කර්මස්ථානය වැඩෙන්නෙ නෑ. වැඩුනට පස්සෙ වැඩුන කියල දැන ගන්නවා මිසක් කල් තියා දැනගෙන ඒ ධර්මය වඩනවා නෙවෙයි. මේක තමයි එදත් තිබ්ච්ච ක්‍රමය. ඉතින් ඔය ක්‍රමය අදත් තේරුම් ගන්න ඕන. අන්න ඒ ක්‍රමයමයි අදත්, එදත්, මතුවටත්, කවදත් මේ ආර්ය මාර්ග ඵලයක් ලබනව නම් තියෙන නියම ක්‍රමය. අද වෙනත් ක්‍රමයක්, ඒ කාලෙ වෙනත් ක්‍රමයක් එහෙම වෙන්නෙ නෑ. ඒ නිසා බුදු පියාණන් වහන්සේ දේශනා කරපු ධර්මය තුලින් ඒ අවශ්‍ය කර්මස්ථානය ලබා ගන්න දැනගන්න ඕන.

කර්මස්ථානයක් දෙනවයි කියල කියන්නෙ, වචනයක් දීල මේක වඩ වඩා ඉන්න කියන එක නෙවෙයි. ඒ කර්මස්ථානය තමන්ගෙ හිතට මතුවෙන්න ඕන. ඒකයි නියම ක්‍රමය. මූලිකව ධර්මය ශ්‍රවණය කිරීම, ඒ තුලින් තමන්ට අවබෝධයක් ලැබීම, ඒ අවබෝධය තුලින් ලබන්නා වූ සාරාංශය තමයි තමන්ගෙ හිතේ කර්මස්ථානයක් හැටියට වැඩෙන්නෙ. ඉතින් මේ වෙලාවදි, කිසිම සාස්තෘවරයෙක් ලෝකයට පෙන්වා නොදුන්, බුදු පියාණන් වහන්සේට ගෝචර වුන ඒ සත්‍ය ධර්මය විග්‍රහ කළාට පස්සෙ, අන්න ඒ තුලින් ලෝකය මොකක්ද කියල හඳුනා ගැනීම ඉස්සෙල්ලම සිද්ධ වෙනවා.

ලෝකය නිච්චයි, සැපයි, අත්තයි, ආත්මයි කියන දෘෂ්ටියේ ඉඳගෙන තමයි මේ ලෝක සත්ත්වයා බොහෝ කල් අනාදියේ පටන් සැරිසරන්නෙ. ඔන්න ඔය දෘෂ්ටිය ඉස්සෙල්ලම ධර්මය තුලින් කැපිල යන්න ඕන. මේ ලෝකය නිච්චයි කියන අදහස වැරදි හැටියට හේතු සාධක ඇතිව දැනගෙන, මේ ලෝකයේ කිසිම දෙයක් නිසි සේ නෑ කැමති සේ නෑ කියල දැනගෙන, හිත පිළිබඳ වේවා, ගත පිළිබඳ වේවා, කොතැනක හෝ වේවා ප්‍රිය මධුර යමක් හට ගත්ත නම් ඒ හට ගත්ත දේ වැනසිලා යනවා කියන මෙන්න මේ දහම බුදු පියාණන් වහන්සේ දේශනා කරපු ධර්මය තුලින් මිසක් වෙනත් කිසිම ධර්මයකින් දැනගන්න ලැබිල නෑ කියන කාරණය තේරුම් ගන්න ඕන. ලෝකයේ යම් තාක් අත්බැව්වල

හට ගැනීම් තියෙනව නම්, පහල වීම් තියෙනව නම්, ඒ හටගත්ත හැම අත්බැවකටම උරුම ධර්මතාවයක් තියෙනවා. ඒක විනාස වෙනවා.

එබඳු වන්නා වූ ඒ ධර්මය තේරුම් ගන්න බැරි අන්‍ය ආගමික සාස්තෘවරු විවිධ අත්බැව් සදාකාලික ස්ථාන විදිහට පැනෙව්වා. සමහර වෙලාවට බ්‍රහ්ම ලෝකය, බ්‍රහ්මන් සදාකාලිකයි කියල පැනෙව්වා. ඒ වගේම එකම දෙවියන් වහන්සේ සදාකාලිකයි කියල පැනෙව්වා. මේ ආදී වශයෙන් ඒ පුද්ගලතාවයන් ඒ ඒ තත්ත්වයන්ට පනවගෙන කාලෙන් කාලෙට වෙනස් කරගෙන එහෙමත් ඇවිදින් තියෙනවා. නමුත් මොන සාස්තෘවරයෙක් වුනත් සියලු තැන්හි ලෝකයයි කියල සම්මත සියල්ලම, ඒ හට ගත්ත හැම දෙයක්ම විනාස වෙන ධර්මයකින් යුක්තයි කියන කාරණය පෙන්නුවෙ නෑ. ඒ සත්‍යය පෙන්වා දුන්නෙ බුදු පියාණන් වහන්සේ විතරයි. ඒ සත්‍යය එහෙම නෙවෙයි කියන්න සමතෙක් මේ තුන් ලෝකයේම බිහි වෙන්නෙ නෑ. ඒ වගේ ලෝකය විදිහට හට ගත්ත සියල්ලෙන් මෙන්න මේක, මේ කොටස විනාස වෙන්නෙ නෑ කියල කියන්න කවුරුවත් නෑ. එහෙම යම් කෙනෙක් කිව්ව නම්, ඒක තේරුම් ගන්න බැරි නුවණ මදිකම නිසා බැහැපු මුළා සහගත තීරණයක්. ඒක සත්‍ය තීරණයක් නෙවෙයි. ධර්මය තේරුම් ගත්තට පස්සෙ තමයි ඒ කාරණය වැටහෙන්නෙ.

බුදු පියාණන් වහන්සේ මේ ලෝකයට ධර්මය දේශනා කරන්න පෙර ආර්ය පරියේෂණය තුලින් ඔය හැම දහමක් පිළිබඳවම විග්‍රහ කර ගත්තා. තේරුම් අරගෙන දැනගත්තා. ලෝකයේ හැම කෙනෙක්ම විමුක්තිය කියල පනවන්නෙ හට ගත්ත දෙයක්. කොතැන හරි භාවනාවක් කරල, නැත්නම් පින් දහම් කරල, ඒ තුලින් ලබන්නා වූ යම් උපතක් ඇත්නම් අන්න ඒ උපතක්ම තමයි විමුක්තිය හැටියට පෙන්නුවෙ. බුදු පියාණන් වහන්සේ ඒ බෝධි සත්ත්ව අවස්ථාවෙදිම, ඒක එහෙම වෙන්න බෑ කියන කාරණය අනුමාන සත්‍යය තුලින් දැකල තීරණයකට බැස්සා. කොතැන නමුත් යමක් හට ගත්ත නම් හේතුවක් නිසයි හට ගත්තෙ. ඒ හට ගත්තා වූ හේතුව, ඒ හට ගත්ත දේක පැවැත්ම ඒකාන්තයෙන් ගෙවෙනවා. පෙර නොතිබ්ච්ච දෙයක් ලෝකයේ හට ගත්ත නම්, හේතුවක් ඇතිව හට ගත්ත දෙයක් මිසක් එහෙම නිකම්ම හට ගත්ත දෙයක් නෑ. අහේතුකව ලෝකයේ යමක් හට ගන්න විදිහක් නෑ. මේ ඥානවන්ත තීරණයට උන්වහන්සේ බෝධි සත්ත්ව කාලෙදිම බැහැල තිබුනා.

උන්වහන්සේ ආලාරකාලාම, උද්දකරාමපුත්ත කියන මේ අය ළඟට ගිහින් විවිධ ලෞකික දැහැන් වැඩුවා. ඒ ආර්ය පරේයේෂණ කරපු අවස්ථාවන්. නිගමනයකට බැහැපු අවස්ථා නෙවෙයි. ඒ අවස්ථාවෙදි අන්තිම තැන, අන්තිම කෙළවර, විමුක්තිය හැටියට ආකිඤ්චඤ්ඤායතන කියන්නා වූ ස්ථානයක් ආලාරකාලාම කියන තාපසතුමා පෙන්වනවා. ඒ ස්ථානය නිත්‍ය පැවැත්මක් තියෙන ස්ථානයක් හැටියට පෙන්වනවා. යම් තැනක හේතුවක් නිසා පැවැත්මක් හට ගත්ත නම් ඒ හේතුව ගෙවිල යනවා, ඒ පැවැත්ම කවදාවත් ස්ථිරව පවතින්න විදිහක් නෑ කියන එක මහා බෝධි සත්ත්ව ඥානයෙන් උන්වහන්සේ නිගමනය කළා. **යම් තැනක යම් අත්බැවක් හට ගත්ත නම්, ඒ හට ගත්ත දේ කවදහරි ගෙවිල යනව නම්, ඊට පස්සෙ ඒ තත්ත්වය ඉවර වෙනව නම්, ඒක විමුක්තිය වෙන්න බෑ, සැනසෙන්න බෑ** කියන නිගමනය සත්‍ය තීරණය වශයෙන් උන්වහන්සේ අවබෝධ කළා.

එතනින් නික්මිලා තවදුරටත් හොයනකොට තමයි උද්දකරාමපුත්ත කියන තවත් යෝගියෙක් මුණ ගැහුනෙ. ඒ යෝගිතුමා, එතැනින් තවත් එහාට තිබුන, නැත්නම් ලෝකයේ භවාග්‍රයයි කියන නේවසංඥානාසංඥායතනය කියන තලයක් පිළිබඳව විග්‍රහයක් කළා. අන්න ඒ විග්‍රහයෙන් උන්වහන්සේ එතැනදිත් සුළු කාලයක් තුලදි ඒ තත්ත්වයට පත් වෙලා තීරණයකට බැස්සා. ඒ ස්ථානයත් හට ගත්ත තැනක්. ලෝකයේ කෙබඳු තැනක හෝ කුමන ආකාරයේ අත්බැවක හට ගැනීමක් වුනා නම්, ඒ හට ගත්ත දේ හේතුවක් නිසාමයි හට ගන්නෙ. හේතුවක් නිසා යම් අත්බැවක් හට ගත්ත නම් ඒක සදාතනික වෙන්න බෑ. මොකද යම් ශක්තියක් ගැබ් කරල ඒ ශක්තිය තුලින් නිෂ්පාදනයක් යමකින් සිද්ධ වුනා නම්, ඒ මොන තැන නමුත් ඒ ශක්තිය ඒ සඳහා ගෙවෙන්න ඕන. ඒ ශක්තිය ගෙවිල ඒක ඉවර වෙන දවසක් එනවා. ඒකාන්තයෙන් ඒ ශක්තිය නැතිව ඒක පවතින්න බෑ. මෙන්න මේ නිගමනය නිසා නේවසංඥානාසංඥායතන කියන තැන තමයි ලෝකයේ යන්න තියෙන ඉහලම තැන, එතනට ගියත් මහා කල්ප අසූ හාර දහසක් කියන කාලය තුලදි ඒක නැති වෙලා යනවා කියල බුදු වුනාට පස්සෙ දැන ගත්තා.

නමුත් මුලදි එක්තරා නිගමනයක් තිබුනා. යම් තැනක යම් අත්බැවක් හට ගත්ත නම් ඒකාන්තයෙන්ම ඒකට ගෙවීමක් තිබිය යුතුයි. ඒක සදාතනික වෙන්න බෑ. එහෙනම් එබඳු වන්නා වූ සදාතනික වෙන්න බැරි තැනක හටගෙන වැනසුනා නම්, ඔහුට ඊළඟට මොකද වෙන්නෙ? සත්‍යය දැකල තිබුනෙ නැත්නම් ඔහුට සිද්ධ වෙනවා, එතැන කාලය ගෙවුනට පස්සෙ නැවතත් සසර සැරිසැරීමකට එන්න. මෙන්න මේ අනුමාන තීරණයකින් සත්‍ය නිගමනයකට බැස්සා, මේ ලෝකයේ එක තැනකවත් නිවන නෑ කියල. නිවෙන්න පුළුවන්කමක් නෑ. සැනසෙන්න පුළුවන්කමක් නෑ. මොකක් නිසාද? සත්ත්වයා මේ සංසාර අනාත ගමනක් එන බව උන්වහන්සේ තමන්ගෙම ප්‍රත්‍යක්ෂ නුවණින් ඒ බෝධි සත්ත්ව අවස්ථාවෙදිම දැනගෙන හිටියා. මොකද ඒ **දැහැන්වලට, මිනිස් ඇස ඉක්ම වූ දිවැස්වලට සසර ගමනක හැටි, භවෙන් භවේ මේ ලෝක සත්ත්වයා ගමන් කරන හැටි පේනවා.** ඒ පේන නිසාම උන්වහන්සේ එදා දැනගෙන හිටියා, යම් තැනක ඉපදුනා නම්, එතැනින් චුත වුනා නම්, නැවත වාරයක් මේ සසර ගමනට වැටිල සැරිසැරීමක් තියෙන බව. මෙන්න මේ නිසා දැන ගත්තා, නේවසංඥානාසංඥායතන කියන තැන උපන්නත් ඒක ගෙවිල ගියාට පස්සෙ නැවතත් සසර සැරීමට වැටිය යුතුයි කියල.

මෙන්න මේ නිගමනයේ ඉඳල කල්පනා කළා. යම් තැනක යම් අත්බැවක හට ගැනීමක් තියෙනව නම් එතැන විනාසයක් තියෙනවා. හට ගත්ත දෙයක් විනාස වෙනව නම් ඒක විමුක්තිය වෙන්න බෑ, ඒක සැනසුම් සහගත වෙන්න බෑ, තාවකාලිකව ප්‍රමාද වෙවී විවේක කාලයක් ගත කරනව වගේ ඉන්නවා විතරයි. එහෙනම් ඒකෙන් මම සැනසුනා, මම නිවුනා කියල සතුටු වෙන්න පුළුවන් තැනක් නෙවෙයි. මොකද මතු අනාගතයෙදි සංසාර ගමනකට නැවත වැටෙනව නම්, යම් තැනකට එහෙම වැටෙත්දි, වැටෙන්න හේතු තියෙත්දි මහා කල්ප අසූ හාර දාහක් හිටියත් වැඩක් නෑ. මොකද ඒ මහා කල්ප අසූ හාර දාහත් කවදහරි ගෙවෙනවා. ඒක ගෙවෙනකල්, මම හරි විවේකයෙන් කරදරයෙන් තොරව නිවී සැනසිල්ලෙ ඉන්නවා කියල කියන්න පුළුවන්. කොතැන හරි ඊට ගැලපෙන අත්බැවක් ලබල, ඒක ගෙවුන දවසට අනේ අපොයි කියන්න වෙනවා.

එදාට මොකද වෙන්නෙ, ආයෙත් සැරයක් අර කලින් වගේම සසර ගමනට වැටුනම, ඒ සසර ගමනට උරුම වන්නා වූ යම් දුක් කන්දරාවක් ඇත්ද ඔහුට ඒකෙන් මිදීමක් නෑ.

යම් තැනක යම් අත්බැවක හට ගැනීමක් තියෙනව නම්, හට ගත්ත දේ ජරාවට පත් වෙනව නම්, වැහැරිලා යනව නම්, වැනසිලා යනව නම්, එතැන ඇසුරු කරපු තවත් යම් තාක් දේවල් හට ගත්ත නම්, ඒ හට ගත්ත දේ වැහැරෙනව නම්, වැහැරිලා විනාසයට පත් වෙනව නම්, එහෙම දෙයක් කවදාවත් "මම" කියල තියාගන්න, "මගේ" කියල තියාගන්න, "මගේ ආත්මය" කියල ඉන්න පුළුවන් සුදුසු තැනක් නෙවෙයි කියල සත්‍යයට අනුකූලව උන්වහන්සේ දැකල නිගමනයක් කළා. යම් තැනක හට ගැනීමක් නැත්ද, එතැන විනාස වෙන්න දේකුත් නෑ, එතැන දුක හට ගන්න ක්‍රමයකුත් නෑ. හට ගැනීමක් නැති තැනක යම් ස්වභාවයක් ඇත්නම් අන්න ඒක නිවන විය යුතුයි. මේ තමයි උන්වහන්සේ මූලිකවම කරපු තීරණය.

බෝධි සත්ත්ව කාලයේ මෙන්න මේ තීරණයේ පිහිටල උන්වහන්සේ විමසුවා, බැලුවා. හට ගැනීමක් සහමුලින්ම නැති කරන්නෙ කොහොමද? කොතැනක හරි හට ගැනීමක් තියෙනව නම් ඒකෙ ගෙවීමක් තියෙනවා. හට ගැනීමක් නැත්නම් එතැන ගෙවෙන්නෙ දෙයක් නෑ, වැනසෙන්න දෙයක් නෑ, ජරාවට පත්වෙන්න දෙයක් නෑ. ජරාවක් නැත්නම්, මරණයක් නැත්නම්, සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්ස, උපායාසයන් එන්න, කිසිම දුකකට එන්න හේතුවක් නෑ. එහෙනම් දුක නැත්තෙ යම් තැනකද, හට ගැනීමක් නැති තැනයි කියල උන්වහන්සේ සත්‍ය තීරණයේ බැහැල තමයි මේ ආර්ය පරියේෂණය තුලින් යම් කිසි නිගමනයකට බැස්සෙ. නිවන එතැනයි. අන්න ඒක ලෝකෙ කිසිම කෙනෙක් හොයාගෙන තිබුනෙ නෑ. ලොව්තුරා බුදු පියාණන් වහන්සේට ඇරෙන්න ලෝකයට දහම් දෙසන්න හේතු කාරක ඇති ආකාරයෙන් සම්පූර්ණයෙන් දැන ගන්න ලෝකෙ තවත් කිසිම කෙනෙක් පහල වෙලත් නෑ. පහල වෙන්නෙත් නෑ. කිසිම සාස්තෘවරයෙක් ඊට ආසන්න ලෙසවත් ධර්ම දේශනා නොකරපු නිසා ඒ කාරණය අද වෙනකල් ඔප්පු වෙලා තියෙනවා.

ඒ නිසා බුදු පියාණන් වහන්සේ බෝධි සත්ත්ව කාලයෙදිම මූලිකව බැහැපු නිගමනයේ ඉඳල පරේයේෂණයක් කළා. මේ හට ගැනීමක් තියෙනවා. හට ගත්ත සියල්ලටම වැනසීමක් උරුමයි. හට ගත්ත දෙයක් වැනසෙනව නම් ඒ ස්ථානය මමයි කිව්වොත්, මගෙයි කිව්වොත්, මගේ ආත්මයයි කිව්වොත් ඒක මුළාවක්. මේක බුද්ධත්වයට හේතුකාරක වන මූල ධර්මය පිළිබඳව බෝධි සත්ත්ව අවස්ථාවෙදිම, අප්‍රමාණ පාරමිතා බලය නිසාම උන්වහන්සේට නැගුන අනුමාන ඥානයක්. මෙන්න මේ ඥානයේ පිහිටල තමයි උන්වහන්සේ කල්පනා කළේ, එහෙනම් මොකක්ද මාර්ගය කියල.

යම් තැනක යමක් හට ගත්ත නම්, ඒ හට ගත්ත දේ වැනසෙනව නම්, අන්න ඒ වැනසෙන තැන මගේ කියල අල්ලන්න දෙයක් නෑ. එහෙනම් ඇයි මේ සත්ත්වයෝ සසර සැරිසරන්නෙ කියල බලනකොට දැක්කා, යම් තැනක මම, මගේ, මගේ ආත්මය කියන හැඟීම, දෘෂ්ටිය තියෙනව නම්, ඒ තාක් කල් ලෝක සත්ත්වයාට මම, මගේ, මගේ ආත්මය කියන දෘෂ්ටියෙන් මිදෙන්න බැරි නම්, ඒ තරමටම සසර ගමන කෙළවරක් කරන්න බෑ. සසර ගමනට හේතුව නැගෙන්නෙ, "මම, මගේ, මගේ ආත්මය" කියන මේ තත්ත්වය උඩයි කියල මූලික වශයෙන් දැනගත්තා. එහෙනම් මම, මගේ, මගේ ආත්මය කියන දෘෂ්ටියට වැටෙන්න හේතුව මොකක්ද? ඇත්ත ඇති ආකාරයෙන් දකින්නෙ නැති එකයි කියලත් දැක්කා. ඇත්ත කිව්වෙ මොකක්ද? හට ගත්ත යම් අත්බැවක් ඇත්ද, ඒ තැන සදාකාලිකව පවතින්නෙ නෑ. කවදහරි විනාස වෙනවා. අන්න ඒ කාරණය නොබැලුව නිසාම, නොහිතුව නිසාම, ඒ ස්ථානය නිච්චයි, සැපයි, අත්තයි / ආත්මයි කියන දෘෂ්ටියෙන් ලෝක සත්ත්වයා බැඳිච්ච නිසාම, ඇත්ත පේන්නෙ නැති මුළාවකට පත්වෙන බව දැනගත්තා.

මෙන්න මේ මුළාව යම් දවසක අත්හැර ගත්ත නම්, පැවැත්මට හේතුකාරක වෙන ශක්තිය නිකුත් වෙන්නෙ නෑ. පැවැත්මක් හට ගත්තෙ නිකං නෙවෙයි, හේතුවක් ඇතිව. පැවැත්මට ශක්තිය මොකක්ද? නිච්චයි, සැපයි, අත්තයි කියල දෘෂ්ටියකට බැහැල, මිදෙන්න බැරිව ඒකට අනුකූල වන්නා වූ දේ ප්‍රියයි, මනාපයි, යහපතයි කියල ලෝකය අල්ලගෙන, අන්න ඒ සඳහා හිතින්, කයෙන්, වචනයෙන් කටයුතු කෙරුව නම්, මෙන්න මේ නිසා නිච්චයි, සැපයි, අත්තයි කියන දෘෂ්ටියෙන් ලෝකෙ කොතැන හරි සාරවත් කියල අරගෙන, ඒ සාරත්වය සඳහා ගමන් කිරීමට කාර කරනවා, නැත්නම් ක්‍රියා කරනවා. මොනවයින්ද ක්‍රියා කරන්නෙ? හිතෙන්, කයෙන්, වචනයෙන් ක්‍රියා කරනවා. මෙන්න මේවාට සංඛාර කියල කියනවා.

සංඛාර කියන්නෙ "සං" කියන්නා වූ එකතුන් සමග කරන ඒවා. මේ සංඛාර වැඩපිළිවෙල යම් තාක් කල් තියෙනවද, ඒ තාක් කල් එකින් එකට ඒක දැක්කා. ඒක තිබුනොත් මොකක්ද හට ගන්නෙ? සං කියන එකතුවේ වැඩපිළිවෙල කරන්න කරන්න ලෝකය නිච්චයි, සැපයි, අත්තයි කියල නිගමනය කරන හේතුව නිසා විඤ්ඤාණ හට ගන්නවා. නැත්නම් එක එක සිත් හට ගන්නවා. "මට හිතෙනවා මෙහෙම කෙනෙක් වෙන්න" අන්න හිතක් හට ගත්තා. විඤ්ඤාණයක් හට ගත්තා. "මට හිතයි මේ ලස්සන දේ බලන්න" අන්න රූපයක් මුල් වෙලා හිතක් හට ගත්තා. "මට හිතයි මේ මිහිරි නාදය අහන්න" අන්න ශබ්දයක් මුල් වෙච්ච හිතක් හට ගත්තා. "මට හිතයි මේ ගන්ධය ආඝ්‍රහණය කරන්න" ගන්ධයක් මුල් වෙච්ච හිතක් හට ගත්තා. "මට ආසයි මේ රසවත් දේ විඳ විඳ ඇසුරු කර කර ඉන්න" රසයක් මුල් වෙච්ච හිතක් හට ගත්තා. "මට ආසයි මේ පහස විඳ විඳ ඇසුරු කර කර ඉන්න" ස්පර්ශයක් මුල් වෙච්ච හිතක් හට ගත්තා. "මට හිතයි මේ ලෝකෙ දේවල් හිත හිතා ආස්වාද විඳින්න" ධර්මයක් මුල් වෙච්ච හිතක් හට ගත්තා.

මෙන්න මේ කාරණා ටික අරමුණු කරල මිසක් සිත් නිකං හට ගන්නෙ නෑ. හේතු ඇතිවයි හට ගන්නෙ, ආහාරයක් ඇතිවයි නැගෙන්නෙ කියල දැනගත්තා. මොකක්ද මේකට තියෙන ආහාරය? ප්‍රියයි, මනාපයි, යහපතයි කියන හැඟීම. නිච්චයි, සැපයි, අත්තයි කියන දෘෂ්ටියේ මුල් බැහැගෙන ඉඳල ඒවා සාරයි කියල අරගෙන හිතෙන්, කයෙන්, වචනයෙන් අරගත්තා වූ ශක්තිය තමයි ඔය හිත හට ගන්වන්නෙ කියල උන්වහන්සේ දැනගත්තා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**



# නිවන් ලැබ දෙන කමටහන්... 01 කොටස

නිවන් දකින්න හේතු වෙන බණ දහමක් අහල, ලෝකයේ ඇත්ත තත්ත්වය අවබෝධ වෙච්ච පින්වතුන්ට, ඒ කියන්නෙ දර්ශන මාත්‍රයෙන් හෙවත් දැකීමෙන් කෙලෙස් පහවෙච්ච පින්වතුන්ට, ඊළඟ පියවර විදිහට තියෙන්නෙ භාවනාවෙන් කෙලෙස් පහකර ගැනීම. එතනදි තමන්ට ගෝචර වෙන කමටහන් වැඩීමත් මාර්ගය ඉක්මනට පූර්ණ කරගන්න පහසුවක් වෙනවා. ඉන්ද්‍රිය පරෝපරියත්ත ඥානය තියෙන ලොව්තුරා බුදුන් වහන්සේට නම්, කෙනෙක් දැක්ක ගමන්ම ඒ පුද්ගලයට ගැලපෙනම කර්මස්ථානය ලබා දෙන්න හැකියාව තිබුණත්, අනෙක් ශ්‍රාවකයන් වහන්සේලාට ඒ හැකියාව නෑ. යම් කිසි ආකාරයකට අනුමාන කරල දුන්නත් එහෙම එල්ල කරලම දෙන්න හැකියාවක් නෑ. ඒ නිසා පොදුවේ තමන්ගෙ නැණ නුවණට ගෝචර වෙන කර්මස්ථාන ලබා දුන්නම, තම තමන්ට වඩාත් හොඳින් වැඩෙන පහසු කර්මස්ථාන තෝරගන්න කාලයක් යනකොට පුළුවන්කම ලැබෙනවා.

කාලයක් තිස්සේ යටපත් වෙලා තිබ්බ්ච නිවන් දකින දහම් මග දැන් නැවතත් මතුවෙලා තියෙන නිසා, මේ බණ දහම් අහල කමටහන් වඩන ගිහි පැවිදි පින්වතුන් මේ කාලයේ බොහෝකොටම දකින්න පුළුවන්. අන්න ඒ වගේ පින්වතුන් සඳහා වැදගත් වෙන කමටහන් සහිත ලිපි පෙලක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ.

එතනදිත් කාලයක් තිස්සේ මේ කමටහන් වඩල තියෙන පිංවතුන්ට නම් මේ සමහර කමටහන් හොඳින් මතක තියෙන නිසා නැවත දැනගන්න අවශ්‍යතාවයක් නැති වෙන්න පුළුවන්. නමුත් මුල පටන් යා යුතු නිසා, මේ මාර්ගයට අවතීර්ණ වෙච්ච ආධුනික පින්වතුනුත් ඉන්න නිසා, ඒ සමහර සුලභ කර්මස්ථානත් කෙටියෙන් සඳහන් කරනවා.

ඒ වගේම ආධුනික පින්වතුන් මේ කමටහන් වැඩීම ආරම්භ කරන්න පෙර නමස්කාරය, බුදු ගුණ, සත්බුදු වන්දනා සහ සම්බුද්ධේ අට්ඨ වීසංච..., ජයෝ මුනින්දස්ස..., යේ බ්‍රාහ්මණා වේදගු සබ්බ ධම්මේ... කියන ආරක්ෂක ගාථා ආදිය සජ්ජායනා කරල බුදු, පසේ බුදු, මහ රහත් උත්තමයන් වහන්සේලා මූලික කරගෙන සියලු ලෝක සියලු සත්ත්වයන්ට තමන් අතින් දැන හෝ නොදැන සිද්ධ වෙච්ච සියලු වැරදි ප්‍රමාද දෝස මේ මොහොතේ සාසන ගුණ ඉදිරියේ කමා කරනවා, "මට කමාව ලැබේවා.../ / /" කියල අදිටන් කරල කමා කරන ගාථාවත් සජ්ජායනා කරල කමටහන් වඩන්න ආරම්භ කිරීම වඩාත් සුදුසුයි. තමන් කැමති වෙලාවක් භාවනා කරල අවසන් කරනකොට සතර වරිගයක ඥාතීන් ඇතුළු අනන්ත සංසාරයේ පටන් තමන් අතින් අවැඩ අසාධාරණවලට ලක් වෙච්ච අය කමා කරල සියලු ලෝක සියලු සත්ත්වයින්ට පිං අනුමෝදන් කරන්න ඕන.

1. <u>දස දිසාවට මෙත් වැඩීම</u>

පෙරදිග වසන සත්ත්වයෝද<br>පෙර අනුදිග වසන සත්ත්වයෝද

දකුණුදිග වසන සත්ත්වයෝද<br>දකුණු අනුදිග වසන සත්ත්වයෝද

පසුදිග වසන සත්ත්වයෝද<br>පසු අනුදිග වසන සත්ත්වයෝද

උතුරුදිග වසන සත්ත්වයෝද<br>උතුරු අනුදිග වසන සත්ත්වයෝද

යටදිග වසන සත්ත්වයෝද<br>උඩදිග වසන සත්ත්වයෝද

මේ මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ

සංසාර දුකින් මිදෙත්වා<br>සංසාර රෝගයෙන් මිදෙත්වා<br>සංසාර භයෙන් මිදෙත්වා<br>සංසාර ගින්නෙන් මිදෙත්වා<br>සංසාර දාහයෙන් මිදෙත්වා<br>සංසාර ශෝකයෙන් මිදෙත්වා<br>සංසාර රාගයෙන් මිදෙත්වා<br>සංසාර බැම්මෙන් මිදෙත්වා<br>සංසාර සයුරෙන් මිදෙත්වා<br>සංසාර කතරෙන් මිදෙත්වා<br>සංසාර අඳුරෙන් මිදෙත්වා<br>නිවන් සුවයෙන් සුවපත් වෙත්වා<br>නිවන් සුවයෙන් සුවපත් වෙත්වා<br>නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

(මේ පිළිබඳව වැඩිදුර විස්තර "ආර්ය මෛත්‍රී භාවනාවෙන් ලබන සැනසීම" නම් පොතේ සඳහන් වෙනවා)



2. මේ සසර පැවැත්මක් වන්නේද
මහා දුක් කඳ වන්නේය.

මේ සසර පැවැත්මක් නොවන්නේද
මහා දුක් කඳ නොවන්නේය.

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
මහා දුක් කඳ දෙවන සසරින්
මිදෙත්වා.

මේ සසර පැවැත්මක් වන්නේද
මහා රෝග කඳ වන්නේය.

මේ සසර පැවැත්මක් නොවන්නේද
මහා රෝග කඳ නොවන්නේය.

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
මහා රෝග කඳ දෙවන සසරින්
මිදෙත්වා.

මේ සසර පැවැත්මක් වන්නේද
මහා ජරා කඳ වන්නේය.

මේ සසර පැවැත්මක් නොවන්නේද
මහා ජරා කඳ නොවන්නේය.

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
මහා ජරා කඳ දෙවන සසරින්
මිදෙත්වා.

මේ සසර පැවැත්මක් වන්නේද
මහා ව්‍යාධි කඳ වන්නේය.

මේ සසර පැවැත්මක් නොවන්නේද
මහා ව්‍යාධි කඳ නොවන්නේය.

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
මහා ව්‍යාධි කඳ දෙවන සසරින්
මිදෙත්වා.

මේ සසර පැවැත්මක් වන්නේද
මහා මරණ කඳ වන්නේය.

මේ සසර පැවැත්මක් නොවන්නේද
මහා මරණ කඳ නොවන්නේය.

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
මහා මරණ කඳ දෙවන සසරින්
මිදෙත්වා.

මේ සසර පැවැත්මක් වන්නේද
මහා භය කඳ වන්නේය.

මේ සසර පැවැත්මක් නොවන්නේද
මහා භය කඳ නොවන්නේය.

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
මහා භය කඳ දෙවන සසරින්
මිදෙත්වා.

මේ සසර පැවැත්මක් වන්නේද
මහා හද ගිනි කඳ වන්නේය.

මේ සසර පැවැත්මක් නොවන්නේද
මහා හද ගිනි කඳ නොවන්නේය.

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
මහා හද ගිනි කඳ දෙවන සසරින්
මිදෙත්වා.

මේ සසර පැවැත්මක් වන්නේද
මහා දාහ ගිනි කඳ වන්නේය.

මේ සසර පැවැත්මක් නොවන්නේද
මහා දාහ ගිනි කඳ නොවන්නේය.

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
මහා දාහ ගිනි කඳ දෙවන සසරින්
මිදෙත්වා.

මේ සසර පැවැත්මක් වන්නේද
මහා ශෝක ගිනි කඳ වන්නේය.

මේ සසර පැවැත්මක් නොවන්නේද
මහා ශෝක ගිනි කඳ නොවන්නේය.

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
මහා ශෝක ගිනි කඳ දෙවන සසරින්
මිදෙත්වා.

මේ සසර පැවැත්මක් වන්නේද මහා
රාග ගිනි කඳ වන්නේය.

මේ සසර පැවැත්මක් නොවන්නේද
මහා රාග ගිනි කඳ නොවන්නේය.

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
මහා රාග ගිනි කඳ දෙවන සසරින්
මිදෙත්වා.

මේ සසර පැවැත්මක් වන්නේද
මහා බැඳුනු බැමි වන්නේය.

මේ සසර පැවැත්මක් නොවන්නේද
මහා බැඳුනු බැමි නොවන්නේය.

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
මහා බැඳුනු බැමි දෙවන සසරින්
මිදෙත්වා.

මේ සසර පැවැත්මක් වන්නේද
අනන්ත දුක් ගිනි කඳ වන්නේය.

මේ සසර පැවැත්මක් නොවන්නේද
අනන්ත දුක් ගිනි කඳ නොවන්නේය.

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
අනන්ත දුක් ගිනි කඳ දෙවන සසරින්
මිදෙත්වා.

(වැඩිදුර විස්තර සඳහා “ආර්ය මෛත්‍රී භාවනාවෙන් ලබන සැනසීම” නම් පොත බලන්න)

මේ වටිනා කමටහන් මතු කරල දුන්න කල්‍යාණ මිත්‍රයා තමයි වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ. උන්වහන්සේ පැවිදි වෙන්නත් පෙර අබේරත්න උපාසක මහත්තය නමින් ගිහි වතක ඉඳෙද්දිම මේ වගේ කමටහන් මතු කරල දීම සමාධි භාවනා ඔස්සේ සිද්ධ කළා.

ඒ වගේම මේ හැම කමටහනකටම නිධාන වෙච්ච කතාවක් තියෙනවා. ඒ කියන්නෙ, හේතු ඵල දහම අනුව යම් කිසි සිද්ධියක් මුල් කරගෙනම තමයි මේ වගේ කමටහනක් නැගිල එන්නෙ. අන්න එහෙම හේතු වෙච්ච නිධාන කතාත් සමහර කමටහන් සම්බන්ධයෙන් දැනගන්න ලැබුණා. මේ විස්තර බොහොමයක් අපට ලබා දුන්නෙ, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේව සැහෙන කාලයක පටන් ළඟින් ඇසුරු කරපු තවත් ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ නමක්. උන්වහන්සේ තමන් වහන්සේට මතකයේ තියෙන නිධාන කතා කිහිපයකුත් හෙළිදරව් කළ නිසා පිංවතුන්ගේ දැනගැනීම පිණිස ඒ කාරණාත් මෙහිලා සටහන් කරනවා.

දවසක් අබේරත්න උපාසක මහත්තය තවත් කිහිප දෙනෙක් එක්ක මම වැඩ ඉන්න ආරණ්‍ය සේනාසනයට ආවා. එදා මට තරමක් අවිවේකී දවසක් වුනත් කල්‍යාණ මිත්‍ර උතුමෙක්ගෙ පැමිණීම නිසා මමත් සතුටට පත් වුනා. එතුමත් සමග කතාබහ කරමින් ආරණ්‍ය සේනාසනයේ තැන් තැන්වල තියෙන භාවනා කුටි ආදියත්, ඓතිහාසික බෝධීන් වහන්සේලා සහ ධාතු මන්දිරයත් පෙන්වල අවසානයේ මම ඉන්න කුටියෙ තමයි කතාබහ කළේ.

එතනදි අබේරත්න උපාසක මහත්තය කියනවා, ස්වාමීන් වහන්සේට බොහොම ඉඩකඩ තියෙන ආරාමයක් තියෙනවා, සමාධි වඩන්න හොඳ පරිසරයක් කියල. මෙහෙම කියනකොට ඒ අසළම හිටියා, මේ ආරණ්‍ය සේනාසනයේම නේවාසිකව භාවනායෝගීව හිටපු උපාසක මහත්තයෙක්. ඔහු කිව්වා, ඔව් මහත්තයා බොහොම හොඳ විහාරස්ථානයක් තමයි, ඒ වුනත් මේ ළඟපාතම කළු ගල් කැඩීම තමයි තරමක් බාධාවකට තියෙන්නෙ කියල. එතකොට අබේරත්න උපාසක මහත්තය අහනවා, ඒ අය කළුගල් කඩන්නෙ කොහෙද, දවල් කාලයේ විතරද නැත්නම් රාත්‍රී කාලයෙත් කළු ගල් කඩනවද කියල. එතකොට මේ උපාසක මහත්තය කියනවා, කළුගල් කැඩීම නම් කරන්නෙ දවල් කාලයේ විතරයි, ඒ වුනාට බෝර දාල පුපුර වනකොට ඒ කැබලි කුටි ගෙවල්වල වහලවල් මතට පවා වැටෙනවා කියල. එතකොට අබේරත්න උපාසක මහත්තය කියනවා, දවල්ට කළුගල් කඩනව නම් රාත්‍රී කාලයේ භාවනා කරන්න පුළුවන්නෙ කියල. ඊට පස්සෙ අහනවා, කළු ගල් කැබලි පන්සල් වත්ත පුරාම වැටෙනවද, අර පහල බෝධිය තියෙන පැත්තෙ පාරෙ එන අතරමග තිබ්බව කළු ගල් තලාව තියෙන ප්‍රදේශයත් පන්සලටද අයිති, ඒ පැත්තටත් කළු ගල් කැබලි වැටෙනවද කියල.

එතකොට උපාසක මහත්තය කියනවා, නෑ ඒ පැත්තට නම් කළු ගල් කැබලි වැටෙන්නෙ නෑ, මේ කුටි ගෙවල් තියෙන පැත්තට, ගොඩනැගිලි තියෙන පැත්තට තමයි කළු ගල් කැබලි වැටෙන්නෙ කියල. එතකොට අබේරත්න උපාසක මහත්තය මේ විදිහට දිග කරුණු පැහැදිලි කිරීමක් කරනවා.

ඉතින් පන්සලට එන පාර පැත්තට ගල් කැබලි වැටෙන්නෙ නැත්නම් ඒ පැත්තෙන් වාඩිවෙලා භාවනා කරන්න පුළුවන්නෙ. දවල්ට කළු ගල් කැබලි වැටෙනව නම් රාත්‍රී කාලයට භාවනා කරන්න පුළුවන්නෙ. දවල්ට කළුගල් කැබලි වැටෙන්නෙ නැති පැත්තෙ ඉන්න, රෑට කුටිගෙවල් පැත්තෙ ඉන්න. අපිට කරදර කරන අය ඉන්නෙ අපි ළඟද, එහෙම නැත්නම් පිට පළාතකද කියල හිතන්න ඕන. අර පහල පැත්තෙ කොහෙන් හරි ගහක් ගලක් ආසන්නයේ වාඩිවෙලා භාවනා කරනකොට ගල් බෝර 100 ක් දැම්මත් අපිට බාධා කරන්න පුළුවන්ද? පිට අයට එහෙම මුකුත් කරන්න බෑ. අපි හිතාගෙන ඉන්නෙ පිට අය තමයි අපිට බාධා කරන්නෙ, හතුරුකම් කරන්නෙ කියල. නමුත් ඒක වැරදියි. **අපිට හතුරුකම් කරන්නෙ අපි ළඟ ඉන්න අයමයි. ඒ වුනාට අපි ඒක දන්නෙ නෑ. ඒ ගැන හිතන්නෙ නෑ.** හිතල බලන්න, අපි භාවනාවට වාඩි වුනාම බැරිවෙලා හරි වතුර පිපාසයක් ආවොත් අපිට ඒක අමතක කරල ඉන්න පුළුවන්ද? බඩගින්නක් ආවොත්, මුත්‍රා කරන්න අවශ්‍යතාවයක් ආවොත්, මලපහ කරන්න අවශ්‍යතාවයක් ඇතිවුනොත් අපිට නිහඬව භාවනා කරන්න පුළුවන්ද? අපි ඒ වගේ අවශ්‍යතාවයක් ඇති වුනාම සියලු සත්ත්වයෝ සංසාර දුකෙන් මිදෙත්වා කිව්වම හරියයිද? අපේ ඒ අවශ්‍යතාවයන් විසඳ ගන්න පුළුවන්ද? බෑ නේද? අපි ඒ වෙලාවට කැමැත්තෙන් හෝ අකමැත්තෙන් හෝ එතනින් නැගිටල ගිහින් අපේ ඒ අවශ්‍යතාවයන් විසඳගත යුතුයි. එහෙම නැත්නම් ඉන්න හිටින්න බෑ. එතකොට දැන් තේරෙනවද හතුරො ඉන්නෙ, කරදරකාරයො ඉන්නෙ තමන් ළඟද, එහෙම නැත්නම් පිට තැන්වලද කියල.

මෙහෙම කියල අබේරත්න උපාසක මහත්තය මේ විදිහට තවත් විස්තර කළා. අපි හතුරො ගණනාවක්ම ළඟම තියාගෙන මිතුරන් හැටියට හිතාගෙන ඔවුන්ට නිතරම සළකනවා. ඒ අය නහවනවා. සුද්ද පවිත්‍ර කරනවා. සුවඳ විලවුන් ගල්වනවා. නොයෙක් නොයෙක් ඇඳුම් පැළඳුම්වලින් සරසනවා. ඉල්ලන ඉල්ලන දේ ගෙනත් දෙනවා. මේ විදිහට මොන තරම් සැළකුවත් කිසිම දවසක ඔවුන්ට ඇතිවීමක් ඇත්තෙත් නෑ. ඒ අයගෙන් හොඳක් අහන්නත් බෑ. ඒ තමයි ඇස, කන, නාසය, දිව, ශරීරය, මන. මොවුන් තමයි අපි ළඟම ඉන්න හතුරො. ඕක දන්නෙ නැති අය කියනවා, අල්ලපු වැටේ ඉන්න මිනිස්සු තමයි, අල්ලපු ගමේ ඉන්න මිනිස්සු තමයි අපේ හතුරො කියල. ඉතින් මොනව කරන්නද? හතුරො පිළිබඳව හරියට දන්නෙ නෑ. මේ විදිහට අපිට දුක දෙන්නෙ අපි ළඟ ඉන්න අය මිසක් පිට අය නෙවෙයි. මෙහෙම කියල, දුක - සැප සහ සැපේ දුක පිළිබඳවත් දීර්ඝ විස්තරයක් කරල, ආර්ය විනයේ දුක හඳුනගන්න ඕන, ලෝකයා දකින දුක හඳුනගන්න ඕන කියල මේ විදිහට තවත් කරුණු කාරණා පැහැදිලි කළා. **ලෝක සත්ත්වයා, පංචකාම සම්පත්තියට යමක් බාධා නම් ඒ සියල්ල දුක හැටියට සළකනවා. පංචකාම සම්පත්තිය සැප හැටියට සළකනවා. පංචකාම සම්පත්තියේ දුක දකින එක තමයි ආර්ය විනයේ දුක්ඛ ආර්ය සත්‍ය හැටියට සළකන්නෙ.**

මේ විදිහට දීර්ඝ වශයෙන් කරුණු පැහැදිලි කරල දෙන අතරම, මේ ළඟදි මට සමාධියෙන් විශේෂ ආර්ය මෛත්‍රී කර්මස්ථානයක් ලැබුනා, මේ පළවෙනි වතාවට තමයි විස්තර කරන්නෙ කියල, අපිට මේ විදිහෙ විශේෂ දහම් අදහසකින් යුක්ත ආර්ය මෛත්‍රී කර්මස්ථානයක් ලබා දුන්නා.

අපි දීර්ඝ කාලයක් තිස්සෙ කරගෙන ආපු කර්මස්ථානයක් තමයි,

මම නිදුක් වෙම්වා
නිරෝගි වෙම්වා
සුවපත් වෙම්වා
දුකින් මිදෙම්වා

කියන කර්මස්ථානය. නමුත් මේ වෙනකොට මේ කර්මස්ථානය ලෞකික අදහසකින් අරගෙන තමයි භාවනා කරන්නෙ. මේකෙ ආර්ය අදහස තමයි මට සමාධියෙන් ලැබුනෙ. මේ කර්මස්ථානයේ ආර්ය අර්ථය මේ විදිහට දැනගෙන කර්මස්ථානයක් හැටියට වැඩිය යුතුයි කියල අපිට කරුණු පැහැදිලි කළා.

නිදුක් වෙත්වා කියන්නෙ, ලෞකික වශයෙන් දකින්න තියෙන දුකෙන් නිදහස් වෙත්වා කියන එක නෙවෙයි. මේ ලෝකයේ තියෙන භයානකම දුක තමයි සතර අපා දුක. නිදුක් වෙත්වා කියනකොට සතර අපා දුකින් නිදහස් වෙත්වා කියන අදහස එන්න ඕන. සතර අපා දුකෙන් යම් කෙනෙක් නිදහස් වෙන්නෙ සෝතාපන්න වුනොත් විතරයි. ඒ නිසා මේ කර්මස්ථානය වඩනකොට සෝතාපන්න වෙත්වා කියන අදහස එන්න ඕන.

නිරෝගි වෙත්වා කියනකොට සාමාන්‍ය ලෝකයාට අදහස් එන්නෙ කායික රෝගයන්ගෙන් නිරෝගි වෙත්වා කියල. නමුත් එහෙම බෑ. ආර්ය මාර්ගය අනුගමනය කරන අය නිරෝගි වෙත්වා කියනකොට රූප කාම, ශබ්ද කාම, ගන්ධ කාම, රස කාම, පොට්ඨබ්බ කාම, ධර්ම කාම කියන මේ කාම රෝගයෙන් නිරෝගි වෙත්වා කියන අදහස ඇතිවෙන්න ඕන. කාම රෝගයෙන් නිරෝගි වෙන්නෙ යම් කෙනෙක් සකදාගාමී වුනොත් විතරයි. ඒ නිසා නිරෝගි වෙත්වා කියනකොට සකදාගාමී වෙත්වා කියන අදහස ඇති වෙන්න ඕන.

සුවපත් වෙත්වා කියනකොට ආර්ය විනයේ සුවය දකින්න ඕන. සාමාන්‍ය ලෝකයාගේ අදහස නම් කාල බීල සතුටින් සන්තෝසයෙන් ඉන්න ලැබෙත්වා කියන ලෞකික අදහස. එහෙම බෑ. හැබෑ සුවය ලැබෙන්න නම් කාම ලෝකයත් එක්ක තියෙන සම්පූර්ණ සම්බන්ධය සහමුලින්ම දුරු වෙන්න ඕන. එහෙනම් අනාගාමී වෙන්න ඕන. ඒ නිසා සුවපත් වෙත්වා කියල අදහස ගන්නකොට අනාගාමී වෙත්වා කියන අදහස ඇති වෙන්න ඕන.

දුකෙන් මිදෙත්වා කියනකොට ආර්ය විනයේ දුක දකින්න ඕන. **ලෝකයේ යම් තැනක පැවැත්මක් ඇත්නම් ඒක දුකක් හැටියට පෙන්වල තියෙනවා.** එහෙනම් අනාගාමී වෙලා සුද්ධාවාස බඹ තලයට ගියත් ඒකෙත් පැවැත්මක් තියෙන නිසා සහමුලින්ම සියල්ලෙන්ම නිදහස් වෙන්න ඕන. එහෙනම් දුකෙන් මිදෙත්වා කියනකොට ආර්ය මාර්ගය පූර්ණ කරන අයට අර්හත්වය ලැබෙත්වා කියන අදහස ඇතිවෙන්න ඕන. ඒ නිසා

නිදුක් වෙත්වා
නිරෝගි වෙත්වා
සුවපත් වෙත්වා
දුකින් මිදෙත්වා

කියනකොට ආර්ය මාර්ගය අනුගමනය කරන අයට

සෝතාපන්න වෙත්වා
සකදාගාමී වෙත්වා
අනාගාමී වෙත්වා
අරිහත් වෙත්වා

කියන අදහස ඇති වෙන්න ඕන. මේ සැනසීම මටත් සියලු දෙනාටමත් එක සේ වෙත්වා කියන අදහසින් මේ විදිහට භාවනාවට ගන්න පුළුවන් කියල අබේරත්න උපාසක මහත්තය අපිට උපදෙස් දීල කර්මස්ථාන ලබා දුන්නා.

මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ

සුවපත් වෙත්වා...

මේ විදිහට නිවන් දකින ආර්ය අදහසින් යුක්ත විශේෂ ආර්ය මෛත්‍රී කර්මස්ථානවල ආර්ය අදහස යටපත් වෙලා කාලයක් තිබිල, දැන් නැවතත් ඒ අතීතයේ තිබුන ආර්ය අදහස මතුවෙලා තියෙන නිසා, මේ අර්ථය කිහිප වරක්ම නුවණින් විමසල බලල තේරුම් අරගෙන වඩන්න කියලත්, මෛත්‍රී භාවනාවෙන් කියන ලද ආනිසංස නොඅඩුව ලබන්න පුළුවන් බවත් අබේරත්න උපාසක මහත්තය තවදුරටත් පැහැදිලි කළා.

ආර්ය අදහස මතු වෙච්ච අළුත නිසා මේ කර්මස්ථානය මේ විදිහටම කාලයක් ප්‍රගුණ කරල, කාලයාගේ ඇවෑමෙන් ආර්ය අදහස හිතට කා වැදුනට පස්සෙ, ක්‍රමානුකූලව කර්මස්ථාන වාක්‍ය අඩු කරගෙන ඇවිත් "සුවපත් වෙත්වා" කියන වාක්‍යය විතරක් ගත්තත් ප්‍රමාණවත්.

අතීතයේ ආර්ය අදහස දැනගෙන තිබුන යුගයේ භික්ෂූන් වහන්සේලා පවා හැම අවස්ථාවකම භාවිතා කළ වචනයක් තමයි සුවපත් වෙත්වා කියන වචනය. ඒ කියන්නෙ නිවන් සුවයෙන් සුවපත් වෙත්වා කියන අදහසින් තමයි එදා භාවිතා කරල තියෙන්නෙ. අද වෙනකොට දහම් අදහස යටපත් වුනත් හැමදෙනාම කියනවා, සුවපත් වේවා කියල. නමුත් කියපු කෙනාවත් දන්නෙ නෑ සුවපත් වෙන විදිහ. අද ඉඳල නැවතත් මේ විශේෂ දහම් අදහස මතු වුන නිසා තවත් කාලයක් ඉදිරියට ගියාට පස්සෙ දහම් අදහස සමාජය තුල දැනුවත් වුනාම, එදා අතීතයේ වගේම සුවපත් වෙත්වා කියන තනි වාක්‍යයත් නිවන් අවබෝධ කරගන්න ප්‍රමාණවත්. මේ විදිහට කියල දීර්ඝ ධර්ම දේශනාවක් සහ විශේෂ ආර්ය මෛත්‍රී කර්මස්ථාන කිහිපයක් පැහැදිලි කරල දීල තමයි අපි ඉන්න ආරණ්‍ය සේනාසනයෙන් එදා අබේරත්න උපාසක මහත්තය පිටත් වුනේ.

3. මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
   සෝතාපන්න වෙත්වා
   සකදාගාමී වෙත්වා
   අනාගාමී වෙත්වා
   අරිහත් වෙත්වා

4. මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
   සෝවාන් ඵලයෙන් නිදුක් වෙත්වා.
   සකදාගාමී ඵලයෙන් නිරෝගී වෙත්වා.
   අනාගාමී ඵලයෙන් සුවපත් වෙත්වා.
   අරිහත් ඵලයෙන් දුකින් මිදෙත්වා

5. මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
   නිදුක් වෙත්වා
   නිරෝගී වෙත්වා
   සුවපත් වෙත්වා
   දුකින් මිදෙත්වා

6. මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
   නිවන් සුවයෙන් සුවපත් වෙත්වා

7. මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
   සුවපත් වෙත්වා.

8. සුවපත් වෙත්වා.

9. සම්මා සම්බුද්ධ සරණයි
   සියලු ලෝක සියලු සත්ත්වයෝ
   නිදුක් වෙත්වා
   නිරෝගී වෙත්වා
   සුවපත් වෙත්වා
   දුකින් මිදෙත්වා

10. සම්මා සම්බුදු සරණයි
    සෝවාන් ඵලයෙන් නිදුක් වෙත්වා
    සකදාගාමී ඵලයෙන් නිරෝගී වෙත්වා
    අනාගාමී ඵලයෙන් සුවපත් වෙත්වා
    අරිහත් ඵලයෙන් දුකින් මිදෙත්වා

11. සම්මා තිසරණ සරණයි
    සියලු ලෝක සියලු සත්ත්වයෝ
    නිදුක් වෙත්වා
    නිරෝගී වෙත්වා
    සුවපත් වෙත්වා
    දුකින් මිදෙත්වා
    නිවන් දකිත්වා

12. සම්මා සම්බුදු සරණයි
    මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
    සියලු වින දෝසාන්ධකාරවලින්
    නිරෝධ වෙත්වා
    නිදුක් වෙත්වා
    නිරෝගී වෙත්වා
    සුවපත් වෙත්වා
    දුකින් මිදෙත්වා

13. සම්මා සම්බුදු සරණයි
    සියලු ලෝක සියලු සත්ත්වයෝ
    නිදුක් වෙමින්
    නිරෝගී වෙමින්
    සුවපත් වෙමින්
    දුකින් මිදෙමින්
    සඥ්ඩිවිධ වෙත්වා

14. සම්මා සම්බුදු සරණයි
    සියලු වින බන්ධන සුනු විසුනු වෙත්වා
    සියල්ලෝ
    නිදුක් වෙත්වා
    නිරෝගී වෙත්වා
    සුවපත් වෙත්වා
    දුකින් මිදෙත්වා

15. සැමට සියලු පාපයෝ
    නිරෝධ වෙත්වා
    නිදුක් වෙත්වා
    නිරෝගී වෙත්වා
    සුවපත් වෙත්වා
    දුකින් මිදෙත්වා

16. මමද සියලු ලෝක සියලු සත්ත්වයෝ
    කෙරෙහි
    නිදුක් වෙත්වා
    නිරෝගී වෙත්වා
    සුවපත් වෙත්වා
    නිවන් දකිත්වා
    අවිද්‍යා භව නිරෝධ වෙත්වා

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

## පින්වතුන්ගේ දැන ගැනීම පිණිසයි.

දැනට වෙළඳපොළේ මුද්‍රණ කඩදාසි ඇතුළු ඒ හා ආශ්‍රිත නිෂ්පාදනවල මිල ගණන් ඉතා ඉහළ ගොස් ඇති බැවින් මෑතක සිට හෙළ බොදු පියුම දහම් සඟරාවේ මුද්‍රණ පිරිවැයද අසාමාන්‍ය ලෙස වැඩි වී ඇත. ඒ හා සමගාමීව පසුගිය කලාපවල නැවත මුද්‍රණ වියදම්ද ඉහළ ගොස් ඇත. මේ දක්වා එළි දක්වන ලද සියළුම සඟරා කලාපද ලබා ගැනීමට හැකිවන අයුරින් නැවත මුද්‍රණය කර ඒ සඳහා වෙනම සඟරා ගබඩාවක්ද පවත්වාගෙන යෑම සිදු කරන බැවින් සමස්ත වියදම වැඩි වී ඇත. එහෙත් මෙම සඟරාව කිසිදු මූල්‍යමය ලාභයක් බලාපොරොත්තුවෙන් කරන්නක් නොවන නිසාත්, පින්වතුන් ලබාදෙන මූල්‍ය පුණ්‍යාධාර නිසාත් තවත් හැකිතාක් කාලයක් රු. 25/= මිලකට ලබා දීමට තීරණය කර ඇත.



# සසර ගමන එතරම්ම බියකරුය... 03 කොටස

සතර අපායෙන් තුන්වැන්න තමයි ප්‍රේත ලෝකය. මේ කියන ප්‍රේතයන් ගත්තම වෙන් වෙන් වශයෙන් උපදින ලෝක ඒ අයට නෑ. මේ මිනිස් ලෝකයේම පෘථිවිය ඇසුරේ ඔවුන්ගෙ උප්පත්තිය සිද්ධ වෙනවා. නිජ්ඣාමතණ්හික, ඛුප්පිපාසික, පාංශු පිසාච, පරදත්තුපජීවි කියල ප්‍රධාන ප්‍රේත කොටස් 4 ක් ඉන්නවා. හැබැයි මෙතනදි පරදත්තුපජීවි කියන්නෙ සතර අපාගත කොට්ඨාසයක් නෙවෙයි. මියගිහින් මනුස්ස ගන්ධබ්බ වශයෙන් ඉන්න ඥාති ප්‍රේත කොටසක්. ඊට අමතරව තවත් ප්‍රේත කොටස් 12 ක් ඉන්න බවත් ඇතැම් විස්තරවල සඳහන් වෙනවා.

1. වන්තාස -
   සෙම් සොටු ආහාරයට ගන්න අය
2. කුණපාස -
   මිනිස් හා සත්ත්ව මළ කුණු ආහාරයට ගන්න අය
3. ගූථ ඛාදක -
   අසූචි ආහාරයට ගන්න අය
4. අග්නිජාල මුඛ -
   මුඛයෙන් ගිනිදැල් පිටවෙන අය
5. සූචිමුඛ -
   බඩ ඉතා විසාල, මුඛය ඉඳිකටු සිදුරක් තරම් අය
6. තණ්හාට්ටක -
   ආහාරපාන පිළිබඳව දැඩි ආසාව තියෙන, නමුත් කිසිදාක සා පිපාසා සංසිඳෙන්නෙ නැති අය
7. සුනිජ්ජාමක -
   වේළී ගිය ශරීරවලින් යුතු අය
8. සත්ථංග -
   ඉතා තියුනු ස්වකීය දත්, නිය... ආදියෙන් තම ශරීරය කැපීමෙන් නිතර පීඩා විඳින අය
9. පබ්බතංග -
   විසාල පර්වත වගේ ශරීර ඇති අය
10. අජගරංග -
    පිඹුරන්ගේ වැනි ශරීර ඇති අය
11. වේමානික -
    විමානවල ඉපදිලා සැප දුක් දෙකම විඳින අය
12. මහිද්ධික -
    කැලෑවල වසන මහත් සෘද්ධි බල තියෙන භූමාටු නමින් හැඳින්වෙන කොටස්

ඇතැම් ප්‍රේතයන්ගේ ආයුස නිරයේ ආයුසටත් වඩා වැඩියි. තිරෝකුඩ්ඩ සූත්‍ර අටුවාවේ සඳහන් වෙන ආකාරයට, බිම්බිසාර රජතුමාට හීනෙන් පෙනී හිටපු ඥාතීන් බුද්ධාන්තර 4 ක් තිස්සේ සංසයාට සකස් කරපු දන්වැට කාල අප්‍රමාණ දුක් විඳල තියෙනවා. බුද්ධාන්තර 4 ක් කියන්නෙ අවීචියේ ආයුස වගේ කීප ගුණයකින් වැඩියි.

ඛු. නි. පේතවත්ථු වර්ණනාවේ එන පනහකට අධික වූ ප්‍රේතයන් පිළිබඳ කතා වත්ථුවලින් ප්‍රේත ලෝකය ගැනත්, ප්‍රේත සත්ත්ව නිකායේ ස්වභාවය ගැනත්, ප්‍රේතව ඉපදෙන්න හේතු වෙන අකුසල කර්ම ගැනත් සඳහන් වෙනවා.

ප්‍රේතයන්ගේ කතා වත්ථුවලින් වැඩි හරියක්ම දකින්න ලැබෙන්නෙ, ඔවුන් විසින් කළ අකුසලයන්ට විපාක වශයෙන් නිරයේ ඉපදිලා එයින් ශේෂ වෙච්ච අකුසල විපාක වශයෙන් ප්‍රේත ලෝකයේ ඉපදුන බව. හරකුන්, එළුවන්, ඌරන්, මුවන්, ලිහිණියන්... ආදී සතුන්ට හිංසා පීඩා කරල, එකිනෙකා බිඳවන්න කේළම් කියල, අධික අය බදු අරගෙන, පරදාර කර්ම කරල, පරපුරුෂ සේවනවල යෙදිල, සිල්වතුන්ට බැන වැදිල, නින්දා අපහාස කරල, හිංගි හිංසා කරල, අනුන්ට ලැබෙන ලාභ වළක්වල, දුස්සීලව ඉඳල, මසුරුව කටයුතු කරල, නැදිමයිලන්ට, ගුරුවරුන්ට නින්දා අපහාස කරල නරකයේ ඉපදිලා, එයින් චුත වෙලා ප්‍රේතව උප්පත්තිය ලබල දුක් විඳපු නොයෙක් ප්‍රේතයන් පිළිබඳ කතා ත්‍රිපිටකයේ සඳහන් වෙනවා.

එක්තරා භික්ෂූන් වහන්සේ නමක් ගංගා තීරයක දිවා විහරණයෙන් වැඩ සිටියා. එක්තරා ප්‍රේතියක් මේ භික්ෂූන් වහන්සේ ළඟට ඇවිත්, ස්වාමීනි මම මියගිය දවසෙ ඉඳල අවුරුදු පනස් පහක් තිස්සේ කෑමක් බීමක් නැතිව සා පිපාසාවෙන් දුක් විඳිනවා, මට බොන්න පැන් ටිකක් දෙන්න කියල ඉල්ලා සිටියා. සිසිල් දියෙන් පිරුනු මේ ගංගාව තියෙන්නෙ, මේකෙන් පැන්

බොන්න කියල උන්වහන්සේ කිව්වා. එතකොට මේ ප්‍රේතිය කියනවා, ස්වාමීනි පැන් බොන්න ගඟට බැස්සම මේ ජලය ලේ බවට පත් වෙනවා, මට පැන් බොන්න හම්බ වෙන්නෙ නෑ කියල.

ඔබ මොන විදිහෙ පාපයක් කරලද ඔය වගේ තත්ත්වයක් උදා වුනේ කියල ඇහුවම, මේ ප්‍රේතිය මේ විදිහට උත්තර දෙනවා. ස්වාමීනි, මම මනුස්ස ලෝකෙ ඉන්නකොට මට උත්තර කියල පුතෙක් හිටියා. ඔහු හරිම ශ්‍රද්ධාවන්ත කෙනෙක්. භික්ෂූන් වහන්සේලාට සිවුපසයෙන් ඇප උපස්ථාන කළා. මගේ තිබ්බ්ච මසුරුකම නිසා ඒවා කරනවට මම ඔහුට බැන වැදුනා. මගේ අකමැත්ත තියෙද්දි භික්ෂූන්ට සිවුරු, පිණ්ඩපාත, ගිලන්පස, සේනාසන කියන සිවුපසය දෙනව නම් ඔබට පරලොවදි ඒවා ලේ බවට හැරෙන්න ඕන කියල මම කිව්වා. මේ විදිහට කරගත්ත පව්කම් නිසා මට අද පිපාසයට වතුර ටිකක්වත් බොන්න බෑ. ඒවා ලේ බවට හැරෙනවා. (<u>බු. නි. උත්තරමාතා පේතවත්ථුව</u>)

තවත් එක්තරා භික්ෂූන් වහන්සේ නමක් විරූප වෙච්ච, දුර්ගන්ධය හමන, අවට මැස්සො වහන ප්‍රේතියක් දැකල ඔබ කවුද කියල ඇහුවම, ඒ ප්‍රේතිය මෙහෙම කතාවක් කියනවා. ස්වාමීනි, මම මහත් දුකට පත් වෙච්ච ප්‍රේතියක්, පව්කම් කරල ප්‍රේත ලෝකයේ ඉපදුනා. උදේ වරුවෙ පුතුන් හත් දෙනෙක් බිහි කරනවා. හවස් වරුවෙත් පුතුන් හත් දෙනෙක් බිහි කරනවා. බිහි වුන සැනින් මම ඒ දරුවන්ව කනවා. නමුත් මගේ බඩගින්නට ඔවුන් ප්‍රමාණවත් නෑ. මගේ හදවත දැවෙනවා. සා පිපාසාවෙන් පෙළෙනවා. හුස්ම ගන්නකොට හිර වෙනවා. මට බොන්න දිය පොදක්වත් නෑ. මට වෙලා තියෙන විපත බලන්න ස්වාමීනි.

ඔබ මේ විදිහට දරුවන් බිහි කරපු හැටියෙම කා දමන්නෙ මොන පාප කර්මයක් කරලද කියල ඇහුවම මෙහෙම උත්තර දෙනවා. මට මනුස්ස ලෝකෙ ඉන්නකොට පිරිපුන් තරුණ පුතුන් දෙන්නෙක් හිටියා. දරු සෙනෙහසින් මත් වෙලා හිටපු මම ස්වාමියා පහත් කොට සැළකුවා. එයින් කෝපයට පත් වුන මගේ සැමියා වෙනත් බිරිඳක් ගෙනාවා. ඇය ගැබ් ගත්තට පස්සෙ මම නපුරු සිතින් ඇගේ ගැබ විනාස කළා. තුන් මාසයක් වයස ගැබ කුණු ලෙයක් විදිහට ඉවත් වුනා.

මේකට කෝප වෙච්ච ඇගේ මව නෑයන් රැස් කරල මාව බය කෙරෙව්වා. මම ඒ ගැබ හෙළීම කළා නම් මම මගේම දරුවන් කන කෙනෙක් වේවා කියල බොරුවට දිවුරුවා. ගැබ හෙළීමේ පාපයත්, බොරුවට දිවුරීමත් නිසා උදේ හවස බිහි කරන දරුවන් කා දමන ප්‍රේතියක් වෙලා ඉපදුනා. බොරුවට දිවුරීමේ භයානකකම මේ කතාවෙන් වැටහෙනවා. (<u>බු. නි. සත්ත පුත්ත ඛාදක ප්‍රේත වස්තුව</u>)

මේ විදිහට නොයෙක් පව්කම් කරල ප්‍රේත ආත්ම ලබල සා පිපාසාදියෙන් පෙළෙමින් අප්‍රමාණ දුක් විඳින කතා රාශියක් ප්‍රේත වස්තුවේ සඳහන් වෙනවා. මේ හැම සිදුවීමකින්ම අපිට පෙන්වල දෙන්නෙ සසර ගමනේ තියෙන අනතුර.

සතර අපායේ ඊළඟ අපාය තමයි අසුර ලෝකය. දේව අසුර, ප්‍රේත අසුර, ලෝකාන්තරික, විනිපාතික, කාලකඤ්ජික, වේමානික වශයෙන් අසුර කොටස් ගණනාවක්ම ඉන්න බව ඒ පිළිබඳ විස්තරවල සඳහන් වෙනවා.

ත්‍රිකූඨය නම් පර්වත තුන මත මහ මෙර පිහිටල තියෙන බව සඳහන් වෙනවා. දෙවියන් සහ අසුරයන් යුද්ධ කරල අසුරයන් මහමෙර පාමුලට වැටිල පරාද වෙච්ච බවත් දෙවියන් ජය ගත්ත බවත් සඳහන් වෙනවා. මහමෙර යට ත්‍රිකූඨ පර්වත අතර දේව අසුරයින් වාසය කරන බව තමයි පැරණි බණ පොත්වල සඳහන් වෙන්නෙ. අනිකුත් අසුර කොටස් ප්‍රේත අසුර ගණයට වැටෙන අමනුස්ස කොට්ඨාසයන්.

සුනක්ඛත්ත නම් භික්ෂුවක් කොරක්කත්ති කියන නිගණ්ඨයෙකුට රැවටිලා, බුදු රජාණන් වහන්සේටත් වඩා ඔහු සිල්වතෙක් ගුණවතෙක් කියල හිතාගෙන හිටියා. ඔය කොරක්කත්ති කියන නිගණ්ඨයා තව දින හතකින් අජීර්ණ රෝගයකින් මියගිහින් කාලකඤ්ජික නම් අසුර ප්‍රේතයෙක් වෙලා ඉපදෙන බව තථාගතයන් වහන්සේ දේශනා කළා. ඒ වගේම ඔහුගේ මෘත ශරීරය බීරනත්තම්බක සොහොනට ගිහින් දමන බවත්, මළ මිනියට තට්ටු කරල ඉපදුනේ කොහෙද කියල ඇහුවම, කාලකඤ්ජික කියන අසුර නිකායේ ඉපදුනා කියල මිනිය කතා කරන බවත් දේශනා කළා. ඒ වදාළ සියලු දේ ඒ විදිහටම සිද්ධ වුන බව ඒ කතා ප්‍රවෘත්තියේ සඳහන් වෙනවා. මේ විදිහට අසුර ලෝකය කියන්නෙත් බොහෝ දුක් පීඩා විඳින අපායක්. සැප දුක් දෙකම විඳින දේව අසුර, වේමානික අසුර කොටසුත් ඉන්නවා.

**මනුස්ස ලෝකයේ ඉන්නකොට තමන්ට තනියෙන් කටයුතු කර ගන්න හොඳට හැකියාව තියෙද්දි, නිකං ඉඳගෙන අනුන් ලවා තමන්ගෙ වැඩ කරවා ගැනීම හොඳ දෙයක් නෙවෙයි. ඒක අසුර ගතියක්. ඇතැම් දරුවන් ලොකු මහත් වෙලා, තමන්ගෙ වැඩ කටයුතු කර ගන්න හැකියාව තියෙද්දිත්, තමන්ගෙ ඇඳුම් ටික හෝද ගන්න එකත් මව්පියන්ගෙන් කරව ගන්නවා. විශේෂයෙන් අම්මලාගෙන් ඒ අයගෙ සියලු කටයුතු කරගන්න අවස්ථා තියෙනවා. තමන්ට කරන්න පුළුවන්කම තියෙද්දි වැඩිහිටියන් ආදීන්ගෙන් කම්මැලිකමට එහෙම වැඩ කරවගන්න එක පාපයක්.**

එක්තරා කාන්තාවක් හිස පීරමින් ඉන්නකොට පනාව බිමට වැටිල තියෙනවා. ළඟ හිටපු භික්ෂුණියකට කියනවා, ඔය පනාව අරගෙන දෙන්න කියල. ඒ භික්ෂුණිය අරිහත්වයට පත්වෙලා හිටපු උත්තමාවියක්. ඒ නිසා ඒ කියපු වචනය පවා බොහොම බරපතල කර්මයක් වුනා. ඒකෙ විපාක වශයෙන් බොහෝ ආත්බැව්වල දිළිඳුව ඉපදිලා අනුන්ට බැල මෙහෙවරකම් කරන්න සිද්ධ වුන බව බණ කතාවක සඳහන් වෙනවා. ඒ පනාව තමන්ට ගන්න පුළුවන්කම තියෙද්දිත්, පහසුවට ඒකත් අනුන් ලවා කරගන්න උත්සාහ කිරීම අසුර ගතියක්. **තමන්ගෙ වැඩ කරගන්න සූර බව තියෙද්දි, අසූරව අනුන් ලවා වැඩ කරවා ගැනීමෙන් විසාල ශරීර ඇතිව, යොදුන් ගණන් විසාලව, කයවත් ඔසව ගන්න බැරි ප්‍රේත අසුරයන් වෙලා ඉපදිලා අප්‍රමාණ දුක් ගැහැට විඳිනවා.**

නිරයේ උපන් සත්ත්වයන් කියන්න බැරි තරම් කටුක තීව්‍ර දුක් විඳිනවා වගේම, අනිකුත් අපායවලත් ඒ ඒ මට්ටමට දුක් වේදනාවන් විඳින්න සිද්ධ වෙනවා. සතර අපායෙන් දෙවෙනි අපාය තමයි තිරිසන් අපාය කියන්නෙ. නිරයේ ඉපදෙන්න තරම් බලවත් පාප කර්ම නැති අය තිරිසන් අපායෙ උපත ලබනවා. අන්ධ වෙලා බාල වෙලා මෝහයෙන්, කළ යුතු නොකළ යුතු දේ නොදැන කරන පව්කම් නිසා තිරිසන් අත්බැව් ලබනවා. නිරයේ උපන් අය අවුරුදු ලක්ෂ ගණන් දුක් විපාක විඳල ශේෂ වෙච්ච පාප හේතුවෙන් තිරිසන් යෝනියේ උපත ලබනවා වගේම, මනුස්සව ඉඳල කරගත්ත පාප කර්මවලට අනුව කෙලින්ම තිරිසන් අත්බැව් ලබන අවස්ථාත් තියෙනවා.



තිරිසන් ලෝකය අනික් ලෝකවලට වඩා හරිම විචිත්‍රයි. පර්වතවල, කඳුවල, ගිරි ගුහාවල, පෘථිවිය මතු පිට වගේම පෘථිවි අභ්‍යන්තරයේ, අභ්‍යවකාශයේ, ජලයේ, මළ මුත්‍රවල... ආදී නොයෙක් තැන්වල ඇහැට පෙනෙන, නොපෙනන කෘමි සත්ත්වයාගේ පටන් යොදුන් සිය ගණන් විසාල තිමිර පිංගල ආදී මසුන් දක්වා අපාද (පාද නැති), ද්වි පාද (පාද 2 ක් ඇති), බහු පාද (බොහෝ පාද ඇති) ඇස් කන් නාස් ආදිය නැති අප්‍රමාණ තිරිසන් සත්ත්වයන් ඉන්නවා.

තිරිසන් සත්තු උපදින වෙනම ලෝකයක් නෑ. මේ මිනිස් ලෝකයේම පෘථිවිය ඇසුරු කරගෙන ගොඩ, දිය, අහස, පස් යට, රුක් සිදුරු තුල නා නා නිකායවලට අයිති තිරිසන්ගත සත්ත්වයෝ වාසය කරනවා. අනික් ලෝකවල සත්ත්වයන් එක්ක බලත්දි තිරිසන් අපාය හරිම විචිත්‍රයි කිව්වෙ අන්න ඒ නිසා.

තිරිසන් සත්තු අතර ක්ෂීරපායී හෙවත් කිරි බීල වැඩෙන සත්ත්වයෝ වශයෙන් ප්‍රධාන කොටසක් ඉන්නවා. ඇතුන්, අසුන්, ගවයන්, එළුවන්, බල්ලන්, බළලුන්... ආදී සිව්පා සත්තුත්, වවුලන් වගේ පියාඹන සත්තුත් ක්ෂීරපායී ගණයට ඇතුලත් වෙනවා. ප්‍රධාන වශයෙන් මව් කුසින් උපදින සත්ත්වයන් බහුතරයක් ක්ෂීරපායී ගණයට වැටෙනවා.

කුකුලන්, තාරාවුන්, මොණරුන්, පක්ෂි ජාතීන් එක කොටසක්. බිත්තරවලින් හට ගත්තත් පක්ෂි ගණයට අයත් නොවන පියාපත් නැති කබර, ඉබි, තලගොයි, සූනු, සිකනැල්... ආදී සත්ත්වයෝ තවත් කොටසක්. පාද නැති උරග ජාතියට අයත් වෙන නයි, පොළොන්... ආදී දීර්ඝ ශරීර ඇති සත්තු තවත් කොටසක්. ඒ වගේම සිය ගණන් පාද තියෙන පත්තෑ, ගරුඬ, හැකරැලි, කන්කුන්ඩන්... ආදී සත්ත්වයෝ වෙනම කොටසක්.

ඉගිලීම් කරන, පොළව මතු පිටත් ගමන් කරන කුරුමිණි, සමනල වර්ග... ආදී සත්තු කෘමි ගණයට අයිති වෙනවා. දිමි, කඩි, කුහුඹු... ආදී පෙනෙන නොපෙනෙන කොටස්, මැසි, මදුරු, බඹර, දෙබර... ආදීන්, ඇහැට නොපෙනෙන තරම් ඉතා සියුම් ක්‍ෂුද්‍ර ජීවීන්, උකුණු, මකුණු, හිඟිකුණු... ආදී සතුන්, මිනිස් ශරීරවලත් වෙනත් අපිරිසිදු අසූචි ආදියෙත්, මහ පොළව උඩ යට ඉපදෙන හිසකෙස් වගේ කෙසඟ සතාගේ පටන් අත පය තරම් මහත පණු ආදී සතුන්, මෙයින් අන්‍ය වූ කරදියේ, මිරිදියේ ජීවත් වෙන ජලජ සතුන් ආදී අප්‍රමාණ ප්‍රභේද ජීවත් වෙනවා.

මේ තිරිසන් සතුන්ගෙ ආයුස ඒ ඒ සත්ත්ව ජාතීන් අනුව වෙනස් වෙනවා. ඇතැම් සත්තු පැය කීපයයි ජීවත් වෙන්නෙ. ඇතැම් සත්තු දිනයක් දින කීපයක් ජීවත් වෙනවා. අවුරුදු ගණන් ජීවත් වෙන සත්තුත් මේ අතර ඉන්නවා. පොළව යට තියෙන නාග ලෝකයත් මේ තිරිසන් අපායටමයි අයිති වෙන්නෙ. ඒ අයට පුණ්‍ය සෘද්ධියෙන් නොයෙක් තැන්වලට යන්න, වෙස් මාරු කරන්න පුළුවන්. බුද්ධ කාලයේ වගේම ඊට පසු කාලවලත් පැවිදි වෙස් පවා අරගෙන භික්ෂූන් විදිහටත් හිටපු අවස්ථාත් සඳහන් වෙනවා.

තිරිසන් අපාය කියන්නෙත් ඉතා දුක්ඛිත තැනක්. එක සතෙක් තව සතෙක්ව ආහාර පිණිස ගොදුරු කරගෙන පණ පිටින් අමු අමුවේ කඩාගෙන ඉරාගෙන කනවා. මසට මරන සත්ත්වයන් මිනිස්සුන්ගෙ අනේකවිධ වධ බන්ධනවලට ගොදුරු වෙමින්, කුලුගෙඩි පහරවල්, පොරෝ පහරවල්වලින්, කැති පිහිය ආදියෙන් බෙලි කැපුම් කනකොට අප්‍රමාණ දුක් වේදනාවන්ට ගොදුරු වෙන්න සිද්ධ වෙනවා. මිනිස් ක්‍රියාකාරකම් නිසා තිරිසන් ලෝකයේ සත්ත්වයන්ට නොයෙක් දැඩි වේදනාවලට, නැත්නම් ජීවිත හානිවලට පත්වෙන්න සිද්ධ වෙනවා. මේ අනුව තිරිසන් අපාය කියන්නෙත් අනන්ත දුක් වේදනාවන් විඳින්න සිද්ධ වෙන අපායක්.

සසර ගමන් කරන හැම කෙනෙකුටම මේ වගේ දුක්ඛ දායක අත්බැව්වලට තමයි වැඩිපුරම උපත කරා යන්න සිද්ධ වෙන්නෙ. සතර අපාය තමන්ගෙ මහ ගෙදරයි කියල ධර්මයේ සඳහන් වෙන්නෙ අන්න ඒ නිසා.

**මහණෙනි, වරක් සතර අපායට වැටුන කෙනෙක් නැවත මිනිස් අත්බැවක් ලබනව කියන එක හරිම දුර්ලභ දෙයක්. මේ බුද්ධ දේශනාවක්.**

එහෙම වෙන්න හේතුව තමයි, සතර අපායට වැටුන පුද්ගලයාට කුසලයක් කර ගන්න අවස්ථාවක් නොලැබීම. කිසියම් කාලයක යම් පුද්ගලයෙක් මිනිසත් බවක් ලැබුවත් සැඩොල් කුලය, වැදි කුලය වගේ පහත් කියල සම්මත කුලවල ඉපදෙන්න පුළුවන්. අප්‍රිය අමනාප පෙනුමක් තියෙන, ඉන්ද්‍රිය විකලව, අන්ත දුගී පවුල්වල ඉපදිලා නැවතත් අකුසල් කරගෙන මරණින් මතු අපාගත වෙනවා. ඉන්ද්‍රිය විකලත්වයෙන් තොරව පෙර පිනට යහපත් අත්බැව් ලැබුනත් බොහෝ අය දුශ්චරිතවලට පෙළඹිලා පිනක් දහමක් කරගන්නෙ නැතිව අඳුරටම වැටෙනවා.

උපන් සත්ත්වයන් අතර අඳුරෙන් අඳුරට යන, අඳුරෙන් ආලෝකයට යන, ආලෝකයෙන් අඳුරට යන, ආලෝකයෙන් ආලෝකයට යන පුද්ගල කොට්ඨාස 4 ක් ඉන්න බව අ. නි. චතුක්ක නිපාතයේ සඳහන් වෙනවා.

සූදුකාරයෙක් සූදුව නිසා තමන්ගෙ පුත්‍රයත්, භාර්යාවත්, සියලු වස්තුවත් නැති කරගෙන අවසානයේ තමනුත් වධ බන්ධනවලට හසුවෙනව වගේ, බාලයත් තුන් දොරින් දුශ්චරිත කරල සතර අපායෙන් එකක උපදිනවා. ඒක හරියට සූදුවෙන් පරදිනවට වඩා මහා දරුණු ජීවිත පරාදයක් වෙනවා. මේක සම්පූර්ණ බාල භූමියේ ලක්‍ෂණයක් බව <u>බාල පණ්ඩිත සූත්‍රයේ</u> දේශනා කරල තියෙනවා.

දුශ්චරිත කරල දුගතිගාමී වෙනව වගේම, සුචරිතව කටයුතු කරල පණ්ඩිතයා සුගතිගාමී වෙන ආකාරයත් මේ සූත්‍රයේ විස්තර වෙනවා. මහණෙනි, පණ්ඩිතයාගේ චරිත ලක්‍ෂණ තුනක් තියෙනවා. යහපත් විදිහට හිතීම, යහපත් විදිහට වචන කතා කිරීම, යහපත් විදිහට ක්‍රියා කිරීම නුවණැත්තාගේ ලක්‍ෂණයක්.

පණ්ඩිතයා තමන්ගෙ සුචරිත භාවය නිසා මේ අත්භවයෙදිම තුන් ආකාර සතුටක් විඳිනවා. ඔහු මිනිස්සු අතර දුසිරිත් කරන කෙනෙක් නෙවෙයි කියල සමාජය තමන් ගැන ගුණ කියන කොට මහත් සොම්නසක් ඇතිවෙනවා. මේ ඔහුගේ පළමු වෙනි සතුට. රජුන් විසින් අපරාධකාරී හොරුන් අල්ලගෙන ඔවුන්ට කරන නන් වැදෑරුම් දෙතිස් වධ ආදිය දකිනකොට, මේ වගේ අපරාධ මා ළඟ නෑ, ඒ නිසා ඒ වගේ දඬුවමක් මට කිසි දිනක ලැබෙන්නෙ නෑ කියල ඔහුට මේ ජීවිතයෙදිම තමන්ගෙ සුචරිත භාවය නිසා දෙවෙනි සතුට ලැබෙනවා.

නුවණැති තැනැත්තාට යන එන, හිඳින, නිදන හැම මොහොතෙම තමන් විසින් කරන ලද කායික, වාචසික, මානසික සුචරිත ධර්ම සවස් කාලයේ පර්වතයක සෙවණ ක්‍රමයෙන් පැතිරිලා යනව වගේ තමන්ගෙ සිහියට නැගෙනවා. මා විසින් අකුසල් කරල නෑ, බොහෝ කුසල් දහම් කරල තියෙනවා, මරණින් පස්සෙත් මට සුගතිය ලැබෙනව කියල මේ ජීවිතයෙදිම තුන් වෙනි සතුටත් ලබනවා.

මහණෙනි, කයින් වචනයෙන් සිතින් සුචරිත කරල මරණින් පසු දෙව් ලොව ඉපදිලා විඳින්න ලැබෙන සම්පත් අතිවිසාලයි. දෙව් ලොව කියන්නෙ ඉෂ්ට වූ, කාන්ත වූ, මනාප වූ, සැප සම්පත් තියෙන තැනක්. මේ විදිහට බුදු රජුන් දේශනා කළාම භික්ෂුවක් අහනවා, ස්වාමීනි දෙව් ලොව තියෙන සැප උපමාවකින් දේශනා කරන්න කියල.

මහණ, සක්විති රජෙක් කියන්නෙ රත්න හතකින් සෘද්ධි හතරකින් යුක්ත කෙනෙක්. මේ ලෝකයේ අභිෂේක කරන ලද සක්විති රජතුමාට චක්‍ර රත්නය පහල වෙනවා. එතකොට ඔහුට තමන් සක්විති රජ වුනා කියල හිතක් පහල වෙනවා. රජතුමා ආසනයෙන් නැගිටල චක්‍ර රත්නයට ජය වේවා මෙය ගමන් කෙරේවා කියල කෙණ්ඩියෙන් පැන් ඉහිනවා. එතකොට චක්‍ර රත්නය පෙරදිගට ගමන් කරනවා. යම් තැනක චක්‍ර රත්නය නතර වෙනවද, ගිය පිරිසත් එතන නතර වෙනවා. එතකොට පෙර දිසාව පාලනය කරන රජවරු සක්විති රජතුමා වෙතට ඇවිත් යටත් වෙනවා. පංච දුශ්චරිතයෙන් වැළකිලා සුචරිතව කටයුතු කරන්න කියල ඒ රජවරුන්ට අවවාද කරනවා. යටත් වෙන රජවරුන්ට දැහැමින් රාජ්‍ය පාලනය කරන ලෙසට පවසල ඒ රාජ්‍යයන් ඒ රජවරුන්ටම බාර දෙනවා.

ඊට පස්සෙ චක්‍ර රත්නය පෙරදිග මුහුදේ ගිලිල මතු වෙලා දකුණු දිසාවට, අපර දිසාවට, උතුරු දිසාවට ගමන් කරල ඉහතින් විස්තර කළ ආකාරයටම ඒ ඒ දිසාවල රජවරුන්ටත් දැහැමින් රජ කරන ලෙස අවවාද අනුසාසනා කරල ඔවුන් පාලනය කළ රාජ්‍යයත් ඒ ඒ රජවරුන්ට බාර දෙනවා. මේ විදිහට මහා සාගරය කෙළවර කරල තියෙන ජම්බුද්වීපය, උතුරුකුරු දිවයින, පූර්ව විදේහය, අපරගෝයානය කියන මනුස්ස ලෝක හතරම ජයගෙන චක්‍ර රත්නය රජතුමාගෙ දොරටුව ළඟට ආපසු එනවා. මේ තමයි සක්විති රජෙකුගේ චක්‍ර රත්නයේ ස්වභාවය.

සක්විති රජෙකුගේ දෙවෙනි රත්නය තමයි හස්ති රත්නය. සුදු වර්ණ තියෙන, හත් තැනක බිම පිහිටන, සෘද්ධි තියෙන, අහසින් යන, උපෝසථ කියන කුලයට අයිති ඇතෙක්. මේ ඇතා අතිශයින් හික්මුනු ඉතා වේගයෙන් ගමන් කරන්න පුළුවන් සතෙක්. සක්විති රජතුමා හස්ති රත්නය විමසීමට ලක් කරමින් උදේ කාලයේ ඇතා පිට නැගිල සාගරය කෙළවර කරල තියෙන පෘථිවිය වටා ගිහින් ඒ රාජධානියටම ඇවිත් උදේ ආහාරය අනුභව කරන බව සඳහන් වෙනවා. සක්විති රජුට ඉන්නෙ මේ වගේ හස්තියෙක්.

සක්විති රජතුමාට අශ්ව රත්නයකුත් පහල වෙනවා. සුදු ශරීරයක්, කළු හිසක්, සියුම් කෙස් (මුඤ්ජ කේසා) තියෙන, අහසින් ගමන් කරන්න පුළුවන්, සෘද්ධි බල තියෙන, ඉක්මනින් ඕනම තැනකට ගිහින් එන්න පුළුවන් අශ්වයෙක්. උදේ කාලයේ මුහුද කෙළවර කරල තියෙන පෘථිවිය වටා ගිහින් ආපසු ඇවිත් සක්විති රජුට උදේ ආහාරය අනුභව කරන්න තරම් ඉක්මනට ගිහින් එන්න පුළුවන්.

සක්විති රජුට පහල වෙන 4 වෙනි රත්නය තමයි මාණික්‍ය රත්නය. ඒක ඉතා යහපත් ජාතිමත් එකක්. ඒ මැණික අටැස් ලක්ෂණයෙන් යුක්තයි. (අටපට්ටම් හැඩයට ඇස් අටක් තියෙන) මනා ලෙස ඔප මට්ටම් වෙලා තියෙන වෙරළුම්ණියක් (මැණික් වර්ගයක්). ආලෝකය යොදුනක් තරම් පැතිරෙනවා. මේකට උදක ප්‍රසාද මාණික්‍යය කියලත් කියනවා. ඕනෑම බොර දියකට දාපු වහාම මොහොතින් පැදි දිය බවට පත්වෙනවා. ඒ නිසා තමයි උදක ප්‍රසාද කියන්නෙ.

සක්විති රජතුමා මේ මැණික පරීක්ෂා කරල බලන්න චතුරංගනී සේනාව සමග මැණික ධජයකට නංවල රාත්‍රී ඝණ අඳුරේ රැගෙන යනවා. මැණිකේ ආලෝකයෙන් මුළු ප්‍රදේශයම ඒකාලෝක වෙනවා. ගම් වැසියන් දහවල් කාලය කියල හිතල තම තමන්ගෙ වැඩ කටයුතු කරගන්න පවා පටන් ගන්නවා. සක්විති රජුගේ මැණික එතරම්ම ආනුභාව සම්පන්නයි.

ඒ වගේම සක්විති රජුට ස්ත්‍රී රත්නයක් පහල වෙනවා. ඇය විශිෂ්ට රූප ස්වභාවයෙන් යුක්ත, ප්‍රසාද ජනක, දැකුම්කළු, වර්ණවත්, වඩාත් උස නැති, මිටිත් නැති, කළුත් නැති, සුදුත් නැති, මනුස්ස පැහැය ඉක්ම වූ තැනැත්තියක්. කපු පුළුන් වගේ සිනිඳු කයකින් යුක්තයි. ඒ ස්ත්‍රියගේ පාද සිසිල් වෙලාවට උණුසුම් වෙනවා, උණුසුම් වෙලාවට සිසිල් වෙනවා. නොයෙක් සඳුන් සුවඳත් මුඛයෙන් උපුල් සුවඳත් හමනවා. සක්විති රජතුමාට පළමුව අවදි වෙනවා. නිදාගන්නකොට අවසානයට නිදාගන්නෙ. රජතුමාගෙන් කුමක් කරන්න ඕනද කියල අහල රජු කැමති දේ කරනවා. ප්‍රිය මධුර වචනයෙන් කතා කරනවා. මේ තමයි සක්විති රජුගේ ස්ත්‍රී රත්නයේ ස්වභාවය.

සක්විති රජුගේ ඊළඟ රත්නය තමයි ගෘහපති රත්නය. ඔහුට කර්ම විපාක වශයෙන් දිව්‍යස පහල වෙනවා. එයින් නිධාන තියෙන තැනුත් පේනවා. ඔහු සක්විති රජු කරා ගිහින්, දේවයන් වහන්ස ඔබතුමා උත්සාහ වෙන්න ඕන නෑ, මම ඔබට ධනය හොයල දෙන්නම් කියනවා. රජතුමා මේ ගෘහපති රත්නය පරීක්ෂා කිරීමට ඔහුත් සමග නැවකට නැගල යනවා. ගෘහපතියට කියනවා මට මෙතනදිම ධනය හා රත්රන් අවශ්‍යයි කියල. එතකොට දෑතින්ම ජලයට අත දාල අමු රත්තරන් පිරුනු කලයක් අරගෙන මේකෙන් මේ මේ දේවල් කරන්න පුළුවන් කියනවා. මේ විදිහෙ හැකියාවක් සක්විති රජුගේ ගෘහපතියාට තියෙනවා.

රජතුමාගෙ හත්වෙනි රත්නය තමයි පරිනායක රත්නය. ඔහුට පුත්‍ර රත්නය කියලත් කියනවා. රජතුමාගෙ වැඩිමහල් පුත්‍ර රත්නය ඉතා පණ්ඩිත, ව්‍යක්ත (දක්ෂ, නිපුන) විශිෂ්ට බුද්ධියක් තියෙන කෙනෙක්. රජු හමුවෙන්න එන අය රජු වෙත යැවිය යුතුද, නොයැවිය යුතුද කියල තීරණය අරගෙන යැවිය යුතු කෙනා විතරක් යවනවා. තනතුරක තැබිය යුතු කෙනා ඒ තනතුරේ තියන්න දක්ෂතාවයක් තියෙනවා. දේවයන් වහන්ස, ඔබ වහන්සේ උත්සාහවත් වෙන්න ඕන නෑ, මම අනුසාසනා කරන්නම් කියනවා. මේ තමයි පුත්‍ර රත්නයේ ස්වභාවය.

මහණෙනි, සක්විති රජතුමාට සප්ත රත්නවලට අමතරව සෘද්ධි 4 ක් තියෙනවා. දුටුවන් වශී කරන, ප්‍රසාද ජනක, උතුම් රූප සම්පත්තියක් තියෙනවා. මේ තමයි පළමු සෘද්ධිය. මිනිස්සුන්ට වඩා අතිශයින් දීර්ඝායුෂ ලබනවා. මේ තමයි දෙවන සෘද්ධිය. මිනිස්සුන්ට වඩා අල්ප ආබාධ සහිතයි. ශරීරය සිසිල් නොවූ, උෂ්ණ නොවූ සම ගුණයෙන් යුක්තයි. මේ තමයි තුන් වන සෘද්ධිය.

සක්විති රජු සියල්ලන්ටම ප්‍රිය මනාප කෙනෙක්. පියෙක් පුතුන්ට දක්වන ආදරය වගේ රට වැසියන්ටත් ආදරය කරනවා. එක්තරා සක්විති රජ කාලෙක දවසක් බමුණු ගෘහපති පිරිසකට සක්විති රජතුමා දිහා වැඩි වෙලාවක් බලාගෙන ඉන්න ඕන කිව්වම, ඒ අයට කැමති විදිහට දැකල සතුටු වෙන්න ඉතා හෙමින් අසු මෙහෙය වන්න කියල රථාචාර්යාට දැනුම් දුන්නා. මනුස්සයන් කෙරෙහි දක්වන කරුණා දයාව කියන මේ ගුණය තමයි සක්විති රජුගේ හතර වන සෘද්ධිය.

මේ විදිහෙ සතරාකාර සෘද්ධි වගේම සප්ත රත්නයක් ලැබිල තියෙන්නෙ කල්ප ගණනක් දස රාජ ධර්ම පූර්ණ කරගත්ත පුණ්‍ය විපාකයට. මහ බෝසත්වරු දස පාරමිතා ධර්ම කල්ප ගණන් පූර්ණ කරල ලොව්තුරා බුද්ධත්වයට පත්වෙනව වගේ, සක්විති රජ වෙන්නත් දානය, සීලය, පරිත්‍යාගය, ඍජු බව, මෘදු බව, තපස, ක්‍රෝධ නොකිරීම, හිංසා නොකිරීම, සමාව දීම, විරුද්ධ නොවීම කියන දස රාජ ධර්මයන් කල්ප ගණන් පුරුදු පුහුණු කරගෙන එන්න ඕන. කල්ප ගණනකින් බුදුවරු ලෝකයට පහල වෙනව වගේ, සක්විති රජවරුත් ලෝකයට පහල වෙන්නෙ අති දුර්ලභව. ඒ වගේ කාලවල ලෝකයේ ඉතා දැහැමි, දුසිරිත්වලින් තොර රාජ්‍ය පාලනයක් පවතිනවා.

මහණෙනි, සක්විති රජතුමා මේ සප්ත රත්නයෙන් සහ සතර සෘද්ධියෙන් යුතුව සැප සම්පත් විඳීම ගැන ඔබලාට මොනවද හිතෙන්නෙ? එකම රත්නයකින් ලබන සොම්නස ගැන බලනකොට සප්ත රත්නයකින් සහ සෘද්ධි හතරකින් ලබන සැප සතුට හිතාගන්නවත් බෑ ස්වාමීනි කියල භික්ෂූන් වහන්සේලා උත්තර දෙනවා.

තථාගතයන් වහන්සේ කුඩා ගල් කැටයක් ශ්‍රී හස්තයට අරගෙන මේ ගල් කැටයයි, හිමාල පර්වතයයි ගැන ඔබලාට හිතෙන්නෙ මොකක්ද කියල අහනවා. ස්වාමීනි, හිමාල පර්වතය ගැන බලන කොට මේ ගල් කැටය කොච්චර නම් කුඩාද?

මහණෙනි, මේ සක්විති රජෙක් විඳින සැපයි, දෙව් ලොව දෙවියෙක් විඳින සැපයි ගත්තොත්, සක්විති රජු විඳින සැප මේ කුඩා ගල් කැටයට උපමා කළොත් දෙවියන් විඳින සැප විසාල හිමාල පර්වතය වගේ කියල වදාරනවා. දෙවියන් විඳින ලෞකික සැපවලට සාපේක්ෂව බැලුවම සක්විති රජු විඳින සැප කොච්චර අල්පද කියල මෙයින් වැටහෙනවා.

ඊළඟට බාල පණ්ඩිත සූත්‍රයේ තථාගතයන් වහන්සේ භික්ෂූන්ට මෙහෙමත් වදාරනවා. පණ්ඩිත පුද්ගලයා දෙව් ලොවින් චුත වෙලා මිනිස් ලෝකයට ආවොත් ක්ෂත්‍රිය, බ්‍රාහ්මණ, ගෘහපති වගේ උසස් මහා සාර කුලවල උපදිනවා. මිනිස් ලෝකයේ නැවතත් තුන් දොරින් කුසල් කරල මරණින් පසු සුගතිගාමී වෙනවා. සූදුකාරයා පළමු ගමනින්ම ජය ලබා ගන්නව වගේ, පණ්ඩිතයා සුගතියේ ඉපදිලා සූදු ජයග්‍රහණයටත් වඩා ජයක් ලබා ගන්නවා. සුගතිය කියන්නෙ තථාගත ධර්මය වටහාගෙන සසරින්

උල උඩ ඉන්න පුද්ගලයාගේ අතීත සහලේ නෑයෙක් වූ සෘද්ධි බල තියෙන එක යක්ෂයෙක් දැක්කා, මේ කොහොඹ උල උඩ ඉන්න කෙනා මැරිල අපායෙ (නිරයේ) උපදින බව. අපායෙ දුක්වලට සාපේක්ෂව උල උඩ ඉන්න එක දිව්‍ය ලෝකෙ ඉන්නවා වගේ. ඒ නිසා අර යක්ෂයා කියනවා, පින්වත ඔබ ජීවත් වෙන්න, ජීවත් වීමම ඔබට ශ්‍රේෂ්ඨයි කියල. මේක අහගෙන හිටපු අම්බසක්කර රජතුමා, එම්බල යක්ෂය ඔබ මේ උල උඩ ඉන්න කෙනාට ජීවත් වෙන්න කියන්නෙ මොහු ඔබගේ හතුරෙක්ද කියල අහනවා. නෑ රජතුමනි, මොහු සසරෙ මට ඥාතියෙක් වෙනවා, මොහු මැරිල ගිහින් නිරයේ ඉපදෙනව දැකලයි මම එහෙම කිව්වෙ, නිරයේ තියෙන දුක් හමුවේ මේ උල උඩ ඉන්න එක මහ සැපයක් කියල මේ යක්ෂයා කියනවා.

පසුව රජතුමා උල උඩ හිටපු මනුස්සයාව ඒ දඬුවමින් මිදෙව්වා. ඔහු පැවිදි වෙලා අරිහත් වුනා. අම්බසක්කර රජතුමා සෝතාපන්න වුනා. මේකෙන් කියවෙන්නෙ, මනුස්ස සුගතියේ තියෙන වටිනාකම.



ගැලවෙන්න තියෙන හොඳම තැන.

සුගතියේ වටිනාකම පැහැදිලි වෙන එක කතාවක් තමයි <u>ප්‍රේත වත්ථුවේ එන අම්බසක්කර කතා වස්තුව.</u> අම්බසක්කර කියල අතීතයේ එක රජ කෙනෙක් හිටියා. ඔහු ඒ කාලෙ එක්තරා මනුස්සයෙක්ව නොකළ වැරැද්දකට වරදකරුවෙක් කරල උල තිව්වා. උල උඩ ඉන්න මනුස්සයා, අනේ මාව ඉක්මනට මැරෙන්නෙ නැනෙ, මම තව කොච්චර දවසක් මේ දුක් වේදනා විඳ විඳ ඉන්නද කියල මරණය ප්‍රාර්ථනා කරනවා.

**තථාගත ශ්‍රී සද්ධර්මය අවබෝධ කරගන්න තියෙන හොඳම තැන තමයි මේ මනුස්ස සුගතිය. සංසාර ගමනත් එක්ක කල්පනා කරල බලනකොට දැන් අපිට මේ ලැබිල තියෙන මිනිසත් භවය ක්ෂණයකට ලැබුන සම්පතක්. ක්ෂණ සම්පත්තිය දුර්ලභයි කියන්නෙ ඒකයි. (දුල්ලභා ඛණ සම්පත්ති) මේ ක්ෂණය ඉක්මවල ගියොත් නැවත කවදා සුගතියක් හමුවෙයිද කියල කියන්න බෑ.**

"ඛණාතීනාහි සෝචන්ති නිරයම්හි සමප්පිතා" මේ ක්‍ෂණයකින්ම ලැබුන මිනිස් අත්බැව ඉක්මිලා නිරයට වැටුනොත් නිරයේ සෝක කරමින් කල්පයක් පැහෙන්නයි වෙන්නෙ. "කිච්ඡෝ මනුස්ස පටිලාභෝ" මිනිස් ප්‍රතිලාභයක් ලැබෙන්නෙ කලාතුරකින්. "දුල්ලභංච මනුස්සත්තං" මිනිසත් බව ඉතා දුර්ලභවයි ලැබෙන්නෙ.

ඒ වගේ දුර්ලභ මිනිස් කයක් ලබපු කෙනාට, සම්බුද්ධ සාසනයක් මුණගැහිල සද්ධර්මයක් අහන්න ලැබිල, ඒක තේරුම් ගන්න පුළුවන් මානසිකත්වයකුත් ලැබුන නම් ඔහු තරම් වාසනාවන්තයෙක් තවත් නැති තරම්.

අනන්ත සංසාර ගමනේ අපි බුද්ධ සාසන කොච්චර නම් පහු කරගෙන ඇවිත් තියෙනවද? බුදුවරු කොච්චර නම් දැකල ඇත්ද? රහතන් වහන්සේලා, ආර්ය උත්තමයො අපට කොච්චර නම් මුණ ගැහිල ඇත්ද? නමුත් අපි ඒ අවස්ථාවල ආදරයෙන් සාසනය ඇසුරු කළා නම් අද මෙතන ඉන්න විදිහක් නෑ. අපේ සසර ගමන මෙලහකටත් නිමා වෙලා.

දැන් අපිට මේ උදා වෙලා තියෙන්නෙ ගෞතම බුදු සසුනේ අන්තිම අවස්ථාව. මේකෙනුත් අපි ප්‍රයෝජන ගත්තෙ නැත්නම් අපිට සිද්ධ වෙන්නෙ ලොකු පරාජයක්. ඒ නිසාම එදා තථාගතයන් වහන්සේ පිරිනිවන් මඤ්චකයේ වැඩ ඉඳගෙන භික්‍ෂූන් අමතල, හන්දානි භික්ඛවේ ආමන්තයාමි වෝ වයධම්මා සංඛාරා, අප්පමාදේන සම්පාදේථ කියල දේශනා කළා.

මහණෙනි, සියලු සංඛාර ගෙවිල යනවා. ඒ නිසා අප්‍රමාදීව නිවී සැනසෙන්න කටයුතු කරගන්න. මේ මගේ අවසන් අවවාදයයි. මහණෙනි, ඇඳිවතට ගිනි ගත්තොත් මොකක්ද කරන්න ඕන? ස්වාමීනි, ඇඳිවත නිවාගන්න ඕන. මහණෙනි, මම මේ විදිහෙ දෙයක් වදාරනවා. ඇඳිවත නිවාගන්න කරන උත්සාහයත් අත්හැරල ඒ මොහොතත් සසරින් ගැලවෙන්න උත්සාහ කරන්න. මේක සියලු දෙනාම මැනවින් සිතා බැලිය යුතු කාරණයක්.

**සතර අපායේ දුක් ගැන හිතන කොට මිනිස් ලෝකය සැපයි. මිනිස් ලෝකයට සාපේක්‍ෂව දිව්‍ය ලෝකය සැපයි. දිව්‍ය ලෝක සැප හමුවේ මිනිස් ලෝකය දුකයි. බ්‍රහ්ම ලෝකයේ ධ්‍යාන සුව හමුවේ දිව්‍ය ලෝකය දුකයි. නිවන් ශාන්තිය හමුවේ තුන් භවයම දුකෙන් යුක්තයි.**

උක්ඛිත්තා පුඤ්ඤ තේජේන
කාම රූප ගතිං ගතා

භවග්ග තම්පි සම්පත්තා
පුනා ගච්ඡන්ති දුග්ගතිං

පුණ්‍ය කුසල විපාක වශයෙන් කාම, රූප ලෝකවල උපදිනවා. භවයේ ඉපදෙන්න තියෙන ලෝක අතර ඉහලම සැප තියෙන වැඩිම ආයුස තියෙන අරූපාවචර නේවසඤ්ඤානාසඤ්ඤායතනයේ උපදිනවා. නමුත් අනාර්ය වූ ඒ සියලු දෙනාම නැවත සතර අපායටත් යනවා. **කල්ප ගණන් පාරමිතා පුරපු සක්විති රජතුමත් සතර අපායෙන් මිදිල නෑ.**

පඨව්‍යා ඒක රජ්ජේන
සග්ගස්ස ගමනේන වා

සබ්බ ලෝකාධි පච්චේන
සෝතාපත්ති ඵලංවරං
(ධම්ම පදය - ලෝක වග්ගය)

**මුළු පොළවේ සේසත් නංවල සක්විති රජ වෙනවටත් වඩා, සුගතියේ ඉපදෙනවටත් වඩා, මුළු ලෝකයටම අධිපති වෙනවටත් වඩා, සෝතාපන්න වීම අග්‍රයි, ශ්‍රේෂ්ඨයි, උත්තමයි.**

සෝවාන් වෙච්ච කෙනා සතර අපායෙන් නිදහස් වෙලා ඉන්නෙ (චතූහපායේහිච විප්ප මුත්තෝ). එයින් මෙහා ඉන්න සියලු පෘතජ්ජනයන් අනියත පුද්ගලයන්. ඕනෑම වෙලාවක සතර අපායට උරුමය තියෙන අය. නමුත් සෝවාන් වෙච්ච කෙනෙක් කවදාවත් සතර අපා දුකට වැටෙන්නෙ නෑ. ඔහු නියත වෙලා ඉන්නෙ. සම්බෝධිය කරාම, නිවන කරාම ගමන් කරනවා. (නියතෝ සම්බෝධි පරායනෝ)

සක්විති රජකම්, දිව්‍ය ලෝකෙ දිව්‍ය සැප සම්පත් කියල ලෞකික සැප ගැන කතා කළාට නිවන් සුවය හමුවේ (නිබ්බාණං පරමං සුඛං) තුන් භවයම දුකෙන් යුක්තයි. "කිස්මිං ලෝකේ පතිට්ඨිතෝ" කියල ලෝකය කුමක් මතද පිහිටල තියෙන්නෙ කියල දෙවියෙක් බුදුන් වහන්සේගෙන් ප්‍රශ්න කරපු වෙලාවෙ, "දුක්ඛේ ලෝකෝ පතිට්ඨිතෝ" ලෝකය පිහිටල තියෙන්නෙ දුක මතයි කියල පැහැදිලි කළා.

"අප්පමත්තකම්පි භික්ඛවේ භවං න වණ්ණෝමි අන්තමයෝ අච්ඡරා සංඝාත මත්තම්පි." මහණෙනි, තුන් භවයේ ස්වල්පයක්වත් සැපයි කියල වර්ණනා කරන්න හොඳ නෑ. අඩුම වශයෙන් අසුරු සැනක් ගහන තරම් වෙලාවක්වත් භවය හොඳයි ප්‍රියයි මනාපයි ආස්වාදනීයයි කියල වර්ණනා කරන්න එපා. "සුඛං වා දුක්ඛං වා අදුක්ඛම සුඛංවා තම්පි දුක්ඛන්ති පජානාති" සැප, දුක්, උපේක්‍ෂා කියන වේදනා තුනම දුකෙන් යුක්ත බව ප්‍රඥාවෙන් දකින්න කියල දේශනා කරල තියෙනවා. මේ විදිහට දැකීමේ හැකියාව ලැබෙන්නෙ ධර්මයේ සරණ ලැබුන ආර්ය ශ්‍රාවකයෙකුට විතරයි. පෘතජ්ජනයා ලෞකික සැපය සාර විදිහට දකිනවා මිසක් අසාර විදිහට, දුක විදිහට දැකීමේ ප්‍රඥාවක් ඔහුට නෑ. දර්ශන ඥානය තියෙන කෙනෙක්ම තුන් භවයම දුක විදිහට දැකල සසරින් මිදෙන්න වෑයම් කරනවා.

මේ ලිපියේ මුල් කොටස, අනමතග්ග සංයුක්තයේ දේශනාවලින් ආරම්භ කළා. "අනමතග්ගෝ යං භික්ඛවේ සංසාරේ පුබ්බා කෝටි න පඤ්ඤායති" කියන දේශනා පාඨය, සසර ගමන ඉතා දිගයි, ඒකෙ මුල තථාගතයන් වහන්සේ පනවල නෑ කියන අර්ථයකින් විවරණය කළා. ඒ කාරණය මේකෙ නීතාර්ථය. මේකෙ තවත් සැඟවුනු නෙයාර්ථයකුත් තියෙනවා.

සංසාරය කියන්නෙ මේ මේ මොහොතෙ ගොඩ නැගෙන එකක්. ලෝකය සාරයි කියල එකතු කරන වැඩ පිළිවෙල තියෙන තාක් කල් සංසාරයෙන් මිදෙන්න බෑ. අනන්ත දිගු සසරක ආවෙත් ඒ නිසාමයි. අපේ තියෙන මුළාව නිසා අවිද්‍යාවෙන් සසර ගොඩ නැගෙනවා. පටිච්ච සමුප්පාද චක්‍රය කියන්නෙ ඒකයි. "පුබ්බා කෝටි න පඤ්ඤායති" සංසාර චක්‍රයේ හෙවත් පටිච්ච සමුප්පාදයේ මුල ප්‍රඥාව නෑ. තියෙන්නෙ අවිද්‍යාව. ඒ නිසා න අමත අග්ගෝ (අනමතග්ගෝ) අග අමත හෙවත් නිවන නෑ. සංසාර චක්‍රය නමැති පටිච්ච සමුප්පාද චක්‍රයේ අග තියෙන්නෙ ජාති, ජරා, මරණ, සෝක, පරිදේව, දුක් දොම්නස්, උපායාස. ඊට හේතුව අවිද්‍යාවෙන් පටන් ගන්න නිසා. මුල ප්‍රඥාවෙන් පටන් ගත්ත නම් අග "අප්පමාදෝ අමතපදං" කියල වදාළ අමෘත පදය නම් වූ නිවන සාක්‍ෂාත් වෙනවා. ඉහත පාළි පාඨයේ ගැඹුරු අර්ථය මේ විදිහට වටහාගන්න. "නිබ්බානං පරමං වදන්ති බුද්ධා" බුදුවරු නිවන ශ්‍රේෂ්ඨ යැයි වර්ණනා කළා.

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**

**නිග්‍රෝධාරාම සේනාසනය,**
**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**
**0716839346**

# නොපළ වූ ගුණ කඳ X



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

**අභයරතනාලංකාරය - 81**

# ලෝකයාට හෙළි නොවූ විස්මිත ප්‍රතිකර්ම

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගේ නොපළ වූ ගුණ කඳ යටතේ මේ කලාපයෙන් හෙළිදරව් කරන්නෙ, කර්ම ඵලවල ස්වභාවය සහ ඒවාට කරන්න පුළුවන් ප්‍රතිකර්ම පිළිබඳ තවත් සැඟවුනු පැතිකඩක්. මීට පෙරත් මේ වගේ කාරණා සම්බන්ධයෙන් අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේගේ අත්දැකීම් සහිත තොරතුරු මේ සඟරාවෙන් හෙළිදරව් කරල තියෙනවා. **සියලුම රෝග කරදර බාධාවලට ඇහැට කනට පේන භෞතික මට්ටමින් තීරණය කරල, ලෝක සම්මත විද්‍යාවෙන් විතරක් විසඳුම් හොයන පින්වතුන්ගේ භෞතිකවාදී මතයන් බිඳ දමන්නත්, හේතු වාසනා තියෙන පින්වතුන්ට කර්ම ඵල විස්වාස කරන පිරිසක් බවට පත් වෙලා නිවන් මගට අවතීර්ණ වෙන්නත්, මේ ඔස්සේ නුවණ මෙහෙයවල තම තමන්ට ඇති විවිධ රෝගාබාධ කරදර ආදියට ධර්මානුකූල ප්‍රතිකර්ම කරගන්නත් මේ හෙළිදරව් කිරීම බොහොම වැදගත් වේවි.** පසුගිය කලාප කිහිපයකින්ම තමන්ගෙ අත්දැකීම් හෙළිදරව් කළ ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ ඒ සම්බන්ධයෙන් මෙවරත් තමන් වහන්සේගෙ අත්දැකීම් හෙළිදරව් කළේ මේ විදිහට.

අබේරත්න උපාසක මහත්තය කියන්නෙ ගිහි වතේ ඉන්න කාලෙ ඉඳන්ම ලෝක සත්ත්වයාට දහම් මාර්ගය කියල දෙන්න විවිධාකාර උපක්‍රම භාවිතා කරමින් අප්‍රමාණ දුක් කම්කටොළු විඳ දරා ගනිමින් කටයුතු කරපු උත්තමයෙක්. එතුමා බොහෝ අවස්ථාවල අපිත් එක්කත් ඒ සම්බන්ධයෙන් මේ විදිහට කරුණු පැහැදිලි කරල තියෙනවා.

මිනිස්සුන්ට ඇවිත් බණ අහන්න, භාවනා කරන්න, නිවන් අවබෝධ කරගන්න කටයුතු කරන්න කිව්වට ඒ අය එහෙම කරන්නෙ නෑ. නමුත් තමන්ගෙ ලෙඩ රෝග ආදිය සුව කරනවා, අමනුස්ස දෝස දුරු කරනවා, රැකී රක්‍ෂා නැති අයට රැකී රක්‍ෂා ලබා දෙනවා, ග්‍රහ අපල සඳහා ශාන්ති කර්ම, ප්‍රතිකර්ම කරනවා... මේ ආදී වශයෙන් ඒ අයගෙ විවිධ ප්‍රශ්න විසඳල දෙනව කිව්වොත් මිනිස්සු වැල නොකැඩී හොයාගෙන එනවා. සාමාන්‍ය ජනතාව මහා අසහනයෙන් පීඩාවෙන් තමයි නිතරම කටයුතු කරන්නෙ. ඉතින් අපි දැනගන්න ඕන, අපි ළඟට එන අයට ඒ වගේ ලෞකික කරදර බාධක නැති කරල දෙන ගමන්ම මේ දහම් මාර්ගයත් උපක්‍රමශීලීව ටික ටික හරි කියල තේරුම් කරල දෙන්න. ඒ නිසා තමයි මම මේ සමාධිමය බෙහෙත් හේත් ප්‍රතිකර්ම කරල ආශිර්වාද සෙත් බුද්ධ පූජාවන් පවත්වල, සාසන ආශිර්වාදය ලබා ගැනීම සඳහා අතීතයේ තිබුන, දැනට යටපත් වෙලා තියෙන විශේෂ භාර භාර ක්‍රම ආදිය නැවත මතු කරල දීල මේ කටයුතු කරන්නෙ. මගේ මූලික අරමුණ නිවැරදි දහම් මාර්ගය මතු කරල පහදල දීම. ඒ සඳහා තමයි මේ සියල්ලක්ම සිද්ධ කරන්නෙ... මේ ආදී වශයෙන් නිතරම වගේ අබේරත්න උපාසක මහත්තය අපිත් එක්ක කියල තියෙනවා.

ඉතින් ඒ කාලෙ ආශිර්වාද සෙත් බුද්ධ පූජා, බෙහෙත් හේත්, සමාධි ප්‍රතිකාර ආදිය සිද්ධ කළේ සතියේ බ්‍රහස්පතින්ද දවස්වල. උදේ පාන්දර ඉඳන්ම විවිධ ප්‍රදේශවලින් විසාල පිරිසක් එනවා. වැඩි පිරිසක් එන්නෙ බෙහෙත් ගන්න. ඒ වගේම සෑහෙන පිරිසක් ආශිර්වාද සෙත් බුද්ධ පූජාව සඳහා අවශ්‍ය කරන දානමාන පුද පරිස්කාර ආදියත් අරගෙන එනවා. ඒ ගෙනාපු සියලුම දේවල්වල අග්‍ර කොටස වෙන් කරල උදේ 10.00 ට විතර විශේෂ පෙරහැරකින් පුද පරිස්කාර, දැහැත්, ඖෂධ පූජාවන් ඇතුළු බුද්ධ පූජාව වඩම්මවල විහාර මන්දිරයේ තියෙන බුද්ධ ආසන මත තැන්පත් කරල ආශිර්වාද සෙත් බුද්ධ පූජාව ආරම්භ කරනවා. ඒ පූජාව සාමාන්‍යයෙන් පැය 5 ක් විතර එක දිගට තියෙනවා. සමහර දවස්වල ඒ කාල වේලාව අඩු වැඩි වෙන අවස්ථාත් තියෙනවා.

ආශිර්වාද සෙත් බුද්ධ පූජාව පැවැත්වීමෙන් පසුව, සහභාගි වෙලා ඉන්න සියලු දෙනාටම දහවල් ආහාර වේල ලබා දෙනවා. ඊට පස්සෙ හවස 4.00 - 5.00 ට විතර තමයි බෙහෙත් හේත්, සමාධි ප්‍රතිකාර ආදිය කරන්නෙ. විශේෂයෙන්ම ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සහභාගි නොවුන අයට බෙහෙත් දීම, සමාධි ප්‍රතිකාර ආදිය කිසිසේත්ම කරන්නෙ නෑ. අසාධ්‍ය රෝගියෙකුට ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙන්න බැරි නිසා, ඒ වෙනුවට පවුලේ කෙනෙක් ඊළඟ ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට අනිවාර්යෙන් සහභාගිවෙන්න කියල තමයි ඒ වගේ කෙනෙකුට වුනත් බෙහෙත් හේත් ප්‍රතිකර්ම කළේ. බෙහෙත් ගන්න එන අයත් පළවෙනි සැරේ තරමක් අකමැත්තෙන් තමයි ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙන්නෙ. මොකද වැඩිපුර පිරිසක් බලන්නෙ පූජාවට ඉන්නෙ නැතිව බෙහෙත් අරගෙන ඉක්මනට යන්න. නමුත් ඉතින් එහෙම බෙහෙත් දෙන්නෙ නැති නිසා, අකමැත්තෙන් තමයි පූජාවට ඉන්නෙ. හැබැයි එක

වතාවක් ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වුන කෙනෙක් දෙවෙනි වතාවෙ කියන්නෙ බෙහෙත් ගන්න යනව කියල නෙවෙයි, අපි ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට යනව කියල. ඒ තරම්ම ඒ ආශිර්වාද සෙත් බුද්ධ පූජාව ගැන මහ පුදුම පැහැදීමකින් තමයි දෙවෙනි වතාවෙදි කටයුතු කරන්නෙ. ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට ඉඳල ඉඩ ලැබුනොත් බෙහෙත් ටිකකුත් අරගෙන යමු කියන තැනක තමයි වැඩිපුර පිරිසක් ඒ කාලෙ හිටියෙ.

අපිත් ඉතින් ඒ දවස්වල නිතරම වගේ ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙන්න යනවා. බුද්ධ පූජාව අවසන් කරල ආපු පිරිසට දහවල් ආහාරය ලබා දීල, ඊට පස්සෙ විවිධ රෝගීන් සඳහා බෙහෙත් හේත්, ප්‍රතිකර්ම ආදී කටයුතු අවසන් කරල, ඒ ගමන්ම රාත්‍රි කාලයේ විශේෂයෙන්ම භික්ෂූන් වහන්සේලා වෙනුවෙන් රය පහන්වෙන කල්ම ධර්ම සාකච්ඡා සඳහා වෙන් කරල තිබුනා. ඒ කාලෙ අබේරත්න උපාසක මහත්තය එක්ක ධර්ම සාකච්ඡා කරන්න භික්ෂූන් වහන්සේලා 10 - 12 නමක් විතර නිතරම වැඩම කරනවා.

ඒ වගේම අබේරත්න උපාසක මහත්තය රෝගීන්ට බෙහෙත් හේත්, සමාධිමය ප්‍රතිකර්ම කරන බොහෝ අවස්ථාවල අපිත් ළඟ ඉඳල තියෙනවා. එතුමන් ළඟට එන විසාල පිරිස අතර විවිධාකාර දුක් කරදර කම්කටොළු කියාගෙන ආපු අය ඕන තරම් හිටියා. බෙහෙත් ගන්න එන රෝගීන්ට ඉඳගන්න කාන්තා පක්ෂයට දකුණු පැත්තෙන් පැදුරකුත්, පිරිමි අයට වම් පැත්තෙන් පැදුරකුත් තියල තියෙනවා. ඒ රෝගීන් අබේරත්න උපාසක මහත්තයට වඩා අඩි 8 - 10 ක් විතර ඈතින් තමයි හැම වෙලාවෙම වාඩි වෙලා ඉන්නෙ. ඔවුන් බොහොම ගෞරවයෙන් බුලත් අතක් දීල මහත්තයට වැඳ නමස්කාර කරල තමයි බෙහෙත් අහන්නෙ, තමන්ට තියෙන විවිධ කරදර බාධක, ඉදිරි කටයුතු ආදිය විමසන්නෙ. ඒ තරම් බොහොම ගෞරවයෙන් පැහැදීමෙන් තමයි ඒ කාලෙ තමන්ගෙ නොයෙක් ගැටළු සඳහා එන අය කටයුතු කළේ.

රෝගීන් ඇවිත් අබේරත්න උපාසක මහත්තය ළඟ තමන්ට නියමිත තැන වාඩි වුනාම මහත්තය නම, ගම... ආදී මොනවහරි තොරතුරක් අහල එකපාරටම ඇස් පියාගෙන තත්පර 10 ක් විතර නිහඬවම ඉන්නවා. එහෙම නැත්නම් තත්පර 10 ක් විතර අහක බලාගෙන නිහඬවම ඉන්නවා. ඊට පස්සෙ තමයි ඔවුන් පිළිබඳ විවිධාකාර තොරතුරු කියන්නෙ. **ඒ ඉතාම කෙටි කාලය තුල තමන් ළඟ ඉන්න රෝගියාගෙ / පුද්ගලයගෙ සියලු තොරතුරු විශේෂ සමාධිමය ක්‍රමයකින් හොයාගෙන, සමහර අයට පෙර අත්බැව් ගණනාවක තොරතුරු පවා කියනවා. ලෙඩ රෝගවලට හේතුව, ඒ සඳහා හේතු වුන අතීත කර්ම විපාක, ඒ සඳහා කළ යුතු සාසනික ප්‍රතිකර්ම වගේම රෝගයට අවශ්‍ය බෙහෙත් හේත් ආදී දේවල් පිළිබඳව විශේෂ තොරතුරු රැසක්ම කියනවා.**

ඉතින් මේ විදිහට දවසක් අපි ඉන්න අවස්ථාවකත් අම්ම කෙනෙක් එක්ක තරුණ පුතෙක් අබේරත්න උපාසක මහත්තය ළඟට ඇවිත් බෙහෙත් හේත් ප්‍රතිකර්ම ගන්න වාඩි වුනා. මහත්තය නම, ගම... ආදී යමක් අහල එකපාරටම තත්පර 10 ක් විතර ඇස් පියාගෙන නිහඬවම ඉඳල පස්සෙ මෙහෙම කියනවා.

ඔය අම්ම මේ පුතාගෙ අතින් මැහෝගනී පැළ 21 ක් අරගෙන ඉඩම් 21 කට ගිහින් ඒ ඉඩම් අයිතිකරුවන්ගෙන් අහල අවසර ලබාගෙන එක මැහෝගනී පැළය බැගින් එක ඉඩමක හිටවන්න. ඒ විදිහට මැහෝගනී පැළ 21 ක් ඉඩම් 21 ක හිටවන්න. පැළ හිටවනකොට පුතාගෙ අතින්ම මැහෝගනී පැළ අරගෙන අම්ම හිටවන්න ඕන. ඉඩමේ අයිතිකරුගෙන් අවසර ලබාගෙනම තමයි පැළ හිටවන්නත් ඕන. සමහර විට ඉඩමෙ අයිතිකරු මැහෝගනී පැළයක් හිටවන්න අකමැති බව ප්‍රකාශ කළොත්, නැවත එක වතාවක් විතරක් ඉඩම් අයිතිකරුට කියන්න, මේක ඉක්මනට හැදෙන වටිනාකමින් යුක්ත මැහෝගනී පැළයක්, ලොකු වුනාම උදළු මිටකට හෝ දර වශයෙන් හෝ කපා ගන්න පුළුවන්, කැමති නම් විතරක් මේ පැළය හිටවන්න සුදුසු තැනක් පෙන්වන්න, මට පුළුවන් එතනින් හිටවන්න කියල. දෙවෙනි වතාවටත් ඉඩම් අයිතිකරු අකමැති බව ප්‍රකාශ කළොත්, කිසිම හේතුවක් මත නැවත ඒ ඉඩමේ මැහෝගනී පැළයක් හිටවන්න අහන්නත් එපා. වැරදීමකින් හරි නැවත වතාවක් ඒ ඉඩමට යන්න පුළුවන් නිසා ඒ ඉඩම පිළිබඳව පොඩි සටහනක් කොළයක සටහන් කරගෙන, ඒ ඉඩමේ හිටවන්නෙ නැතිව වෙනත් ඉඩමකට ගිහින් ඔවුන්ගෙන් අවසර අරගෙන ඒ ඉඩමේ හිටවන්න.

ඔය විදිහට මැහෝගනී පැළ 21 ක් ඉඩම් 21 ක හිටවල, මේ ස්ථානයේ සිද්ධ කරන විශේෂ ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙලා, තමන්ගෙ අතින් සසරෙ අවැඩ අසාධාරණවලට ලක් වෙච්ච සියලු ලෝක සියලු සත්ත්වයන්ගෙන්ම කමා කරල සියලු ලෝක සියලු සත්ත්වයන්ට පිං අනුමෝදන් කරන්න ඕන.

ඊළඟට නැවතත් පැළ 21 ක් පුතාගෙ අතින් අම්ම අරගෙන ඉඩම් අයිතිකරුවන්ගෙන් අවසර ඇතුව තවත් ඉඩම් 21 ක හිටවල, කලින් වගේම ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙලා අවැඩ අසාධාරණයට ලක් වෙච්ච සියලු ලෝක සියලු සත්ත්වයන්ගෙන් කමා කරල සියලු ලෝක සියලු සත්ත්වයන්ට පිං අනුමෝදන් කරන්න ඕන.

ඔය විදිහට එක දවසකදි හෝ දවස් කිහිපයකදි හෝ පැළ 21 බැගින් 21 වතාවක් හිටවල 21 වතාවක් ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙලා සියලු ලෝක සියලු සත්ත්වයන්ගෙන් කමා කරල සියලු ලෝක සියලු සත්ත්වයන්ට පිං අනුමෝදන් කරන්න ඕන. (පිං අනුමෝදනාව පිළිබඳව විශේෂයෙන් දැනුවත් විය යුතුයි.) මොකද සතියකට එක වතාවයි ආශිර්වාද සෙත් බුද්ධ පූජාව තියෙන්නෙ. එතකොට පළවෙනි වතාවෙදි පැළ 21 ක් ඉඩම් 21 ක හිටවල ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙන්න ඕන. දෙවනි වතාවෙදි පැළ 21 ක් තවත් ඉඩම් 21 ක හිටවල ඊළඟ පූජාවට සහභාගි වෙන්න ඕන. ඔය විදිහට 21 වතාවකදි තමයි පැළ 441 ක් හිටවල ආශිර්වාද සෙත් බුද්ධ පූජා 21 කට සහභාගි වෙන්න ඕන.

මේ කියපු ආකාරයට කටයුතු කරන්න පුළුවන් නම් ඔබලාගේ යම් යහපත් බලාපොරොත්තුවක් තියේනම් බොහෝ දුරට ඒ කාරණා ඉටු වෙන්න හේතු යෙදෙනවා. ඒ නිසා කැමති නම් ඔය කියපු ආකාරයට කටයුතු කරන්න. ඔය අයට කියන්න තියෙන්නෙ ඔච්චරයි, හා දැන් නැගිටින්න කියල අබේරත්න උපාසක මහත්තය කිව්වා. ඒත් එක්කම ඒ අයත් වෙන කිසිම දෙයක් ඇහුවෙත් නෑ, එක පාරටම නැගිටල මිදුලට ගියා. ඔය විදිහට ඊළඟ අයත් ඇවිත් ඒ අයගෙ ප්‍රශ්න විසඳ ගත්තා.

මේ සිදුවීම සිද්ධ වෙන වෙලාවෙ මමත් ඒ ආසන්නයේමයි හිටියෙ. මේ විදිහට විවිධ රෝග සඳහා බෙහෙත්,

ප්‍රතිකර්ම අවසන් කරල රාත්‍රී කාලයේ සිද්ධ කරන විශේෂ ධර්ම සාකච්ඡාව කරගෙන ගියා. පාන්දර 2.00 - 3.00 විතර වෙනකොට බොහෝ දුරට ගිහි පින්වත් පිරිස නෑ. වැඩිපුරම ඉන්නෙ භික්ෂූන් වහන්සේලා. මම ඉතින් පාන්දර 2.00 - 3.00 ට විතර අබේරත්න උපාසක මහත්තයගෙන් අර හවස සිද්ධිය ගැන විස්තර ඇහුවා. මහත්තය හවස බෙහෙත් ගන්න ආපු කෙනෙකුට මැහෝගනී පැළ 21 ක් ඉඩම් 21 ක 21 වතාවක් හිටවල පින් අනුමෝදන් කරන්න කිව්වා, ඊට පස්සෙ ආශිර්වාද සෙත් බුද්ධ පූජා 21 කට සම්බන්ධ වෙලා පින් අනුමෝදන් කරන්න කිව්වා, ඒ අයට වෙන මොකුත් කිව්වෙත් නෑ, ඒ අය වෙන මොකුත්ම ඇහුවෙත් නෑ, වෙන යමක් අහන්න අවස්ථාවක් දුන්නෙත් නෑ, ඇයි එහෙම කළේ කියල මම ඇහුවා. එතකොට අබේරත්න උපාසක මහත්තය මෙහෙම කියනවා.

ස්වාමීන් වහන්සේ ඒක අහපු එක හොඳයි. මම හැමදාම කියන දෙයක් තමයි, මොනව හරි ප්‍රශ්නයක් තියෙනව නම් කනට ගහල වුනත් කමක් නෑ අහගෙන යන්න කියල. එතකොට මට පුළුවන් ඒකට උත්තර දීල, ඉන්න අයට හරි තෝරල බේරල ඒ ප්‍රශ්න විසඳල දෙන්න. ඒ නිසා ඔබවහන්සේට තියෙන ප්‍රශ්න ඔබවහන්සේම අහගෙන විසඳගෙන යන එක තමයි හොඳ. මේවා හැමෝටම කිව්වට වැඩක් නෑ, ඒකයි මම එහෙම කළේ. මම ඒ අය ගැන සමාධියෙන් යොමු කරල බැලුවම මට පේනවා, ඒ අය... පළාතේ... ගමේ තමයි පදිංචි වෙලා ඉඳල තියෙන්නෙ. ඒ මීට අත්බැව් 3 කට විතර පෙර. අද මේ අම්මයි පුතයි තමයි එදත් අම්මයි පුතයි වෙලා හිටියෙ. ඒ අය... ගමේ තියෙන මහ විසාල ඉඩමක අයිතිකරුවො. මහා වැවිලි ව්‍යාපාරයක් තමයි කරල තියෙන්නෙ. මහා ධනවත් අය. ඔය කාලෙ ළඟ පාත පොඩි දුප්පත් අසරණ දරු පවුලක් ඉඳල තියෙනවා. මේ දෙන්නා ඒ කාලෙ ඔවුන්ට යන්න එන්න පාරක් දුන්නෙ නැතිව ඒ අයට කරදර හිරිහැර කරල එතැනින් පන්නගෙන, ඒ පුංචි ඉඩම් කොටසත් තමන්ට අයිති කරගෙන තියෙනවා. අන්න ඒ අකුසල කර්මය තමයි විපාකය විදිහට මේ අත්භවයෙ ඇවිත් තියෙන්නෙ. ඒ නිසා තමයි මේ ජීවිතේ මේ දෙන්නට ඉන්න තැනක් නැත්තෙ.



සමාධිමය ප්‍රතිකාර ගැනීමට පැමිණි රෝගීන් පිලිබඳ සිය අත්අකුරින් තැබූ සටහන්

ඔවුන් බෙහෙත් ගන්නත් නෙවෙයි ඇවිත් හිටියෙ. මම ඉතින් එදා ඒ කරපු අසාධාරණ අකටයුත්තට වන්දි ගෙවන්න ඔවුන්ට කිව්වා, ලෝකයට සෙවණ දෙන්න සිසිල ලබා දෙන්න මැහෝගනී පැළ හිටවන්න කියල. පැළ 21 ගණනෙ 21 වතාවක් හිටවල, ඒ කියන්නෙ පැළ 441 ක් ඉඩම් 441 ක හිටවල, 21 වතාවක් ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙලා කමා කරල පින් අනුමෝදන් කළාම බොහෝ දුරට ඒ අකුසල කර්මය ගෙවිල යනවා. මොකද අත්බැව් 3 කට පෙර කරපු නිසා තමයි එච්චර පැළ ප්‍රමාණයක් හිටවල කමා කරල පින් අනුමෝදන් කළාම ඒ කර්මය අවසන් වෙන්නෙ. ඊටත් පෙර අත්බැව්වල කරපු එකක් නම් ඔය පැළ ප්‍රමාණය මදි. ළඟම අත්බැවක කරපු කර්ම විපාකයක් නිසා තමයි ඔය විදිහට බේරෙන්න පුළුවන් වෙන්නෙ. මොකද කාලය යන්න යන්න ඒකට ප්‍රතිකර්ම කළේ නැත්නම් විපාකය තවත් වැඩි වෙනවා. හරියට පොළිය එකතු වෙනව වගේ.

අබේරත්න උපාසක මහත්තය මේ විස්තරය කිව්වම, මම ඉතින් මහත්තයගෙන් කිහිප වරක්ම ඇහුවා, ඉතින් ඒ අම්මයි පුතයි ඒ කියපු විදිහට මැහෝගනී පැළ හිටවයිද කියල. මම ඒවා දන්නෙ නෑ. මම ඒවා බැලුවෙත් නෑ. මම බැලුවෙ ඒ අයට මොකද වෙලා තියෙන්නෙ කියල විතරයි. මට ඉතින් ඒ අය පැළ හිටවනවද නැත්ද කියල දැනගන්න අවශ්‍යතාවයක් තිබුනෙත් නෑ. ඒ නිසා තමයි මම ඒවා බැලුවෙ නැත්තෙ. මම කියපු ආකාරයට ඒ අය කටයුතු කළොත් ඒ අයගෙ කර්ම විපාකය අවසන් වෙයි, ඒ අයගෙ ප්‍රශ්න විසඳෙයි, මට කියන්න තියෙන්නෙ එච්චරයි කියල අබේරත්න උපාසක මහත්තය කිව්වා.

පස්සෙ මේ කරුණු කාරණා පිළිබඳවම තමයි ධර්ම සාකච්ඡාවත් කරගෙන ගියේ. මේ කාරණය පිළිබඳවත්, වර්තමාන යුගයේ මේ වගේ සිදුවීම් පිළිබඳවත් එදා දීර්ඝ වශයෙන් ධර්ම සාකච්ඡා කළා.

ඊට පස්සෙ මමත් පුද්ගලිකවම ඒ අම්මයි පුතයි පිළිබඳව හොයල බැලුවා. මට දැනගන්න ලැබුනා, ඒ දෙපළ විසාල ඉඩම්වල තියෙන තාවකාලික මුර ගෙවල්වල ජීවත් වෙන්නෙ කියල. එහෙම ජීවත් වෙනකොට පළවෙනි මාසෙ බොහොම ලස්සනට ජීවත් වෙනවා. දෙවෙනි මාසෙ රණ්ඩු සරුවල් ආරවුල් මැද තමයි ජීවත් වෙන්නෙ. තුන්වෙනි මාසෙ අයිතිකරුගෙන් ගුටි කාල බැනුම් අහල තමයි අයින් වෙලා යන්නෙ. මුළු ජීවිත කාලයේම සිද්ධ වෙලා තියෙන්නෙ ඔය විදිහට තමයි.

අබේරත්න උපාසක මහත්තයගෙන් අතීත කර්ම විපාකය දැනගෙන, ඒ දෙන්නට උපදෙස් දුන්න ආකාරයටම මැහෝගනී පැළ 21 බැගින් 21 වතාවක් හිටවල, 21 වතාවක් ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙලා පින් අනුමෝදන් කළාට පස්සෙ, ඒ දෙන්නා ඒ වෙනකොට නතර වෙලා හිටපු වත්තෙ අයිතිකරු ඔවුන්ට හැමදාම වත්ත බලාගෙන ඉන්න කියල ඒ මුර මඩුවත් එක්ක පුංචි ඉඩම් කෑල්ලකුත් ලියල දීල තියෙනවා. ඔවුන් තවමත් ජීවත් වෙලා ඉන්නෙ ඒ වත්තෙමයි. ඔවුන්ගෙ සියලු ප්‍රශ්න විසඳගෙන දැන් ඒ අය බොහොම සතුටින් ජීවත් වෙනවා.

ඒ වගේම තවත් දවසක අබේරත්න උපාසක මහත්තය රෝගීන්ට සමාධිමය බෙහෙත්, ප්‍රතිකර්ම කරන අවස්ථාවක, අපිත් දන්න හඳුනන එක්තරා රෝගී දායක මහත්තයෙක් ප්‍රතිකාර ලබා ගන්න ඇවිත් හිටියා. ඔහුට තිබුනෙ වසර 38 ක් තරම් දීර්ඝ කාලයක් පැවතුන තදබල හිසරදයක්. බොහෝ තැන්වලින් විවිධාකාර ප්‍රතිකාර කරලත් සුව වුනේ නැති නිසා, බලවත් කලකිරීමට පත් වෙලා බෙහෙත් ගැනීම පවා අතහැරල දාල හිටපු රෝගියෙක්. ඔහුත් අනෙක් රෝගීන් වගේම අබේරත්න උපාසක මහත්තය ළඟට ගිහින් බුලත් අතක් දීල වැඳ නමස්කාර කරල තමන්ට නියමිත තැන වාඩි වුනා. මහත්තය එක පාරටම ඇස් පියාගෙන තත්පර 10 ක් විතර නිහඬවම ඉඳල පුටුවෙන් නැගිටල රෝගියා ළඟට ගිහින්, හිසරදයක් තියෙනව නේද කෝ බලන්න කියල කියනවත් එක්කම, ඔහු අබේරත්න උපාසක මහත්තය ඉන්න පැත්තට හිස හැරෙව්වා. ඒත් එක්කම මහත්තය ඔහුට එකපාරටම ටොක්කක් ඇනල කියනවා, ස්වාමීන් වහන්සේලා වැඩ ඉන්න ආරාමයක වහළක් සකස් කරල දීල අද වගේ දවසක ආශිර්වාද සෙත් බුද්ධ පූජාවකට සම්බන්ධ වෙලා විශේෂ පින් අනුමෝදනාවක් කරන්න කියල. (ටොක්කක් ඇන්නෙ ඇඟේ ඉන්න ඥාතියා ඉවත් කරන්න. මොකද විවිධ අමනුස්සයො ඉවත් කරන්න විවිධ ක්‍රම තියෙනවා.) ඒ විදිහට ඔහුට උපදෙස් දීල, රෝගය සඳහා බෙහෙත් කරන්න විශේෂ අවශ්‍යතාවයක් නම් නෑ කියලත් කිව්වා. හා ඔය ටික කළාම ඇති කිව්වම, රෝගියත් හා හොඳයි මම එහෙම කරන්නම් කියල අබේරත්න උපාසක මහත්තයටත් වන්දනා කරල එතනින් ඉවත් වෙලා යන්න ගියා.

මේ සිදුවීම සිද්ධ වුන දවසෙ රෑ අපි ධර්ම සාකච්ඡා කර කර ඉඳල තරමක් විවේක වෙලාවක් ලැබුනම මම අබේරත්න උපාසක මහත්තයගෙන් ඇහුවා, අදත් බෙහෙත් ගන්න ආපු රෝගියෙකුට විහාරස්ථානයක වහළක් සකස් කරල දීල පින් අනුමෝදනාවක් කරන්න කිව්වා, ඒ ඇයි කියල. එතකොට මහත්තය හිනා වෙවී මෙහෙම කියනවා. ස්වාමීන් වහන්ස, අපි මොනව කරන්නද සංසාරෙ හැටි තමයි. පෙර අත්බැවක නිවසකට කරපු අලාභ හානියක් තමයි විපාකය විදිහට ඇවිත් තියෙන්නෙ. ඕවට කොච්චර බෙහෙත් බිව්වත් මදි. ඒ කර්ම විපාක ගෙවා හරින ක්‍රමවේදයකුත් අනුගමනය කරමින් තමයි බෙහෙත් ප්‍රතිකර්ම කරන්න ඕන. සියල්ල කර්ම ශක්තියෙන් සිද්ධ නොවුනත් සියල්ලටම කර්ම ශක්තිය මූලික වෙන බව තේරුම් ගන්න ඕන. කර්මය, ප්‍රතිකර්මය හා උපක්‍රමය කියන කාරණා තේරුම් ගන්න ඕන.

උපක්‍රමයක් කරල ප්‍රතිකර්මයක් කළා කියල හිතා ගත්තට හරියන්නෙ නෑ. ඒක ප්‍රතිකර්මයක් වෙන්නෙ නෑ. උදාහරණයක් විදිහට කාලයක් තියෙන හිසරදයකට පැරසිටමෝල් පෙති 2 ක් බීල ටික වෙලාවක් නිදා ගත්තම හිසරදය ටික වෙලාවකට හොඳ වෙනවා. එතකොට අපි හිතනවා ප්‍රතිකර්මයක් කළා කියල. නමුත් ඒක ප්‍රතිකර්මයක් නෙවෙයි, තාවකාලික උපක්‍රමයක් විතරයි. හිසරදයට යම් හේතුවක් ඇත්නම් ඒක හොයල බලල හෙළ වෙදකම අනුව හිස ගැල්වුම්, නස්න කිරීම්... ආදිය කරල වා - පිත් - සෙම් සමනය කිරීම සඳහා බෙහෙත් හේත් ප්‍රතිකර්ම කරන ගමන්, අදාළ කර්ම විපාකයත් ගෙවා හරින වැඩ පිළිවෙලකුත් ක්‍රියාත්මක කරල හිසරදය නිට්ටාවට සුව කරගන්න කටයුතු කිරීම තමයි ප්‍රතිකර්ම කළා කියල කියන්නෙ.

මේ විදිහට ප්‍රතිකර්මය සහ උපක්‍රමය වෙන වෙනම තේරුම් කරගන්න ඕන කියල එදත් මහා විශේෂ ධර්ම සාකච්ඡාවක් දීර්ඝව සිද්ධ කළා.

මේ සිද්ධිය වෙලා මාස 2 - 3 කට විතර පස්සෙ ඒ රෝගී දායක මහත්තය මම ඉන්න විහාරස්ථානයට ආපු වෙලාවක මම ඇහුවා, කොහොමද දැන් අසනීපය එහෙම හොඳයිද කියල. එතකොට කියනවා, අනේ ස්වාමීන් වහන්ස එදා අබේරත්න උපාසක මහත්තය මට කිව්වා, ස්වාමීන් වහන්සේලා වැඩ ඉන්න විහාරස්ථානයක වහළක් සකස් කරල දීල ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සම්බන්ධ වෙලා පින් අනුමෝදනාවක් කරන්න කියල. මම ඉතින් හා කියල බාර අරගෙන ආවා තමයි. ඒ වුනාට මම කොහොමද විහාරස්ථානයක වහළක් හදන්නෙ? මම දවසක් වැඩ කළාමත් ලැබෙන්නෙ රුපියල් 50/= ක විතර මුදලක්. මම ඉන්න ගෙදරත් වැහි කාලෙට හැමතැනම තෙමෙනවා. මට ඉන්න තැනක්වත් හරියට නෑ. මගේ බිරිඳටත් නිතරම අසනීප. වැඩක් පළක් කර කියා ගන්නත් බෑ. ගෙදරමයි ඉන්නෙ. දරුවන්ටත් එහෙමමයි...

මේ ආදී වශයෙන් ඔහුගේ අසරණකම ගැන දීර්ඝව විස්තර කරල මට කියනවා, ඉතින් ස්වාමීන් වහන්ස මම විහාරස්ථානයක වහළක් හදන්නෙ කොහොමද කියල. මම කිව්වා, ඔව් ඔව් ඒක නම් ඇත්ත තමයි, ඔය කියන ඒවා ඇත්ත නම් විහාරස්ථානයක වහළක් හදන්න බෑ තමයි කියල. ඔය විදිහට ටික වෙලාවක් කතා කර කර ඉන්න ගමන්ම මම කිව්වා, නමුත් ඉතින් සාසනික දේවල් බාර ගත්තොත්, සාසනික තැන්වලදි පොරොන්දු වුනොත්, දෙවියන් ඉදිරියේ පොරොන්දු වුනොත් ඒවා ඒ විදිහටම ඉටු කරන්න ඕන, එහෙම නැත්නම් බැරි දේවල් පොරොන්දු නොවී ඉන්න ඕන කියල. ඊට පස්සෙ ඔහු කියනවා, මම ඇත්තටම ඒවා ගැන ඒ තරම් දුරට හිතුවෙත් නෑ, අබේරත්න උපාසක මහත්තය කියනකොටම මම හා කරන්නම් කියල බාර ගත්තා, නමුත් ඉතින් මම එතනින් ආවට පස්සෙ තමයි විහාරස්ථානයක වහළක් හදන්න මට බැරි බව තේරුනේ කියල.

මමත් ඉතින් දිගින් දිගටම ඔහුට කිව්වා, අබේරත්න උපාසක මහත්තය ඔබතුමාගෙ පෙර අත්භවය බලල එදා සිද්ධ කළ කර්මයත් කිව්ව නම්, ඒ කර්ම විපාකය ගෙවා හරින ක්‍රමවේදයත් කියන්න පුළුවන් වුනා නම්, එච්චර ලොකු දෙයක් කියන්න පුළුවන් වුන එකේ, ඔබට විහාරස්ථානයක වහළක් හදන්න වත්කමක් නැති බව දැක්කෙ නැත්ද කියල. මම එහෙම කිව්වෙ, වහළක් හදන්න කිව්වම තමන් නුවණින් තේරුම් ගන්න ඕන කියන කාරණය ඔහුට පහදල දෙන්න. මේක ඔබට කරන්න පුළුවන් මෙන්න මේ ක්‍රමයට, ඔබට මේකත් ඒ සඳහා උදව්වක් වෙයි කියලයි මම ඔහුට තේරුම් කරල දුන්නෙ. මොකද තමන්ට පුළුවන් මට්ටමක් තියෙනවා. ඉතින් ඔහුට මේ කාරණා පිළිබඳව දිගින් දිගටම කරුණු පැහැදිලි කරල දීල මම කිව්වා, කොහොම වුනත් සාසනික තැන්වලදි, තුනුරුවන් ඉදිරියේදි, දෙවියන් ඉදිරියේදි යම් යම් පොරොන්දු ඇති කරගත්තොත්, බාර භාර වුනොත්, ඒවා ඒ ආකාරයෙන්ම ඉටු කරන්න ඕන, එහෙම නැත්නම් කරන්න බැරි දේවල් පොරොන්දු නොවී ඉන්න දැනගන්න ඕන කියල.

කවුරු කොහොම කිව්වත් අපි පුරුදු වෙන්න ඕන, තම තමන්ගෙ නැණ නුවණින් කල්පනා කරල කටයුතු කරන්න. විහාරස්ථානයක වහළක් සකස් කරන්න ලක්ෂ ගණනක් වියදම් කරන්න ඔබට මිල මුදල් නැතිවෙන්න පුළුවන්. නමුත් ඔබට බැරිද වහළක් හදන විහාරස්ථානයකට ගිහින් ඒ වැඩ කරන අය වෙනුවෙන් පැය බාගයක් උදව් කරන්න? එහෙම නැත්නම් වහළකට උළු සෙවිලි

කරන තැනක් වුනොත්, ඔබට බැරිද ඒ අයට උළු කැට කිහිපයක් වහළට අරගෙන දෙන්න? එහෙම වහළක් හදන තැනක අඩුම තරමෙ වැඩ කරන අයට තේ ටිකක් ගෙනිහින් දෙන්න, වතුර බොන කෝප්පයක් භාජනයක් හෝදල දෙන්න, යකඩ ඇණයක්, රීප්ප පටි කැල්ලක් ඉල්ලුවම වහළ උඩ වැඩ කරන අයට අරගෙන දෙන්න බැරිද?... මේ ආදී වශයෙන් වහළක් හදන්න උදව් උපකාර කරන ආකාරය, ඒ සඳහා තමන්ට සම්බන්ධ වෙන්න පුළුවන් ක්‍රම මම ඔහුට පැහැදිලි කරල දුන්නා.

මේ විදිහට අපි ධර්මානුකූල කතාවක් තමයි කළේ. පින් දහම් කරන්න මිල මුදල් අත්‍යවශ්‍යද? මිල මුදල් නැතිව පින් දහම් කරන්න බැරිද? මේ විදිහට අපි කතා කර කර ඉන්නකොට එතනට අබේරත්න උපාසක මහත්තයගෙ ධර්ම සාකච්ඡාවලට සම්බන්ධ දහම් අවබෝධයක් තියෙන කෙනෙක් ආවා. ඔහු අපේ කතාබහ අහගෙන ඉඳල, ගෙදර යන ගමන්ම උළු කැට කිහිපයක් අරගෙන රෝගී තැනැත්තට දීල කියනවා, මගෙන් උළු ඉල්ලුවෙත් නෑ මට කිව්වෙත් නෑ, මගේම අදහසකට අනුවයි මම මේ උළු කැට දෙක අරගෙන දෙන්නෙ, ඔබට කැමති ඕනම දෙයක් මේ උළුවලට කළාට කමක් නෑ කියල. රෝගී කෙනත් ඒ උළු කැට දෙක අරගෙන කියනවා, මට දැන් මේ උළු පන්සලකට පූජ කරල පින් අනුමෝදන් කරන්න පුළුවන් කියල. ඔහුත් බොහොම සතුටින් ඒ උළු කැට දෙකට අමතරව තවත් උළු කැටයක් තමන්ගෙ මුදල්වලිනුත් අරගෙන පූජ කරන්න හිතාගෙන හිටියා. නමුත් ඊට පස්සෙ ඔහුට තවත් ප්‍රශ්නයක් ඇති වුනා. මොකද අද කාලෙ විහාරස්ථානයකට උළු කැට දෙකක් ගෙනිහින් දීල පැන් වඩල පින් අනුමෝදන් කරන්න කතා කළොත් බැනුම් අහන්න තමයි වෙන්නෙ. විහාරස්ථානයක පැන් වඩල පින් අනුමෝදන් කරන්න නම් විසාල සඟ සතු දානයක් දීල තමයි ඒ කටයුතු කරන්නෙ. ඒ සඳහා විසාල මුදලක් වියදම් කරන්න වෙනවා. දුප්පත් මනුස්සයෙකුට ලේසියෙන් එහෙම දෙයක් කරන්න බෑ. විශේෂයෙන් ඒ පළාතෙ ඒ වගේ තත්ත්වයක් තමයි එදා තිබුනෙ. ඒ නිසා ඔහු තවත් කාලයක් හිටියා මේ උළු කැට දෙක පූජ කරල තමන්ගෙ අවශ්‍යතාවය ඉටු කරගන්න බැරිව.

නැවතත් කාලයක් ගියාට පස්සෙ මට මුණ ගැහිල මේ ගැන කතා කළාම මම කිව්වා, හරි වැඩේ තමයි දැන් ඉතින් උළු



**සමාධිමය ආශිර්වාද සෙත් බුද්ධ පූජාව පවත්වන අවස්ථාවක්**

කැට පූජ කරල පැන් වඩල පින් දෙන්න තැනක් නැතිවද ඉන්නෙ කියල. එහෙම කියල සඟ සතු දානයක් දෙන ආකාරයත් කියල දුන්නා. ඔහු බොහොම සතුටු වෙලා මට කියනවා, මම හිතාගෙන හිටියෙ, මම අහල තිබුනෙ, සඟ සතු දානයක් දීල පැන් වඩන්න නම් උපසම්පදා භික්ෂූන් වහන්සේලා ඇතුළුව 7 - 8 නමක් ගෙදරට වඩම්මවල අට පිරිකර, සෙසු පිරිකර පූජ කරන්න ඕන කියල. නමුත් ඔය විදිහෙ පිංකම් නම් යමක් කමක් තියෙන කෙනාට වගේම නැති කෙනාටත් කරන්න පුළුවන් බව දන්නෙ දැන් තමයි කියල ඔහු බොහොම සතුටින් මේ විහාරස්ථානයටම උළු කැට කිහිපයත් ගෙනත් තෙමෙන වහළකට දාල වහළ සකස් කරල, දන් පැන් පූජ කරල පැන් වඩල පින් අනුමෝදනාවකුත් කරගත්තා. පස්සෙ අබේරත්න උපාසක මහත්තය කරන ආශිර්වාද සෙත් බුද්ධ පූජාවටත් සම්බන්ධ කරල එතනදි විශේෂ පින් අනුමෝදනාවකුත් සිද්ධ කළා. ඊට පස්සෙ අවුරුදු 38 ක් තිබ්බ්ච ඔහුගේ තදබල හිසරදය සුව වුනා. ඔහුත් දැන් ඉඩකඩ ලැබෙන විදිහට පින් දහම් කරමින් ධර්ම මාර්ගයත් පූර්ණ කරමින් සතුටින් කාලය ගත කරනවා.

ඒ වගේම තවත් දවසක අබේරත්න මහත්තය ළඟට කාන්තාවක් ආවා සමාධිමය බෙහෙත් හේත්, ප්‍රතිකර්ම ලබා ගන්න. ඒ කාන්තාවත් බුලත් අතක් පිළිගන්වල වැඳල දකුණු පැත්තෙන් තියෙන පැදුර උඩ වාඩි වුනා. අබේරත්න මහත්තයත් වෙනත් අයගෙන් අහනව වගේම කරුණු කාරණා අහල, තත්පර 10 ක් විතර ඇස් දෙක පියාගෙන නිහඬවම ඉඳල මෙහෙම කියනවා. ඔය තියෙන අසනීපයට දින 7 ක් සෙත් කිරණ අල්ලන්න වෙනවා. අදත් දවල් ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට සහභාගි වෙච්ච නිසා කැමති නම් සෙත් කිරණ අල්ලගෙන යන්නත් පුළුවන්. නමුත් ඉතින් මේ ඉන්න සියලු දෙනාටම බෙහෙත් දීල අවසන් වෙලා තමයි සෙත් කිරණ අල්ලන්නෙ. ඒ නිසා කැමති නම් ඉඳල සෙත් කිරණ අල්ලගෙන යන්නත් පුළුවන්. එහෙම කියල සෙසු අයට බෙහෙත් ප්‍රතිකර්ම අවසන් කරල අවසානයට තමයි සෙත් කිරණ අල්ලන්න ඒ කාන්තාවට එන්න කිව්වෙ. ඒත් මහත්තය ඒ ළඟ හිටපු කිහිප දෙනෙක්ගෙන්ම ඇහුවා, බෙහෙත් ගන්න ආපු සියලු දෙනාම බෙහෙත් අරගෙන අවසන්ද, වෙන කවුරුවත්ම බෙහෙත් ගන්න නැත්ද කියල. ළඟ හිටපු අයත් කිව්වා, සියලු දෙනාම බෙහෙත් අරගෙන ගිහින් දැන් කවුරුවත්ම නෑ, මේ ලෙඩා එක්ක ආපු අය විතරයි ඉන්නෙ කියල.

ඊළඟට අබේරත්න උපාසක මහත්තය ඒ අසනීප කාන්තාවට වාඩිවෙන්න කිව්වා. මහත්තය අඩි 8 - 10 කට විතර ඈතින් තිබ්බ්ච පුටුවක තමයි වාඩිවෙලා හිටියෙ. බෙල්ලෙ අමාරුව තියෙන පැත්ත මේ පැත්තට හරවන්න කියල මහත්තය එකපාරටම ඇස් දෙක පියාගෙන දකුණු අත ලෙඩා ඉන්න පැත්තට දික් කළා විතරයි, ඒ කාන්තාව මහ හයියෙන් කෑ ගැහුවා. මහත්තයත් පුටුවෙන් නැගිටල ළඟ තිබුන පොත් රාක්කයක් ළඟට ගිහින්, ඒ පොත් රාක්කයේ පහලම තට්ටුවක් යටට අත දාල මොනව හරි හොයනවා බලනවා වගේ දැක්කා. නැවතත් දොර මුල්ලට ගියා. ආපසු ඇවිත් වෙනත් පුටුවක් යටට අත දාල නැවතත් නැගිටල ගිහින් පොත් රාක්කයේ

උඩ කොටස ඇතුලට අත දාල මොනව හරි දෙයක් අතින් අරගෙන එන විදිහට ඇවිත් උළුවස්ස උඩ ඉඳගෙන මොනවහරි හිමින් සැරේ කිය කියා ඈතට අත දික් කළා. මොනවහරි දෙයක් විසි කරපු විදිහට අත දික් කරල ඇවිත් පුටුව ළඟට ගිහින් වාඩිවෙලා කියනවා, අද සෙත් කිරණ අල්ලල ඉවරයි ඔය විදිහට දින 7 ක් සෙත් කිරණ අල්ලන්න ඕන, එතකොට ඔය අසනීපය හොඳ වෙයි කියල. ඒ කාන්තාවත් එතනින් නැගිටල අනික් අයත් එක්ක යන්න පිටත් වුනා.

අපිත් ඉතින් මේ සිදුවීම අනික් භික්ෂූන් වහන්සේලාත් එක්ක බලාගෙන හිටියා. බෙහෙත්, ප්‍රතිකර්ම කිරීම එදා අවසන් කරල අපි ගිලන්පස එහෙම වළඳල රාත්‍රී කාලයේ සිද්ධ කරන ධර්ම සාකච්ඡාවත් ආරම්භ කළා. පාන්දර 2 - 3 විතර වෙනකල් දිගටම ධර්ම සාකච්ඡාව කරගෙන ගිහින් නැවතත් ගිලන්පස වළඳන්න නතර කළා. අපි ගිලන්පස වළඳන ගමන්ම අබේරත්න උපාසක මහත්තයගෙන් හවස සිද්ධිය ගැන විස්තර ඇහුවා. මහත්තය හවස බෙහෙත් දීපු වෙලාවෙ අර කාන්තාවකට සෙත් කිරණ ඇල්ලුවනෙ, ඇයි ඒ සෙත් කිරණ ඇල්ලුවෙ, ඒ වෙලාවෙ මහත්තය නැගිටල ගිහින් මොකක්ද ඒ කළේ... මේ ආදී වශයෙන් අපි විවිධ ප්‍රශ්න ඇහුවා. මහත්තය හිනා වෙවී වට පිට බලල අහනවා, කවුද තව ඉන්නෙ, ඔබවහන්සේලා විතරද, අමතරව පිටින් ආපු අය එහෙම මේ වෙලාවෙ ඉන්නවද කියල. නෑ මහත්තය මේ වෙලාවෙ පිට කවුරුවත්ම නෑ, දැන් රෑ වෙලානෙ, භික්ෂූන් වහන්සේලා විතරයි ඉන්නෙ කියල අපි කිව්වා. ඒ වෙලාවෙ අබේරත්න උපාසක මහත්තය වට පිට බලන ගමන් හිනා වෙලා මෙහෙම කියනවා. ස්වාමීන් වහන්ස මේවා ඉතින් හැමෝටම කියන්නත් බෑ. කියන්න හොඳත් නෑ. කිව්වට තේරෙන්නෙත් නෑ. මම මේ ඔබවහන්සේලා වැඩිපුරත් අහන නිසා තමයි කියන්නෙ. මේවා පිට අයට කිව්වොත්, නොදන්න අයට කිව්වොත්, මට පිස්සු කියල කියයි. තවත් ඉතින් සාසනයටත් අපවාද කරල තවත් බාධාත් කර ගනියි. ඒ නිසා ඔබවහන්සේලා විතරක් දැන ගත්තම ඇති කියල, අබේරත්න උපාසක මහත්තය පෙර අත්බැව්වල සිද්ධ වෙච්ච තවත් අපූරු කතාවක් කිව්වා.

මේ කාන්තාව මේ ජීවිතයෙත් නීත්‍යානුකූල ස්වාමි පුරුෂයාට අමතරව තවත් පුරුෂයන් කිහිප දෙනෙක් ඇසුරු කරන කාන්තාවක්. පෙර අත්බැවකත් මේ විදිහටම තමන්ගෙ ස්වාමි පුරුෂයාට අමතරව තවත් පිරිමි කිහිප දෙනෙක්ම හොරෙන් ඇසුරු කරපු කෙනෙක්. දවසක් නීත්‍යානුකූල ස්වාමියා ගෙදරට එනකොට හොර සැමියන් කිහිප දෙනෙක් එක්ක ඉන්න බව ඇස් දෙකටම දැක්කා. ඔහුට හරියට කේන්ති ගිහින් වට පිට බලල කඩුවක් වගේ ආයුධයක් අරගෙන අර හොර සැමියන්ට ගහල මැරුවා. අවසානයේ භාර්යාවත් මැරුවා. තවත් කේන්තිය ඉවර නෑ. ඔහු දුවල ගිහින් ලණුවක් වගේ දෙයක් අරගෙන, අර කිහිප දෙනාම මරපු තැන ඒ නිවසේ තියෙන බාල්කයක බෙල්ලෙ වැල දාගෙන එතනම මැරුනා. ඒ පණ යන වෙලාවෙ ඔහු දැක්කා, මියගිය හොර සැමියන් කිහිප දෙනාත් භාර්යාවත් මේ සියලුම දෙනා එතනම හිටගෙන ඉන්නවා (ගන්ධබ්බ ලෝකයේ). මේ මනුස්සයා කිහිප දෙනෙක්ම මරපු නිසාත්, තදබල වෛරයකින් හිටිය නිසාත්, ඒ මොහොතෙම මහා බල සම්පන්න යක්ෂ කොට්ඨාසයක බල සම්පන්න යක්ෂයෙක් බවට පත් වුනා. එතන හිටපු කාන්තාවගෙ (පෙර බිරිඳගෙ) ඇඟට පැනල ඒ වෙලාවෙම බෙල්ල හපාගෙන තමයි යක්ෂයෙක් විදිහට උපන්නෙ. හැබැයි ඒ කාන්තාව මොන තරම් දුෂ්චරිත ජීවිතයක් ගත කළත් මනුස්ස අත්බැවක ඉපදීමේ වාසනාව තිබුනා. ඒ කියන්නෙ මනුස්ස භවයේ ඉතිරි කොටස ගෙවන්න හිමිකම තිබුණා. සෙසු අයට මනුස්ස අත්බැව්වලට එන්න අවස්ථාව තිබුනෙ නෑ.

කොහොම වුනත් මේ සියලු දෙනාම ගන්ධබ්බ ලෝකයේ එකට යනවා එනවා සැරිසරනවා. ඔය විදිහට ඉඳල මේ කාන්තාව මනුස්ස අත්බැවකට එන්න මව් කුසට යනකොටත්, අර සියලු දෙනාමත් එක්කයි මව් කුස තුලට ගිහින් හිටියෙ. හැබැයි ඒ සෙසු පිරිස අමනුස්සයො විදිහට තමයි කුසට සම්බන්ධ වුනේ. දැන් යක්ෂයත් බෙල්ල හපාගත්ත ගමන්ම ගන්ධබ්බ කාන්තාවගෙ සූක්ෂම කයේ එල්ලිලා තවම ඉන්නවා. ඒ කාන්තාව දැරියක් විදිහට උපදින කොටම බෙල්ලෙ ගෙඩියක් එක්කයි ඉපදුනේ. වෛද්‍යවරු කියල තියෙනවා, දරුවා හුඟක් පොඩි නිසා වසර 2 ක් සම්පූර්ණ වුනාම සැත්කමක් කරන්න ඕන කියල. වසර 2 කට පස්සෙ සැත්කමක් කරල බෙල්ලෙ තිබිච්ච ගෙඩිය කපල ඉවත් කරල තියෙනවා. නමුත් යක්ෂයා බෙල්ල හපාගෙන ඉන්න එක කපල කොටල බෙහෙත් දාල අයින් කරන්න බෑ. ඒක වෛද්‍යවරුන්ට පේන්නෙත් නෑ.

දැන් ඉතින් ඒ ගෙඩිය නැවතත් හටගෙන තියෙනවා. නැවතත් දින දීල තියෙනවා කපල ඉවත් කරන්න. දැන් ඒ කාන්තාවට වයස අවුරුදු 34 යි. ගෙඩියට වයස අවුරුදු 32 යි. මොකද වයස අවුරුදු දෙකේදි කපල ඉවත් කළානෙ. මම ඉතින් ඒ බෙල්ල හපාගෙන ඉන්න මහා බල සම්පන්න යක්ෂයා කඩල ඉවත් කළා. නමුත් ඔහු යන්න කැමති වුනේ නෑ. ඒ වුනාට සෙත් කිරණ ඇල්ලුවම ඉන්න බැරිව ගියා. පොත් රාක්කය ඇතුලෙ, මේසය යට, දොර මුල්ලෙ මේ ආදී තැන්වල දුවල ගිහින් හැංගුනා. අන්තිමට මම අධිෂ්ඨාන කරල අතට අරගෙන වීසි කළා. දැන් ඉතින් බෙල්ලෙ ගෙඩිය හොඳ වෙයි. මම ඒකයි ආශිර්වාද සෙත් පූජාවට ඉන්න කියල කිව්වෙ, සෙත් කිරණ අල්ලන්න කියල කිව්වෙ. මේ විදිහට අබේරත්න උපාසක මහත්තය ඒ විස්තරය අපිත් එක්ක කිව්වා.

අපි ඉතින් මහත්තයගෙන් ඇහුවා, මහත්තය ඒ මහා බල සම්පන්න යක්ෂයා විතරද අරන් දැම්මෙ, එච්චර බලසම්පන්න යක්ෂයෙක් අරන් දාන්න පුළුවන් වුනා නම් ඇයි අනික් අය අරගෙන දැම්මෙ නැත්ද, ඒ අයට මොකද වුනේ කියල. ඇත්තටම අපි ඒ වගේ විවිධ ප්‍රශ්න ඇහුවෙ ඒ ගැන දැනගන්න. ඉතින් මහත්තය ඒ ගැනත් මේ විදිහට පැහැදිලි කළා.

ඒ ගැන අහපු එක හොඳයි. මම කරපු කියපු දේක යම් කිසි ගැටළුවක් ඇති වුනාම ඒක මගෙන්ම අහල විසඳගන්න එක තමයි හොඳ. මොකද ඒ ප්‍රශ්නය ගිහින් තව කෙනෙක්ගෙන් ඇහුවට විසඳගන්න බෑ. මම හැමදාම කියන්නෙත්, ස්වාමීන් වහන්ස තියෙන ඕන ප්‍රශ්නයක් කියන්න, විසඳගෙන යන්න කියල. ඇතිවෙන ප්‍රශ්න තැන් තැන්වල කතා වුනාට වැඩක් නැනෙ. අම්මගෙ තාත්තගෙ, දුවගෙ පුතාගෙ ප්‍රශ්නයක්වත් මෙහේ අරගෙන එන්න එපා. තමන්ට තියෙන ප්‍රශ්නය තමන්ම අහල විසඳගන්න ඕන. ඊට පස්සෙ ඒ කියල දීපු එක අහල තේරුම් ගත්ත නම්, ඊළඟට තියෙන්නෙ ඒ කියල දීපු ආකාරයට කටයුතු කරල අත්දැකීමක් ලබා ගැනීම, ප්‍රතිඵලයක් ලබා ගැනීම. ඊටත් පස්සෙ තමයි අනික් අයට කියන්න යන්න ඕන. එහෙම නැතිව කාගෙවත් ප්‍රශ්න කතා කර කර ඉඳල අපේ වැඩේ කරගන්න බෑ...

මේ ආදී වශයෙන් මහත්තය බොහෝ දේවල් පිළිබඳව කතාබහ කළා. ඊට පස්සෙ අපිට ප්‍රසංසා කරල, ඔබවහන්සේලාට තියෙන ප්‍රශ්න මෙතනදිම විසඳගෙන යන එක හොඳයි, හොඳ ප්‍රශ්නයක් තමයි ඇහුවෙ කියල, ඒ පිළිබඳ තවත් තොරතුරු රාශියක්ම කිව්වා. මේවා ඉතින් අනික් අයට කියන්න ඕනත් නෑ, ඔබ වහන්සේලා දැනගත්තම ඇති කියල අර සිද්ධිය ගැන තවත් විස්තර කළා.

ඔබවහන්සේලා කැමති නම් ටිකක් නිහඬව හොයල බලන්නකො, මේ කාන්තාව මේ ජීවිතයෙත් හොර සැමියන් කිහිප දෙනෙක්ම සසර පුරුද්දට ඇසුරු කරනවා. එදත් ඇසුරු කරපු හොර සැමියන් කිහිප දෙනා තවමත් අමනුස්සයො විදිහට ඒ කාන්තාව පස්සෙන් එනවා. මට ඒ අයත් ඉවත් කරන්න තිබුණා. ඒත් මම එහෙම කළේ නැත්තෙ මේ කාන්තාව පූජාවට සම්බන්ධ කරන්න ඕන නිසා. මම පූජාවට ඉඳල සෙත් කිරණ අල්ලන්න කිව්වෙ, දින 7 ක් ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට ඉන්නකොට මේ පූජාවටම ඇහුම්කන් දීල සසරෙ හැටි තේරුම් අරගෙන පින් අනුමෝදන් වෙලා, පරණ ගති සිරිත් අත්හැරල දාල මේ කාන්තාවගෙ ශරීරයේ ඉන්න අනික් පිරිස දේවත්වයට පත් වෙන නිසා. ඒ නිසා ඒ අය ගැන කරුණාවෙන් තමයි මම එහෙම කිව්වෙ. හැබැයි ඇයට තිබ්ච්ච සෙසු බාධා ටිකත් එකපාරටම අයින් කළා නම්, ඒ කාන්තාව නැවත ආශිර්වාද සෙත් පූජාවට එන්නෙත් නෑ. මොකද ලෙඩේ නිට්ටාවට සනීප වුනා නම් නැවත එන්න ඕන නෑනෙ. එතකොට අනික් අයට පින් අනුමෝදන් වෙන්න ලැබෙන්නෙත් නෑ, නිදහස් වෙන්න අවස්ථාව ලැබෙන්නෙත් නෑ. දැන් වුනත් ඒ කාන්තාව මගෙන් ප්‍රතිකාර අරගෙන හොඳ වුනා කියල කියන්නෙත් නෑ. හැම තැනින්ම වෙදකම් කළා, ඔය මිනිහට පුළුවන්ද අත දික් කරල මගේ බෙල්ලෙ ගෙඩිය නැති කරන්න කියල මට බනියි. දැන් වුනත් දහම් මාර්ගයක් පිළිබඳව කියල දෙන්න පුළුවන් කෙනෙක් නෙවෙයි. දැන්ම ධර්මය වටහල දෙන්න බෑ. ඒවා බාර ගන්නෙත් නෑ. ඕන නම් අනිත් අය වගේ මොනව හරි කර කර නම් ඉඳියි කියල අබේරත්න උපාසක මහත්තය කිව්වා.

එතකොට අනාගතය ගැනත් යමක් දැකල තමයි මහත්තය අර විදිහට ක්‍රියා කළේ. අපිත් ඉතින් ඒ කාලෙ ඒ කාන්තාව පිළිබඳව වරින් වර හොයල බැලුවා. අපිටත් දැනගන්න ලැබුනා ඇයට සාසනික කටයුතු පිළිබඳව කිසිම පැහැදීමක් ප්‍රසාදයක් නෑ කියල. අබේරත්න උපාසක මහත්තය පිළිබඳව දැනට වුනත් ඒ කාන්තාව කියන්නෙ, ඔය මිනිහට පුළුවන්ද අත දික් කරල එහෙම ලෙඩ සනීප කරන්න, එහෙනම් රෝහල් මොකටද, වෛද්‍යවරු මොකටද කියල. මේ ආදී වශයෙන් ඇහැට පේන, කනට ඇහෙන දේවල් පිළිබඳව විතරයි කතා කරන්නෙ. හේතු ඵල දහමක් පිළිබඳ දකින්න තරම් නුවණක් තවම නෑ. අපි වුනත් ඒවා පිළිබඳව කතා කරන්නෙත් නෑ. මොකද ඒ කතා කරන වාරයක් වාරයක් පාසාම සාසන ගුණ නොදන්න නිසා අපවාද කරගන්නවා. එතකොට අපි ඒ ගැන කතාබහ කළොත් අපිත් ඒවට හවුල් වුනා වෙනවා. ඒ නිසා ආර්ය උතුමන් වහන්සේලාට, සිල්වතුන්ට, ගුණවතුන්ට, මව්පියන්ට දොස් කීමෙන් අපහාස කිරීම ගැලපෙන්නෙ නෑ. ඒ සඳහා හූම්ටි දීම, ඒවාට හවුල් වීම ගැලපෙන්නෙ නෑ. ඒවා තමයි අපවාද. නමුත් තම තමන්ගෙ දැන ගැනීම සඳහා කරුණු කාරණා විමසීම සහ තර්ක වාද කිරීම අපවාදයක් අගෞරවයක් නෙවෙයි. එහෙම නොකර වැඩිපුර යමක් දැනගන්නත් බෑ.

ඒ වගේම තවත් දවසක අබේරත්න උපාසක මහත්තය අපිත් එක්ක මේ වගේ තවත් කතාවක් කිව්වා. ස්වාමීන් වහන්ස, මේ ළඟදි දවසක මගේ ළඟට ප්‍රශ්න විසඳගන්න තවත් එක්තරා කාන්තාවක් ආවා. ඇගේ ගෙදර කරදර බාධක හරියට. නොයෙකුත් යන්ත්‍ර මන්ත්‍ර කරන අය, කපු මහත්වරු... ආදී අය ඇවිත් නොයෙක් සෙත් ශාන්ති කටයුතු සඳහා විසාල වශයෙන් වියපැහැදම් කරල මහ අමාරුවක වැටුන කාන්තාවක්. මගේ ළඟට තොරතුරු දැනගන්න ආවම, මම ඒ කාන්තාව ගැන සමාධියෙන් බැලුවා. මට තේරුනා, මියගිය ඥාති බලවේගයක් නිසා මේ සියලු කරදර බාධක එනව කියල. ඉතින් මම කිව්වා, ඔබට මේ වගේ කරදර බාධක තියෙනවා නේද, ඔබේ ඥාතියෙක් ඉන්නවා කන්න බොන්න මොකුත්ම නැතිව, මහ අසරණ කෙනෙක්, ඔහු තමයි කරදර කරන්නෙ කියල.

මෙහෙම කියනකොටම ගුප්ත ලෝකයේ ඉන්න ඒ ඥාතියාම මම ළඟට ඇවිත් පෙනී ඉඳල මට කියනවා, මට රතු බත් ඕන, මට කිරි පැණි ඕන... මේ මේ ජාති ඕන කියල. මම ඉතින් ඒ ඥාතියා ඉල්ලපු ජාතිම කියල මේ කාන්තාවට කිව්වා, මේ මේ ජාති ගෙනත් පුළුවන් නම් ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට තියල පූජාවටත් සම්බන්ධ වෙලා පින් අනුමෝදන් කරන්න කියල. එතකොට ඒ කාන්තාව මගෙන් අහනවා, මෙච්චර සෙත් ශාන්ති කරලත් හරි ගියේ නැතිව බුද්ධ පූජාව තියල පින් දුන්නම හරි යයිද කියල. මම කිව්වා, සමහරවිට හරි යයි, ඒ නිසා කැමති නම් විතරක් කරන්න, අමාරු වැඩකුත් නෙවෙයිනෙ, බුද්ධ පූජාව තියල පින් අනුමෝදන් කළාම හරි ගියත් නැතත් තමන්හරි මහා පින්කමක් කරගන්නවනෙ කියල. හා මම එහෙනම් ගිහින් එන්නම් කියල හරි සතුටින් නැගිටල යන්න ගියා. එළියට ගිහිල්ලත් අනෙක් අය එක්ක කියල තියෙනවා, මම මෙච්චර වියදම් කරලත් හොඳ කරගන්න බැරි ලෙඩේ බුද්ධ පූජාව තියල හොඳ කරගන්න පුළුවන්නම් මොන තරම් වාසනාවක්ද කියල. එහෙම කියල ඊළඟ ආශිර්වාද සෙත් බුද්ධ පූජාව කරන දිනය සහ වෙලාවත් අහගෙන යන්න ගිහින් තියෙනවා.

ඊට පස්සෙ ඊළඟ සතියෙම ඒ කාන්තාව මම කියපු ඒවත් අරගෙන ආශිර්වාද සෙත් බුද්ධ පූජාවට ආවා. ඇවිත් බුද්ධ පූජාව සකස් කරල පෙරහැරේ ගෙනත් බුද්ධ ආසන මත තැන්පත් කරනවත් එක්කම මම දැක්කා, එදා ඒ කාන්තාවත් එක්ක ආපු මියගිය ඥාතියත් ඇවිත් ඉන්නව කියල. ඉතින් බුද්ධ පූජාවත් තැන්පත් කරල සෙත් බුද්ධ පූජාව තියන්න ආරම්භ කරනවත් එක්කම, ඒ ඥාතියා ළඟ තවත් මියගිය ඥාතීන් 20 - 25 විතර විසාල පිරිසක් ඇවිත් එකපාරටම ඒ ඥාතියාගෙ ඇඟට පැනල බිම දාගෙන අනික් මියගිය ඥාතීන් ඔහුගෙ ඇඟ උඩ නැග්ගා. එක ඥාතියෙක් තමන්ගෙ අතින් බිම වැටුන ඥාතියගෙ එක ඇහැක් වහගත්තා. තව කෙනෙක් ඇවිත් අනික් ඇහැ වහගත්තා. තවත් කෙනෙක් ඇවිත් කනේ ඇඟිල්ලක් ගැහුවා. මේ විදිහට ඒ විසාල පිරිස එකට එකතු වෙලා ඔහුගෙ ඇඟ උඩ නැගල විසාල කලබලයක් කරනවා. මේ වගේ සිදුවීමක් මම කිසිම දවසක දැකල තිබුනෙ නෑ. මමත් ඉතින් ඒ නිසා බලාගෙන හිටියා මේ අය මොකද කරන්නෙ කියල. එක අමනුස්සයෙක්ගෙ ඇඟට 20 - 25 ක් පැනල ඔහුව බිම දමාගෙන ඇඟ උඩ නැගල කරදර කරනවා. දැන් මේ අමනුස්ස

ඥාතියාට හෙල්ලෙන්නවත් බෑ. කනේ ඇඟිලි පවා ගහල මහ කරදර බාධක ඔහුට කළා.

මමත් ඉතින් බුද්ධ පූජාව තියන අතර මේ අය මොකද කරන්නෙ කියල වරින් වර බලාගෙන හිටියා. මේ විදිහට කරපු කරදර බාධක, ආශිර්වාද සෙත් බුද්ධ පූජාව තියල අවසාන වෙනකල්ම තිබුනා. මම ඉතින් බුද්ධ පූජාව තියල අවසන් කරල ආශිර්වාද ගාථාත් කියල එතනින් නැගිටිනවත් එක්කම, ඒ ඥාති පිරිසත් නැගිටල එතනින් ඉවත් වුනා. අර බිම වැටිල හිටිය ඥාතියා නැගිටල වට පිට බැලුවා මොකද වුනේ කියල. ඒ ඥාතියා දන්නෙත් නෑ. ආශිර්වාද බුද්ධ පූජාව තැබීම, පින් අනුමෝදන් කිරීම ආදී කිසිවක්ම දන්නෙත් නෑ, දැකලත් නෑ. ඒ ඥාතියාට පින් අනුමෝදන් වෙන්න දුන්නෙත් නෑ. ඒ කාන්තාවත් බුද්ධ පූජාව අවසන් වුනාට පස්සෙ පිටත් වෙලා ගියා. අර ඥාතියත් ඒ කාන්තාව පස්සෙන්ම ගියා. ඇගේ ලෙඩේ හොඳ වුනෙත් නෑ. පසු කාලයක ඇය මටත් බනිනවා කියල ආරංචි වුනා. මේ විදිහට අබේරත්න උපාසක මහත්තය අපිත් එක්ක ඒ විස්තරයත් කිව්වා.

අපි ඉතින් අබේරත්න උපාසක මහත්තයගෙන් ඇහුවා, ඒ විදිහට පින් ගන්න දුන්නෙ නැත්තෙ ඇයි, එහෙම අනික් අය ඒ ඥාතියාට කරදර බාධා කළේ ඇයි කියල. එතකොට මහත්තය ඒ කාරණයත් මේ විදිහට පැහැදිලි කළා. ස්වාමීන් වහන්ස, **ඔය ජීවත් වෙලා ඉන්න කාලෙ සමහර අය ඥාති බත් තියන්න, ප්‍රේත තටු තියන්න, පුද පූජා තියන්න බාධා කරනවා. ඒ බාධා කරන, අපවාද අගෞරව කරන අය, ඥාති බත්, කැප දාන... ආදිය වළක්වන අය, ශ්‍රී මහා බෝධීන් වහන්සේට, රුවන්වැලි මහා සෑයට, සමාධි ප්‍රතිමාවලට සිවුරු පිරිකර, දානමාන පූජා කරනකොට, ඕවා අවශ්‍ය නෑ, ඕවාට වියදම් කරන දේවල් නැතිබැරි මිනිස්සුන්ට දෙනව නම් පුජ කරල විසි කරනවට වඩා හොඳයි... ආදී වශයෙන් ඔය විදිහෙ අදහස් දරන අය, ඒ සඳහා අනික් අයටත් උපදෙස් දෙන අය, ඒ වගේ දේවල් අනුමත කරන අය, ඒවා අනුමෝදන් වෙන ඔය වගේ අයට තමයි මියගියාට පස්සෙ පින් අනුමෝදන් වෙන්නවත්, ඥාති බතක් ගන්නවත් අවස්ථාවක් දෙන්නෙ නැත්තෙ. ඒ අර විපාකය නිසා. අනික් අය ඇවිත් ඒ ඒ ලෝකවලදිත් කරදර බාධා කරනවා, තොපි අපේ කෑම බීම වැළැක්වුවා, අපිට කන්න දෙන්න දුන්නෙ නෑ... ආදී වශයෙන් කිය කියා. ජීවත් වෙලා ඉන්න කාලෙ කරපු විදිහටම ඒ ඒ ලෝකවලදිත් තමන්ට ඒවට විපාක විඳින්න සිද්ධ වෙනවා. ඔය එහෙම බාධාවක් තමයි ඇවිත් තිබුනෙ.**

වර්තමානයේ සමහර අය ඉන්නවා මෙහෙමත් කතා කියන. අපේ අම්මා, එහෙමත් නැත්නම් තාත්තා මියගිය දවසෙත්, මියයන්න ඉස්සෙල්ල දවල් කෑම මේසයට ඇවිත් කෑම කෑවා. එහෙම නැත්නම් උදේ කෑම කෑවෙත් කෑම මේසයට තියල. මියගිහින් දවස් කීයද? අපිට පුළුවන්ද තාත්තට අම්මට කෑම ටිකක් කෙසෙල් කොළයක දාල ගේ පිළිකන්නෙ තියන්න, වැට ළඟින් තියන්න, උඹලා හදන්නෙ අම්ම තාත්ත ප්‍රේතයො කරන්නද? මම නම් කවුරු කිව්වත් එහෙම කරන්න දෙන්නෙ නෑ... ඔය ආදී වශයෙන් කියන අය මේ කාලෙ හරියට ඉන්නවා.

එහෙම එක එක දෘෂ්ටිවලට බැහැල දෘෂ්ටි ගතවෙලා, ඥාති බත්, ප්‍රේත තටු වළක්වනවා. ඒවා හරි භයානකයි. තමන් අකමැති නම් නොතිය හිටියට කමක් නෑ. හැබැයි අනික් අය කරන ඒවාට පහර ගහන එක, ඒවා වළක්වන එක ඊටත් වඩා භයානකයි. මොනව කරන්නද? මේ ශ්‍රී සද්ධර්මය යටපත් වුනාම, දහම් අදහස් යටපත් වුනාම, ධර්මය අධර්මය තෝර බේරගන්න බැරි වුනාම, දහම් අවබෝධයක් ලබපු කෙනෙක් කිව්වත් පිළිගන්න කැමති නෑ. වැඩි පිරිසක් තීන්දු තීරණ ගන්නෙ භෞතිකව පෙනෙන, ඇහෙන දේවල්වලින් විතරයි. ඒ වුනාට ඒක එහෙම වෙන්නෙ නෑ. තමන්ට නොපෙනෙන සියල්ල නෑ කියන්න බෑ. එහෙම කොහොමද කියන්නෙ? අද වැඩි දෙනෙක් කියන්නෙ අපාය කොහෙද තියෙන්නෙ, දිව්‍ය ලෝකෙ කොහෙද තියෙන්නෙ, ඒ සියල්ලම මේ ලෝකෙම තමයි තියෙන්නෙ කියල.

වී ඇටයක් දිහා බලල එක් කෙනෙක් තර්ක කරනවා වී ඇටය කියන්නෙ මෙච්චරයි කියල. නමුත් අපි දන්නවනෙ වී ඇටය පොළොව මඩ කරල මඩට දාපුවම ඒක පැළ වෙලා විසාල ගොයම් ගහක් හැදිල ඒකෙ වී ඇට කොච්චර නම් හැදෙනවද? ඒ වී ඇට සියල්ල නැවත මඩට දැම්මම තව ගොයම් ගස් කීයක් නම් හැදෙනවද? ඒවායෙ වී ඇට කොච්චර නම් තියෙනවද? නමුත් වී ඇටය මොන තරම් කුඩාද? හැබැයි ඒකෙ ඇතුලෙ තිබුන ශක්තිය කොච්චරද? ඒවා දැක්කෙ නෑ, පෙනුනෙ නෑ. ඒ වගේ තමයි, තමන් දැක්කෙ නෑ පෙනුනෙ නෑ කියල ඒක නෑ කියන්න බෑ. ඒ වගේ සමහරු තමන්ගෙ මත අදහස් තමයි ධර්මය හැටියට කියන්නෙ කරන්නෙ. අපිට ඉතින් ඒවා අනුමත කරන්න බෑ. ධර්මානුකූලව තේරුම් ගන්න අපි පුරුදු පුහුණු වෙන්න ඕන. ඒ සඳහා අපි දැනුවත් වෙන්න ඕන... මේ ආදී වශයෙන් අබේරත්න උපාසක මහත්තය දීර්ඝ වශයෙන් කළ ධර්මානුකූල පැහැදිලි කිරීමක සාරාංශයක් තමයි මම මේ කිව්වෙ.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...



13 වන කොටස

**සංයුක්ත නිකාය - 3**

**නකුල පිතු සූත්‍රය - 3 පිටුව**

යමෙක් මේ කය පරිහරණය කරමින් මොහොතකුදු නිරෝගී බවක් ප්‍රතිඥා කරන්නේ නම් ඒ බාල බව මිස වෙන කුමක්ද? ගිලන් කය ඇති මගේ හිත නොගිලන් විය යුතුයි යනුවෙන් හික්මිය යුතුයි.

පංචස්කන්ධය සත්කාය දෘෂ්ටියෙන් යුතු වන්නහුට එහි විපරිනාමයේදී, අන්‍යතාවයට පෙරළීමේදී සෝක, පරිදේව, දුක්ඛ, දෝමනස්සයෝ, උපායාසයෝ හට ගැනීම හිතේ ගිලන් බවයි.

පංචස්කන්ධය තෘෂ්ණා දෘෂ්ටියෙන් වැළඳ නොගත් විට, විපරිනාමයේදී අන්‍යතාවයට පෙරළීමේදී කම්පා ඇති නොවේ. මෙයයි හිතේ නිරෝගී බව.

**හාලිද්දිකානි සූත්‍රය - 15 පිටුව**

කර්ම විඤ්ඤාණ ප්‍රත්‍ය සංඛ්‍යාත රූපය ගෙයයි (ගෘහයයි). රූප ස්කන්ධයෙහි ඇලීමෙන් බැඳුන විඤ්ඤාණය ගෙයි වාසය කරන්නාය. වේදනා ස්කන්ධය ගෙයයි. වේදනා ස්කන්ධයාගේ ඇලීමෙන් බැඳුන විඤ්ඤාණය ගෙයි වාසය කරන්නාය. සඤ්ඤා ස්කන්ධය ගෙයයි. එහි ඇලීමෙන් බැඳුන විඤ්ඤාණය ගෙයි වාසය කරන්නාය. සංඛාර ස්කන්ධය ගෙයයි. එහි ඇලීමෙන් බැඳුන විඤ්ඤාණය ගෙයි වාසය කරන්නාය. රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, ධර්ම යනු නිමිති ගෘහ වේ. ඒවායේ කෙළෙස් සහිත හැසිරීම ගෘහචාරීය.

**සමාධි භාවනා සූත්‍රය - 23 පිටුව**

රූප, වේදනා, සඤ්ඤා, සංඛාර, විඤ්ඤාණ මැනවැයි කියා බැසගෙන සිටින අයට ඇතිවන ඒ තෘෂ්ණාවෝ උපාදානයයි. එවිට භව, ජාති, ජරා, මරණ වේ. නොපතන විට, මැනවැයි නොගන්නා විට, බැස නොසිටින විට තෘෂ්ණා නිරෝධ වේ. එවිට උපාදාන, භව, ජාති, ජරා, මරණ, නිරෝධ වේ.

**භාර සූත්‍රය - 47 පිටුව**

භාර නම් පංච උපාදානස්කන්ධයයි. භාර නම් පුද්ගලත්වයයි. උපාදාන දරන පුද්ගල තෙම භාරහාර නම් වේ. එබැවින් භාර හාර දුකකි.

**තතිය අස්සාද සූත්‍රය - 53 පිටුව**

පංචස්කන්ධයෙහි ආස්වාදය නිසාම සත්ත්වයෝ ඇලෙති, බැඳෙති. ආදීනවය නිසාම නොඇලෙති, නොබැඳෙති. නිස්සරණය නිසාම මිදෙති. විස්තර ඇත.

**පභංගු සූත්‍රය - 59 පිටුව**

රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ බිඳෙන සුළුය. ඒවායේ නිරෝධය වූප සමය, අත්තංගමය නොබිඳෙන සුළුය.

**පළමු වන නතුම්භාක සූත්‍රය - 61 පිටුව**

පංචස්කන්ධය පිළිබඳ ඡන්ද රාගය දුරු කළ විට, තණකොළ ආදිය අතුගා දැමූ කල මිනිසුන් ඒවා ගෙන ගියත්, දැවිවත්, ඒ ගැන නොසිතෙන ලෙස මෙන් පෙන්වයි.

**පළමු වන ආනන්ද සූත්‍රය - 67 පිටුව**

රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ යන මේවායේ උපත පැනෙයි (පැනවෙයි), වැය පැනෙයි, සිටියහුගේ අන්‍යතාවය පැනෙයි.

**අත්ථදීප සූත්‍රය - 77 පිටුව**

පංචස්කන්ධය අනිච්ච, විපරිනාම, විරාග, නිරෝධ ධර්ම වශයෙන් දකින විට ඒවා කෙරෙහි කම්පා නොවෙයි. එවිට සුවසේ වාසය වේ. මේ තදංග නිබ්බානයයි. විස්තර ඇත.

**ඛන්ධ සූත්‍රය - 85 පිටුව**

ස්කන්ධ පහට අයිති වන සියල්ල දක්වයි.

**බීජ සූත්‍රය - 95 පිටුව**

රූපයට පිහිටි, රූප අරමුණු කර සිටි කර්ම විඤ්ඤාණය නන්දි රාග නමැති ජලයෙන් තෙත් වී වැඩීමට පැමිණේ.

වේදනාවට, සංඥාවට, සංඛාරයට පැමිණි කර්ම විඤ්ඤාණය තෘෂ්ණා දියෙන් තෙත් වී වැඩීමට පැමිණේ.

රූපය හැර, වේදනාව හැර, සංඥාව හැර, සංඛාර හැර, කර්ම විඤ්ඤාණයක වැඩීමක්, යාමක්, සිටීමක්, චුතියක්, උපතක් නොවේ. විස්තර ඇත.

රූපයෙහි ඡන්ද රාගය ප්‍රහීණ නම් කර්ම විඤ්ඤාණයේ පිහිටීමක් නොවේ. වේදනා, සංඥා, සංඛාරවල ඡන්ද රාගය ප්‍රහීණ නම් කර්ම විඤ්ඤාණය නොපිහිටයි. එවිට විමුක්තිය වේ.

**නිරුක්ති පථ සූත්‍රය - 123 පිටුව**

**තථාගතයන් වහන්සේත් නැණවත් මහණ බමුණනුත් ඉවත් නොකළ නිරුක්ති පථ 3 කි. එනම්, අතීතය හඟවන වූයේය, වර්තමානය හඟවන වෙයි, අනාගතය හඟවන වන්නේය යන තුනයි.**

## අස්සජි සූත්‍රය - 215 පිටුව

කාය සංඛාර සංසිඳවා, ධ්‍යානලාභීව සිටි අස්සජි හිමියන් අසනීපව සිටි විට ඒ ධ්‍යානයට සම වදින්න නොහැකි වී විපිළිසරව සිටි මොහොතක බුදු පියාණන් වහන්සේගේ අනුසාසනාවක් ලැබුන අයුරු පෙන්වයි. සමාධිය සාර කොට, ශ්‍රමණ බව කොට සිටින කෙනෙකුට නම් මෙය විපිළිසර වන්න කරුණක් බවත්, පංචස්කන්ධය අනිච්ච, දුක්ඛ, අනත්ත ලෙස බලා කෙලෙස් දුරු කර ගන්නා ලෙසත් අනුසාසනා කර ඇත.

## චන්න සූත්‍රය - 227 පිටුව

කච්චායන ගොත්ත භික්ෂුවට අවවාද කරන බුදු පියාණන් වහන්සේ හමුවෙහි ආනන්ද හිමියන් ඇසූ දහමක් චන්න හාමුදුරුවන්ට කියන අයුරු මෙසේ පෙන්වා ඇත. ලෝ වාසී තෙමේ, සසර බොහෝ කලක් ඇති බවද, නැති බවද දෘෂ්ටි ලෙස ඇසුරු කළ බැවින්, වීම - නොවීම හිතන විට යථාවබෝධයට බාධා වන හැටිත්, විදසුන් නුවණින් යථාර්ථවත්ව ලෝක සමුදය දකින විට නැත යන දෘෂ්ටිය නොඑන බවත්, ලෝක නිරෝධය තතු සේ දකින විට ඇත යන දෘෂ්ටිය නොවන බවත් පෙන්වා, මේ අන්ත දෙක දුරු කොට මධ්‍ය පිළිවෙත අනුගමනයෙන් විමුක්තිය දකින බවත් පෙන්වා ඇත.

## ඵේනපිණ්ඩූපම සූත්‍රය - 241 පිටුව

රූප පෙණ පිඩක් මෙන්ද, වේදනා දිය බුබුලක් මෙන්ද, සඤ්ඤා මිරිඟුවක් මෙන්ද, සංඛාර කෙසෙල් කඳක් මෙන්ද, විඤ්ඤාණ මායාකරුවෙක් මෙන්ද, පංචස්කන්ධය හිස් වූවක් - බොල් වූවක් - හරයක් නැති ලෙසද වටහා ගත් විට විමුක්තිය ලැබෙන බව පෙන්වයි.

## වාසි ජටෝපම සූත්‍රය - 263 පිටුව

කිකිළියක් බිත්තර රකින විට, මගේ පැටව් දැන් මෝරනවා, දැන් කටුව පලාගෙන එළියට එනවා යැයි අදහසක් නැතත් ක්‍රමානුකූලව රැකීමේදී, උණුසුම් කිරීමේදී එය සිදුවන සේ, ආර්ය මාර්ගය වඩන භික්ෂුව දැන් මෙතෙක් කෙලෙස් සංසිඳුනා යැයි අදහසක් නැතත් කෙලෙස් ගෙවී ගොස් විමුක්තිය ලැබෙන බව පෙන්වයි.

සත්තිස් බෝ පැකි දම් වඩන විට මෙසේ ලැබෙන බව පෙන්වා, වෑ මිටේ උපමාවද පෙන්වා ඇත. වෑයෙන් වැඩ කරන කෙනෙකුට වෑ මිටේ ඇඟිලි සලකුණු පිහිටන විට, අද මෙතෙක් පිහිටියා, ඊයේ මෙතෙක් පිහිටියා යැයි නොපෙනුනත්, පසු කලෙක එසේ පිහිටා ඇති හැටි පෙනෙන ලෙස මාර්ග ඵල පෙනෙන අයුරුද පෙන්වයි.

## අන්ත සූත්‍රය - 273 පිටුව

අන්ත 4 ක් පෙන්වයි. සත්කාය, සත්කාය සමුදය, සත්කාය නිරෝධය, සත්කාය නිරෝධ පටිපදාව මේ අන්ත 4 යි.

පංච උපාදානස්කන්ධය සත්කාය අන්තයයි. එහි පුනර්භවය කරන නන්දි රාගය සමුදය අන්තයයි. එම තෘෂ්ණාව නිරෝධය සත්කාය නිරෝධ අන්තයයි. අරි අටඟි මග නිරෝධ ගාමිණි පටිපදා අන්තයයි.

## සෝතාපන්න සූත්‍රය / අරහන්ත සූත්‍රය - 279, 281 පිටු

පංච උපාදානස්කන්ධය පිළිබඳව උදයංගමය, අත්තංගමය, ආස්වාදය, ආදීනවය, නිස්සරණය තතු සේ දකීද, සතර අපායේ නොවැටෙන සෝතාපන්නයෙක් වේ. එසේ දැන උපාදාන වශයෙන් මිදේද අරිහත්වයයි.

## අවිජ්ජා සූත්‍රය - 285 පිටුව

රූප, වේදනා, සංඥා, සංඛාර, විඤ්ඤාණ තතු සේ නොදනීද සමුදය, නිරෝධය, මාර්ගය නොදනීද අවිද්‍යා යැයි කියනු ලැබේ. දනීද විද්‍යා යැයි කියනු ලැබේ.

## සංයෝජනීය සූත්‍රය - 293 පිටුව

පංචස්කන්ධය සංයෝජනීය ධර්මයි. (එනම් සංයෝජනයට හිත කරයි.) එහි ඡන්ද රාගය සංයෝජනයයි.

## ඛන්ධ සූත්‍රය - 449 පිටුව

පංචස්කන්ධය අනිච්ච, විපරිනාම, අන්‍යථාවයට පත් වන බව අදහාද සතර අපායට නොවැටේ. සෝතාපන්න ඵලය ලබන තුරු කළුරිය කරන්නට අභව්‍යයි.

## සුචිමුඛී සූත්‍රය - 473 පිටුව

සැරියුත් තෙරණුවන් පිණ්ඩපාත කරගෙන ගසක් මුල සිට වළඳන විට සුචිමුඛී නම් පරිබ්‍රාජිකාව ඇසූ ප්‍රශ්නවලට දුන් පිළිතුරු

යටි මුව බලා වැළඳීම -
වාස්තු විද්‍යා ආදි තිරච්චීන විද්‍යාවෙන් වාසය කිරීමයි.

උඩු මුව බලා වැළඳීම -
නක්ෂත්‍ර බලා දිවි ගෙවීමයි.

වටපිට, සිවු දිග බලා වැළඳීම -
ගිහි අණපනත් ගෙන යමින් දිවි ගෙවීමයි.

අනුදිග බලා වැළඳීම -
අංග විද්‍යා ආදියෙන් දිවි ගෙවීමයි.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.*

**සටහන**
**නිතිඥ චන්දන සිරිවර්ධන**






**05** කොටස

# නිවන් මගේ පැටළුනු තැන්

සසර සැරිසරන සත්ත්වයින් අතර මනුස්සයාගේ බලාපොරොත්තු (තණ්හාමූල) 4 ආකාරයකින් පෙන්වන්න පුළුවන්. පැතීමේ බලාපොරොත්තු, රැස් කිරීමේ බලාපොරොත්තු, විඳීමේ බලාපොරොත්තු, දැන ගැනීමේ බලාපොරොත්තු තමයි ඒ හතර. බලාපොරොත්තු පිණ්ඩයක් වූ මනුස්සයා අසීමිත බලාපොරොත්තුවලින් පිරිල ඉන්නෙ. කොච්චර ප්‍රිය මනාප දේ ලැබුනත් මදි. ආසාවන්ගෙන් ඉහවහා ගිය යම් ප්‍රිය මනාප දෙයක් ලැබෙනවද, එබඳු තවත් දේකට ආසා කරනවා. ඒකත් ලබාගෙන අතීත වූ ආස්වාදයන් මතකයට නගමින් තවත් ලබන්න ආසා කරනවා. මේ විදිහට එකින් එක බලාපොරොත්තුවලින් පිරිල පවතිනවා. අත්හැරීමක් නැති, නොඇල්මක් නැති, මිදීමක් නැති මේ මනුස්සයින්ගේ බලාපොරොත්තු අසීමිත නිසා නිවනක් කොහොම දකින්නද?

**සමහර අය ලෞකික අරමුණක පිහිටල භාවනා කළාම ඇතිවෙන නොයෙක් ස්වභාවයන්ට නිවන කියල රැවටෙනවා. එකක් අත්හැරල තව එකක් අල්ල ගන්නවා. යම් රූපයක්, වේදනාවක්, සංඥාවක්, සංඛාරයක්, විඤ්ඤාණයක් පිළිබඳව ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති පිළිබඳ තාවකාලික නිවුනු ස්වභාවයන් පිළිබඳ ඇලිල බැඳිල නිවන ලැබුනයි කියල රැවටෙනවා.**

අපි ඇහෙන් ගහක රූපයක් දකිනවා කියල හිතමු. අපේ ඇහැ කරා ගහෙන් ආවෙ මොනවද? ගහෙන් යමක් එනව නම් කළුවර වෙලාවට ගහ පේන්නෙ නැත්තෙ ඇයි? ගහේ තියෙන සතර මහා භූත කොටස් අරගෙන බලනකොට මේ විදිහට රූප ධාතු කොටස් 4 කට බෙදල බලන්න පුළුවන්. රූප කියන්නෙ වෙන එකක්. රූප ධාතු කියන්නෙ රූප පහල කරන්න හේතු කාරක වූ මූලයන්. ඒ මොනවද?

ගහේ ලීය වේළල කුඩු කළා නම් පඨවි කොටස කුඩු වශයෙන් වෙන් වෙනවා. මිරිකල ගත්ත නම් ගහේ කොළ, පොතු, ලීවල තිබ්බ්ච ද්‍රවය ආපෝ කොටස විදිහට වෙන් වෙනවා. මිරිකෙනකොට වායු කොටස ඉවතට යනවා. ගිනි තිව්ව නම් උෂ්ණ හෙවත් තේජෝ කොටස වෙන්වෙලා ඉවත් වෙනවා. මේ විදිහට ප්‍රධාන වශයෙන් තද කොටස, ජල කොටස, වායු කොටස, ගිනි කොටස වෙන් කරගන්න පුළුවන්. මේ විදිහට ගහේ තිබ්බ්ච ප්‍රධාන කොටස් හතරෙන් එකක්වත් අපේ ඇහැට යොමු වෙලා ස්පර්ශ වුනේ නෑ. එහෙනම් සිද්ධ වුනේ මොකක්ද?

මේ කොටස් හතරෙන් හැදිල තියෙන දේවල්වලට ආලෝකය වැටීමෙන් ආලෝකය සමග ඇති වර්ණ ක්‍රියාකාරීත්වයක් අනුව ආලෝක වර්ණ කිරණ ඇහේ ස්පර්ශ වීම. ආලෝකය ද්‍රව්‍ය වස්තුවලට උරා ගනිමින්, උරා නොගත් කොටස අවට ලෝකයට පරාවර්තනය වෙනකොට ලම්භක රේඛා විදිහට අපේ ඇහේ පතිත වෙනවා. චක්ඛු ප්‍රසාද නම් ස්ථානයේ මේ වර්ණ ආලෝක කිරණ ස්පර්ශ වුනාම ඒ ස්පර්ශයන්ගේ ස්වභාවයන් ගැනීමේ බලාපොරොත්තුව අනුව ඇතිවෙන ආසාව, බැඳීම, පහල වීම කියන කරුණු නිසා සකස් වුන චක්ඛායතනයේ ඒ ස්පර්ශයන් නිසා අනුකූල වූ දැනීම පහල වෙනවා. කණ්ණාඩියක ආලෝකය තියෙනකොට වැද්දගන්නා ඡායාව වගේ, ආලෝක වර්ණ ස්වභාවයන් චක්ඛු ප්‍රසාදයේ වැදෙනකොටම ස්පර්ශයත්, වේදනා හෙවත් දැනීමත්, ඒ වර්ණ හැඳිනීම් ස්වභාවය හෙවත් සඤ්ඤාවත් ඇතිවෙනවා.

මේ විදිහට ඒ වර්ණ කිරණ මාත්‍රයක් ස්පර්ශ වෙනකොටම අරමුණු දැන ගැනීම් ලක්ෂණ චිත්තයත්, ඒ සමගම පෙර පසු නොවී ස්පර්ශ, වේදනා, සංඥා, චේතනා, ඒකාග්‍රතා, ජීවිතේන්ද්‍රිය, මනසිකාර කියන චෛතසික හතත් පහල වෙනවා. ඒ වගේම ඇති කරගෙන තිබ්බ්ච ගති ලක්ෂණ අනුව සුදුසු පරිදි චෛතසික ධර්මත් පහල වෙනවා. මේ චිත්තක්ෂණ එකක ආයු කාලය තත්පරයකින් කෝටි ලක්ෂයෙන් පංගුවක් තරම් ඉතා සුළුයි. මේ විදිහට චිත්තක්ෂණයක් තුලදි හට ගත්ත චිත්ත චෛතසික ධර්ම ඒ සමග බිඳිල යනවා. නමුත් නැවත රූප කලාපයක් (ආලෝක කිරණ ඒකකයක්) ඒ පළමු මාත්‍රය කෙළවර වෙනකොටම චක්ඛු ප්‍රසාදයේ වදිනවා. එතකොට නැවතත් එබඳුම ස්පර්ශ මාත්‍රයක් වෙනවා. මේ ආලෝක කිරණ ඒකකයක් චක්ඛු ප්‍රසාදයේ වදින කාලයක් තුල ඒ චක්ඛු ප්‍රසාද රූපය 17 වතාවක් කම්පනය වෙනවා. ඒක ධර්ම නියමයක්. ඒ කම්පනයට අනුකූලව වස්තු රූපය කියන සුද්ධාෂ්ටක පරමාණුවත් 17 වතාවක් කම්පනය වෙනවා. ඒකට හෘද රූපය කියල කියනවා. එතකොට ඒක ඇසුරු කරල තියෙන මනෝ ධාතුව 17 වතාවක් කම්පන ස්පර්ශ ලබනවා. ඒ නිසා ආලෝක කිරණ ඒකකයක් වැදීමෙන් ඇති කරපු ශක්තිය හේතු කොටගෙන මනෝ ධාතුව හෘද රූපය මගින් 17 වතාවක් කම්පනය ලබන නිසා ස්පර්ශ වාර 17 කුත්, ඒ සමගම මනෝ ධාතුවේ දැනීම් වාර හෙවත් වේදනා වාර 17 කුත්, සංඥා වාර 17 කුත්, චේතනා වාර 17 කුත්, විඤ්ඤාණ වාර 17 කුත් සුදුසු පරිදි ලබනවා.

තවත් විදිහකට කියනව නම් හැම චිත්තක්ෂණයක් පාසාම ස්පර්ශ, වේදනා, සංඥා, චේතනා, ඒකාග්‍රතා, ජීවිතේන්ද්‍රිය, මනසිකාර කියන චෛතසික එක බැගිනුත්, සුදුසු පරිදි පුණ්‍ය පාප ආදී විපාක සිත් අනුව ඒ මොහොතේම

පහල වෙන චෛතසිකයන්ගෙන් එක බැගිනුත් පහල කරමින් චිත්තක්‍ෂණ 17 ට චෛතසික ක්‍ෂණ සුදුසු විදිහට පහල වෙනවා.

මේ විදිහට චිත්තක්‍ෂණයක ආයු කාලය තත්පරයකින් (ක්‍ෂණයකින්) කෝටි ලක්‍ෂයෙන් පංගු එකක් නම්, ආලෝක කිරණ ඒකකයක් වැදිල ඊළඟ ආලෝක කිරණ ඒකකය වදින්න යන කාලය චක්ඛුද්වාර චිත්ත වීථි එකක් සහ මනෝද්වාර චිත්ත වීථි 3 ක් ගියාට පසුව සිද්ධ වෙනවා. මේ ආලෝක කිරණ ඒකකයත් රූප කලාපයක්මයි. සිත ගැන මුළා අදහසින් වටහා ගත්ත අය මේ රූප කලාපවලට නාම කලාප කියලත් අර්ථ දෙන්න උත්සාහ කරන බව පහුගිය කාලයේ එළි දක්වපු එක්තරා පොත් පෙළක දකින්න තියෙනවා. ඒ පොත් අනුව නවීන විද්‍යා සම්මත පරමාණුවෙන් බිඳිල ඉලෙක්ට්‍රෝන, ප්‍රෝටෝන කියල භාවිතාවට අරගෙන තියෙන සියුම් කොටස නාම කලාප කියල තර්ක ඉදිරිපත් කිරීමකින් ඔප්පු කරන්න යෑමෙන්, ඒ ඉලෙක්ට්‍රෝන, ප්‍රෝටෝන ආදියට වඩා අති සියුම් වූ ආලෝක කිරණ ඇසේ චක්ඛු ප්‍රසාදයේ වැදෙන බව වටහා ගන්න බැරිව, නවීන විද්‍යා සම්මත පරමාණුව වගේ රූප කලාප ස්පර්ශ වෙනවයි කියල හිතාගෙන ඇහැට රූප වදින බව පිළිගන්නවා.

තමන්ගෙ මනස තුලම විකෘතියක් තියෙන බව තේරුම් ගත්ත නම් “චක්ඛුංච පටිච්ච රූපේච උප්පජ්ජති චක්ඛු විඤ්ඤාණං” කියන බුද්ධ දේශනාව විකෘති කරල රූප කලාපවලට නාම කලාප කියන්න උත්සාහ කරන්නෙ නෑ. ආලෝක කිරණ ඒකකය කොච්චර සියුම් වුනත් රූපම මිසක් නාම නොවන බව සර්වඥතා ඥානයෙන් දැනගත්ත බුදුන් වහන්සේ, චක්ඛු ප්‍රසාදයේ මේ ආලෝක කිරණ ඒකක නම් වූ රූප සට්ටනය වීම සිද්ධ වෙන බව දේශනා කරල තියෙනවා. කිසිවිටෙකත් කොච්චර සියුම් වුනත් රූප රූපමයි. නාම නෙවෙයි. කිසිම විදිහකින් සුද්ධාෂ්ටක කියන රූප කලාපයකින් එක කොටසක්වත් වෙන් කරන්න බැරි බව සර්වඥ වූ ලොව්තුරා බුද්ධ දේශනාව බවත් තේරුම් ගන්න ඕන.

මේ විදිහට චක්ඛු ප්‍රසාද, සෝත ප්‍රසාද, ඝාන ප්‍රසාද, ජිව්හා ප්‍රසාද, කාය ප්‍රසාද කියන මේ ප්‍රසාද රූපවලට විෂය වන බාහිර වර්ණ රූප, ශබ්ද රූප, ගන්ධ රූප, රස රූප, ස්පර්ශ රූප කියන මේවාට එකතු වෙන්න, ස්පර්ශ වෙන්න, ආස්වාද ලබන්න හේතු වෙන විදිහට සුද්ධාෂ්ටක රූප පරමාණුවලින් හැඩ ගස්වන රූප ස්කන්ධ හේතුකොටගෙන අභ්‍යන්තර ලෝක හෙවත් ශරීරත්, බාහිර ලෝක හෙවත් කාම, රූප ආදී ලෝකත් භව ශක්තියෙන් පහල කරනවා. ඒ නිසා ශරීර සහ ලෝක ධාතුව භව්‍ය (භව) නම් වෙනවා. පහල නොකළ තැන අවකාශය වෙනවා. භව්‍ය නොකළ අවකාශය අභ්‍යාකාශය හෙවත් අභ්‍යවකාශය වෙනවා.

මේ භව හෙවත් භව්‍ය බවට ශක්තිය ලැබෙන මග මොකක්ද? **රූප ධාතු අනන්තයි. සත්ත්වයොත් අනන්තයි. යම් තාක් අසීමිත වූ අනන්තයේ රූප ධාතුත් තියෙනවා, සත්ත්වයොත් ඉන්නවා. ඒ හැම සත්ත්වයෙක්ම භවයක හෙවත් පහල කිරීමක නිරත වෙලා ඉන්නවා.** භව ශක්තිය පහල කරනවා. ගතිය හැඩ ගසනවා. හැඩ ගැසීමක්, පහල කිරීමක් නැත්නම් මනින්න කිසිවක් නෑ. දිග, පළල, ලොකු, කුඩා... ආදී වශයෙන් හෝ සැප දුක් වශයෙන් හෝ හොඳ නරක වශයෙන් හෝ ලස්සන අවලස්සන වශයෙන් හෝ කෙබඳු වූ ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති වශයෙන් හෝ මැනීමක් වෙන්න නම් පහල කිරීමක්, හැඩ ගැසීමක් විය යුතුයි. මේ මැනීමට අවශ්‍ය නිපැයුම් සිද්ධ කරන්නෙ ශක්තියකින්. ඒ මනෝ ධාතු නම් වූ ශක්ති මූල හේතු කරගෙන මනෝ විඤ්ඤාණ ධාතු නම් මතක රැහැනේ අනුසාරයෙන් ඇති කරන මානසික නිර්මාණ, තණ්හා හෙවත් බලාපොරොත්තුවත්, උපාදාන හෙවත් බලාපොරොත්තුවෙන් පෝෂණය වෙලා දැඩිව එල්බ සිටීමත් නිසා භව හෙවත් පහල කිරීම් වෙනවා. මනෝ ධාතුගත ශක්ති මූලය තණ්හාවෙන් ඇදගෙන උපාදානයෙන් බැඳගෙන භවයන් හෙවත් පහල කිරීම් වශයෙන් රූප පරමාණුක සුද්ධාෂ්ටක, ගතියට අනුව හැඩ ගස්වමින් මනින්න දේ පහල කරනවා.

ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති වශයෙන් අතීත වූ මිනුම් මතක අරමුණු කරල, නැවතත් එබඳු ස්පර්ශයන්ගේ බලාපොරොත්තු ඇතිව උපාදාන කරමින් පහල කිරීම් සඳහා කටයුතු කරන්නෙ මේ මනෝ රටාව නිසා “මනෝ පුබ්බංගමා ධම්මා - මනෝ සෙට්ඨා මනෝමයා” කියල බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා.

මේ විදිහට දැන ගැනීමේ බලාපොරොත්තුව යම් තාක් පවතිනවද, ඒ තාක් කෙබඳු හෝ රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ, සිතිවිලි (ධර්ම) ලබන්න අවධානය යොමු වෙනවා. නිතර සෝදිසියකින් ඉන්න ආකාරයක් ඇති වෙනවා. යම් තාක් බලාපොරොත්තු තියෙනවද, ඒ තාක් පරේයෂණ ආසාව ඇති වෙනවා. ඒ තමයි පැවැත්මේ අවිද්‍යාව. ඒ නිසා ඇස, කන, නාසය, දිව, ශරීරය කෙරෙහිත් ඒවාට ගෝචර කරගන්නා රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ කෙරෙහිත් අවධානයෙන් පසු වෙනවා. ඒ තමයි තණ්හාව. ලැබීමේ බලාපොරොත්තුව සමග යෙදෙන චිත්ත ගතිය යම් ආකාරයකින් නාම රූපයන් බලාපොරොත්තු වුනාද ඊට අනුකූල වෙනවා. පැවැත්මේ භවයත් ආකාරයේ ගතියත් එකතු වෙමින් ගති සිත් පහල කරනවා. ඒ භව සහිත වූ, ගති සහිත වූ චිත්ත බලය ඒ විදිහට තණ්හා උපාදානයන් හේතුවෙන් සත්ත්වයා කෙරෙහි පහල වෙනවා. මේ චිත්තය අනන්ත වූ විඤ්ඤාණ ධාතුවේ අනන්තයේ පටන් එන මනෝ විඤ්ඤාණ ධාතුවේ ළඟම පුරුකට සම්බන්ධ වෙලා ඇදිල සිටිනවා. ක්‍ෂණයකින් ඒකත් අතීතගත වෙමින් මනෝ විඤ්ඤාණ ධාතුවට එකතු වුනත්, තණ්හා උපාදාන නිසාම අවිච්ඡින්නව (නොකැඩී) භව ගති ශක්තියෙන් පහල කරන ආයතන හා සම්බන්ධ වෙමින් අනුකූල සිත් පෙළ ගෙන එනවා.

රහතන් වහන්සේගේ චිත්ත නිරෝධ වෙලාවෙදිත් (නිරෝධ සමාපත්තියෙදි) පූර්ව කර්ම විපාකයෙන් පහල වෙච්ච ශක්ති බලපෑම දිගටම ඒ අත්භවයේ පැවැත්මට හේතු වෙන රූප පරපුරේ පහල කිරීම සිද්ධ කරනවා. ඒ නිසා ජීවිත රූපය පවත්වාගෙන යනවා. ඒ භව පරපුර පහල කරපු බීජයේ ගහ වගේ භවය කෙළවර වෙන කල්ම පැවැත්ම ගෙනියනවා.

ජීවත් වීමේ ආසාව හේතුවෙන් දැන ගැනීමේ මූල බලාපොරොත්තුව වෙනවා. ඒ තමයි අරූප පැවැත්ම. වැඩිමනත් දැන ගැනීමේ බලාපොරොත්තුව උඩ ඇස, කන පහල වෙනවා. නාම රූපයෝ ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති වශයෙන් දැකීම, ඇසීම තුලින් දැනෙනවා. එතකොට භව ගතිය අනුව පෙර මතකයනුත් ඒ දැනීම් අවස්ථාවට සම්බන්ධ වෙලා වැටහෙනවා. ඇළුන හැටි, බැඳුන හැටි, ආස්වාද විඳපු හැටි දැනෙනවා. අවිද්‍යාව නිසා එබඳු දේ ළඟට ගන්න, බදාගන්න හිත් නැගිල එනකොටම කාම උපාදාන පහල කරමින් කාම භව ගති ශක්තිය මනෝ මූල ශක්තියෙන් ඇදගෙන අනුරූප ආයතන නිපදවීමේ යෙදෙනවා.

ඒ නිසා නාසය, දිව, ශරීරය පහල වෙනවා. ගන්ධ, රස, ස්පර්ශ ආයතනවලට හේතු කාරක ද්‍රව්‍ය වස්තු බාහිර ලෝකයේ පහල වෙනවා. බාහිර ලෝකය කියල කිව්වත්, මේවත් පිහිටල තියෙන්නෙ අනන්ත විඤ්ඤාණ ධාතුව තුල. මනෝ විඤ්ඤාණ යම් ආකාරයක් භව ගතියක් මුල් කරගෙන ඇසුරු කරල පහල වුනාද, සුදුසු තැන විශ්වයේ ඒ රූප ස්කන්ධයන්ගේ අනුරූප හට ගැනීම වෙනවා. බාහිර ආයතන වෙන්නෙ ඒ රූප ස්කන්ධයන්.

අනන්ත වූ විඤ්ඤාණ ධාතුව ඇසුරු කරගෙන යම් ප්‍රදේශයක භව ගතියක් පහල වෙනවද, රූප ධාතුන්ගෙන් හැඩ ගැස්ම කරමින් අනුකූල වූ සිත් ස්වභාවයට අනුරූපව ඒ ඒ තැන ලෝක පහල වෙනවා. ලෝක සත්ත්වයෝ විශ්වයේ කොතැන උපන්නත් තණ්හා උපාදාන නිසාම පහල කරපු භවයට අනුව වූ ලෝක පද්ධතියක පිහිටන නිසා, එක ලෝක පද්ධතියක් එක සක්වලක් වශයෙන් පිහිටනවා. සක්වලක වාසය කරන සත්ත්වයින්ට අවශ්‍ය ගති රූප ස්ථාන ඒ සක්වලේම සුදුසු පරිදි පිහිටන නිසා යම් ගතියක් ඇත්ද, කාම ගතියට කාම ලෝකය පිහිටනවා. රූප ගතියට සුදුසු තැන රූප ලෝකය පිහිටනවා. අරූප ගතියට රූප සම්බන්ධ නැති නිසා වස්තු රූපය මනෝ ධාතුව අසුරු කරගෙන මනෝ විඤ්ඤාණ ධාතුවත් පිහිටනවා. මතක සටහන් නමැති මනෝ විඤ්ඤාණ ධාතු රැහැනේ බැඳුනු මනෝ විඤ්ඤාණ ඇසුරු කරමින් අරූපී සත්ත්වයොත් මේ විශ්වය තුලම ඉන්නවා.

දැන ගැනීමේ බලාපොරොත්තුව ඉක්මවල විඳීමේ බලාපොරොත්තුව හේතු කොටගෙන කාම වින්දනයට පිවිසෙන සත්ත්වයා, තමන් වසඟයේ රැස් කර ගනිමින් තමන්ගේ පාලනයට යටත් කරල තියාගෙන භුක්ති විඳීමේ කිඳා බැස ගැනීම නිසා රැස් කරන බලාපොරොත්තුවත් වෙනවා. එතැන් පටන් ලෝකයේ පව් කියල සම්මත, දුශ්චරිත කියල සම්මත කටයුතුත් ඇසුරු කරමින් දූෂ්‍ය බවට පත් වෙනවා.

මේ විදිහට දූෂ්‍ය වෙනකොට ලෝභ, ද්වේශ, මෝහ ගති නැගිල එනවා. විශ්වගතව පහල වෙන කාම සම්පතත් ක්‍රමයෙන් දුර්ලභ වෙනවා. ලැබීමේ බලාපොරොත්තුවෙන්, රැස් කරන්න බලාපොරොත්තුවෙන් යුතුව අසීමිත පැතුම් ඇතිව කල් ගෙවෙනවා. අසහනකාරීව තවත් පතනවා. අසීමිතව පතන ලෝක ඇසුරේ සිතිවිලි නිතර නැගෙනකොට මහේච්ච (මහත් බලාපොරොත්තු සහිත) බවට පත්වෙනවා. අසහනකාරී වෙනවා. ගින්නට දමන පිදුරු වගේ කොච්චර ලැබුනත් දාහ ගින්නම වැඩෙනවා මිසක් සැනසුමක් නැතිවෙනවා.

මේ විදිහට ක්‍රමයෙන් ඇලීමේ බැඳීමේ හෙවත් තණ්හා උපාදානවල ප්‍රබලතාවයට පත් වෙලා අසහනයෙන් පෙළෙමින් ලෝකයේ කාලයක් ගෙවනවා. සමහරෙක් ලෞකික තවුස් දම් වඩල මේ ඇලීම් බැඳීම් තාවකාලිකව තවා හරිනවා. එතකොට විද්‍යමාන වෙලා තිබිච්ච කාම තණ්හා උපාදානයන් තාවකාලිකව යටපත් වෙමින් නිදි ගත්තා වගේ අනුසය බවට පත් වෙනවා. අනුව සයනය කරන අර්ථයෙන් අනුසය නම් වෙනවා.

මේ විදිහට කාම තණ්හා නිදි ගත්තම තණ්හා උපාදානයන් කාම භව ගති සඳහා ක්‍රියාත්මක නොවුනත්, දැන ගැනීමේ බලාපොරොත්තුවේ තණ්හා උපාදානයන් සහමුලින්ම නිදි ගන්වන්න බැරි වෙනවා. අන්තිමට නිදි ගන්වන්න පුළුවන් මට්ටමට නේවසඤ්ඤා-නාසඤ්ඤායතන මට්ටමින් එහාට යන්නෙ නැතිව නවතිනවා. නැවතත් මහා කල්ප අසූ හාර දහසකින් අවදි බවට එන තණ්හා උපාදානයන් භව ගති පහල කරමින් සසර සැරිසැරීමට ඇද දමනවා. මේ විදිහට කාලය කා දමමින් මතු දුකට උරුමකම් ඇතිව කරගන්නා මේ වැඩ පිළිවෙල සසර රස්තියාදු වීමක් ලෙස ආර්යන් සළකනවා.

එතැන් පටන් සැරිසරන හැම භව ගතියකම ප්‍රතිඵල විදිහට ලබන අභ්‍යන්තර ආයතන සහිත වූ ශරීරත්, බාහිර ආයතන සහිත වූ ද්‍රව්‍ය වස්තු සහිත ලෝකයත් මොහොතින් මොහොත ගෙවී ගෙවී ගිහින් විනාසයට පත් වීම ධර්මතාවය කරගෙන, ඒ ධර්මතාවයේ වහළෙක් විදිහටම ගොදුරක් විදිහටම පහල වෙලා, වහල් බවටම ගොදුරු බවටම පත් වෙලා, වැනසෙන දේවල් කොච්චර ලැබුවත්, ඒවා අසහනයක්ම දාහයක්ම ගැටීමක්ම ඇති කරමින් විනාස වෙනවා.

බුද්ධිවන්ත වූ සත්‍ය වූ බුද්ධ වචනය අනුව හිතන කොට නුවණින් වටහා ගන්න බෞද්ධයා, මේ ලෝකයේ තතු ගැන මේ විදිහට වටහා ගන්නවා. **ප්‍රියයි කියල ඇසුරු කළත් වැහැරෙනවා, දුර්වල වෙනවා, රෝගී වෙනවා, සැරව වැහෙන ගෙඩියක් වගේ අසහනයන් වගුරු වනවා. පෝෂණය නොකළොත්, පිරිසිදු නොකළොත් ඇතිවෙන දුර්ගන්ධයට පිළිකුලට ප්‍රතිකර්ම නැති නිසා, ඒ ස්වභාවයන්ට මුහුණ දෙමින් උපක්‍රම මගින් පිරිසිදු කළ යුතු නිසා පිළිකාවක් වගේ. කැපෙන කෙටෙන තුවාල වෙන බිඳෙන නිසා සැත්කමක් වගේ. හැමතිස්සෙම පෝෂණය නොකළොත් දාහ ගිනි ඇති කරන නිසා ගින්නක් වගේ. බිය තැති ගැනුම් ඇති කරන නිසා බියට ආකරයක් වගේ. නිතර සිත් තැවුල් සෝක ඇති කරන නිසා සෝක ගුලාවක්. ප්‍රිය දේ විද්‍යමාන කරමින් ඇසුරට ගියාම එබන්දක් නොපෙනෙන මායාවක් නිසා මිරිඟුවක් වගේ. නිච්ච වෙච්ච දේකින් ඇති නොවී අනිච්ච නිසාම, ඇති සේ පෙනුන දේ නැති වෙමින් අළුත් ආකාරයක් හට ගනිමින් යන ක්‍රියාවලියක රටාවක්ම නිසා අනිච්චයි. මහත් දාහ ගෙන දෙන නිසා දුකක්මයි. තමන් කැමති ආකාරයට ක්‍රියාත්මක නොවී වෙනස් වූ විපරිනාමයක්ම ඒකාන්තයෙන් සිද්ධ වෙලා වැනසෙන නිසා, ප්‍රිය මනාප කිසිවක් ඉතිරි නොවී කෙළවර වෙන නිසා, සාරත්වයක් ඉතිරි නොකරන නිසා අනාතයි.**

ඒ අනුව මේ කය ඇතුළු ලෝකය යම් බාහිර බලවේගයක පාලනයට අහුවෙච්ච සිරකරුවෙක් නෙවෙයි, හේතු ප්‍රත්‍ය ධර්ම බවත්, හේතු පහ කළාම ඵලය පහ වෙන නිසා මිදීමක්, මිදීමට මගක් ඇති බවත් අනුලෝම නුවණින් මේ සත්‍යයන් ගැන මෙනෙහි කරල ප්‍රඥාවෙන් අවබෝධ කරල ඒ ප්‍රඥාව අග්‍ර බවට පත්වෙමින්, අවිද්‍යාව දුරු කරමින්, නිසරුව දැනගෙන, වටිනාකමක් නැති මුළාවක් බව හඳුනගෙන, ලෝකයේ නාම රූප ධර්මයන්ගේ නියම තතු වටහාගෙන ඇලීම බැඳීම අත්හරිනවා. අත්හරින කොට නොඇලෙනවා. නොඇලෙන කොට මිදෙනවා. මිදුනම අනුසය කෙළෙස් සමග අත්හැරී නොඇලී මිදී ගිය බවත්, නැවත පහල වෙන්න හේතු වෙන භව ගති ප්‍රහාණ වූ බවත් දැනගන්නවා.

මේ ආකාරයට ක්‍රමයෙන් ලෝකයේ සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු පිළිබඳ ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති පිළිබඳව නිසරු බව වැටහෙන්න වෙනකොට, අනන්ත සසර පටන් පවත්වාගෙන ආ අනන්ත වටිනාකමක් ගැන මුළාව අවිද්‍යාව නිසා රැඳිල තිබුන ස්වභාවය ක්‍රමයෙන් පහ වෙලා යනවා.

සත්‍ය වූ බුද්ධ වචනයට අනුකූල දහම් ශ්‍රවණය කරනකොට, ඒ ගැන මෙනෙහි කරනකොට, ක්‍රමයෙන් දහම් අරමුණ කෙරෙහිම මෙනෙහි කරන්න වෙනවා. මේ සත්‍ය වූ බුද්ධ වචනය






# වස විස ආහාරවලට එරෙහි විකල්ප 08

වස විස බහුල ආහාර වර්ග අනුභවය නිසා විවිධාකාර රෝග පීඩාවන්ගෙන් පෙළෙන මේ කාලයේ, ඒවාට විකල්ප විදිහට අපේ පැරැන්නන් භාවිතා කළ, අදත් හොයාගන්න පුළුවන්, පහසුවෙන් වගා කරන්න පුළුවන්, වසවිස නැති ඖෂධීය ගුණයෙන් යුක්ත තවත් ආහාර වර්ග කිහිපයක ඇති වටිනාකම තමයි මේ හඳුන්වා දෙන්නෙ.

**ගොටුකොළ :** ගොටුකොළ ගැන අපේ රටේ නොදන්නා කෙනෙක් නෑ. ඒත් මේ කියන්න යන්නෙ හුග දෙනෙක් නොදන්නා පැතිකඩක්. හීන් ගොටුකොළ, වැල් ගොටුකොළ හෙවත් බෙහෙත් ගොටුකොළ සහ ගස් ගොටුකොළ කියල ප්‍රධාන වශයෙන් ගොටුකොළ වර්ග 3 ක් දකින්න පුළුවන්. හීන් ගොටුකොළ පොළව බදාගෙන වැවෙන, කුඩා ඇට හටගන්නා ළා කොළ පාට පැළෑටියක්. කුඩා අලයක් ආකාරයට මුල් පිහිටල තියෙනවා. දිගට වැඩෙන්නෙ නෑ. පඳුරක් විදිහට වැඩෙනවා. බොහෝකොටම පොල් ගස්වල මූල පද්ධතිය ආශ්‍රිතවත්, තදින් අව්ව වැටෙන තැන්වලත් පඳුරක් ආකාරයෙන් වැඩෙනවා. ඖෂධීය වටිනාකම ඉතා ඉහලයි. හෙළ වෙදකමේදි බොහෝකොටම ඖෂධ විදිහට යොදා ගන්නෙ මේ හීන් ගොටුකොළ. ඊළඟට ඖෂධීය ගුණයෙන් වැඩි

---

රාග, ද්වේශ, මෝහ රහිත නිසා ඒ අසුරු කරන වෙලාවට කාමච්ඡන්ද, ව්‍යාපාද, ථීන මිද්ධ, උද්දච්ච, කුක්කුච්ච, විචිකිච්ඡා දුරු වෙනවා. සත්‍යය හෙවත් අත්හැරීම, නොඇලීම, මිදීම අරමුණු කරමින් විවේක නිශ්‍රිත, විරාග නිශ්‍රිත නිරෝධ නිශ්‍රිත වොස්සග්ග පරිනාමි හෙවත් නිවනට නැමුනා වූ අනිච්ච, දුක්ඛ, අනත්ත කියන දහම් අරමුණේ පිහිටනවා. ඒ දහමේ හිත හසුරු වනවා. සත්‍යය වැටහෙනකොට නිරාමිස දහම් ප්‍රීතිය සුවය වෙනවා. නිදහස් වෙන මග වැඩෙනකොට ලෝක දුකෙන් මිදීමේ මග නිසා ඊට ඇළුම් කරමින් ඒ අරමුණම අග්‍ර කරගෙන විවේක නිශ්‍රිතව, විරාග නිශ්‍රිතව නිරෝධ නිශ්‍රිතව, නිවනට නැමුනු හිත පිහිටනවා.

සසර බැඳීම් බොහෝ තද නම්, මුල් මුල් අවස්ථාවල තදංග හෙවත් ඒ අවස්ථාවේ පාරිසුද්ධි බාවයෙනුත්, අනෙක් අවස්ථාවල ලෝකයේ තණ්හා උපාදාන සහිතවත් හිත පිහිටනවා. නමුත් එක දෙයක් වෙනවා. දහම් මග අනුගමනය කරන හැම මොහොතක පාසාම නුවණ, ප්‍රඥාව සත්‍යානුකූලව ටිකෙන් ටික වැඩෙනවා. “කම්මාරෝ රජතස්සේව - නිද්ධමේ මලමත්ථනෝ” කියන බුදු වදන් පරිදි, රන්කරුවා රිදියේ මළ හරිනව වගේ, මොහොතින් මොහොත ටිකින් ටික පවිත්‍රත්වය කරා එනවා.

මේ විදිහට දහම් අරමුණේ නිතර හිත හසුරු වන කොට, ක්‍රමයෙන් දියුණු වන දහම් නුවණ සහ දහම් ප්‍රඥාව වැඩෙමින් අරමුණ මෙනෙහි නොකළත් නිරායාසයෙන් දහම් අත්නොහැරෙන, නිතරම අරමුණු වෙලා පිහිටන ස්වභාවය හට ගන්නවා. දින ගණනක් වුනත් මෙහෙම තියෙන්න පුළුවන්. මේ තමයි දහම් මග තුල විශ්කම්භන ප්‍රහාණ ස්වභාවය.

පෙරට වඩා දහම් නුවණ, ප්‍රඥාව දැන් දියුණුයි. නැවත නැවත භාවිතා කරනකොට පංච නීවරණ සමුච්ඡේද වශයෙන් ප්‍රහාණය කරමින් නොගිලෙන දහම් අරමුණු ඇති අනිච්ච, දුක්ඛ, අනත්ත බව දකිමින් දහම් මග එක්තරා මට්ටමක වැටහීමකින් සිත පිහිටනවා. මේ විදිහට යම් ධර්ම ශ්‍රවණ මොහොතක ඉතා ගැඹුරු දහම් වැටහීමක් ලබමින් අත්හැරීමම සුවයි, නොඇල්මම සුවයි, මිදීමම සුවයි කියල දකිමින් සංසිඳීම් සුවයේ හිත පිහිටනවා. පටි පස්සද්ධි, නිස්සරණ කියන ප්‍රහාණයන් සිද්ධ කෙරෙමින් මතු කිසි කලෙකත් නීවරණ අනුසයක් නොපවතින ලෙස සිඳී යමින් ලෝකයේ අනන්තව තිබ්බ්ච පැතීම් පිළිබඳ බලාපොරොත්තු සිඳ දමමින් අනුසයත් සිඳී යමින් සෝතාපන්න ඵලයේ පිහිටනවා. මේ ආර්ය උතුමාගේ අත්හැරී ගිය පැතුම් සහ ඉතිරි වෙලා තියෙන පැතුම් උපමා කරල බැලුවොත්, අත්හැරී ගිය අනන්ත පැතුම් මහා පෘථිවිය ඇතුළු අනන්තයක් වගේ, ඉතිරි ශේෂය නියපිට තියෙන පස් පිඬක් වගේ. මේ බුද්ධ උපමාවක්.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

වැල් ගොටුකොළ. වැල් ගොටුකොළවල මුල ළා රෝස පාටයි. දණ්ඩ ඉහලට වැඩෙනවා. ඉතා දිගටි වැල් විදිහට හැදෙනවා. වැලේ පුරුක් අතර පඳුරු ආකාරයෙන් ගොටුකොළ හට ගන්නවා. ගස් ගොටුකොළ තද කොළ පාටයි. දණ්ඩත් ඉතා තද කොළ පාටයි. විසාල පත්‍ර සහිතයි. ඒ වගේම අනෙක් ගොටුකොළ වර්ග දෙකට වඩා ගුණයෙන් අඩුයි.

තුන් දොස් සමනය කිරීමේ ගුණයෙන් යුක්ත ගොටුකොළ සෙම් රෝග සුව කිරීමේදී බහුලව යොදා ගන්නවා. පීනස් රෝග සඳහාත් ප්‍රත්‍යක්ෂ ඖෂධයක්. **උදෑසන අධික ලෙස කිවිසුම් යාම, රාත්‍රියට නිදි මරන්න නොහැකි වීම, හිස බර ගතිය, නළල කළු වීම, ගල් පීනස... ආදී රෝග තත්ත්වයන් තියෙන අයට ගොටුකොළ ඇසුරෙන් වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලබා දුන්න ප්‍රත්‍යක්ෂ අත් බෙහෙතක්** හැමෝගෙම දැනගැනීම පිණිස මේ විදිහට සටහන් කරනවා.

යකඩ නොවන පිහියක්, වංගෙඩියක් භාවිතා කරල රතු ඈණු ගෙඩි පොතු සුද්ධ කරල කොටාගෙන වතුර නොදා ඉස්ම අඩු කෝප්ප බාගයක් හදා ගන්න. ඒකට හීන් ගොටුකොළ ගෙඩි (ඇට) සහිත ගස් සහමුලින්ම අරගෙන (හීන් ගොටුකොළ හොයාගන්න බැරි නම් වැල් ගොටුකොළ ගන්න.) හෝදල යකඩ නොවන පිහියක්, වංගෙඩියක් භාවිතයෙන් හීන් වෙන්න කපල කොටාගෙන වතුර මිශ්‍ර නොකර ඉස්ම අඩු කෝප්ප බාගයක් හදාගෙන රතු ඈණු ඉස්ම ටිකට මිශ්‍ර කරගන්න. මේ මිශ්‍රණයට මී පැණි තේ හැන්දක් මිශ්‍ර කරල (රත් කරන්නෙ නෑ) උදේ හිස්බඩ දින 8 ක් පානය කිරීමෙන් ඉහත කී රෝගී තත්ත්වයන් නිට්ටාවට සුව කරගන්න පුළුවන්. හිස්බඩ පානය කරල විනාඩි 20 ක්වත් යනකල් වෙනත් ආහාරපාන ගැනීමෙන් වළකින්න ඕන. ඒ වගේම මේ ඖෂධයෙන් අම්ලපිත්ත ප්‍රදාහය, ආමාශයේ තුවාල සහ මහබඩවැලේ හටගෙන තියෙන අර්ශස් ගෙඩි සුවවීමත්, ශරීරය තුල තියෙන විස ඉවත් කිරීමත් සිද්ධ වෙනවා.

ශරීරයේ තැන්පත් වෙච්ච විස ඉවත් කරගන්න තවත් ක්‍රමයක් තියෙනවා. හීන් ගොටුකොළ නැත්නම් වැල් ගොටුකොළ සහමුලින්ම අරගෙන අව්වෙ වේළල කුඩු කරගෙන ඒකට ඉඟිනි ඇට කුඩු සමබරට එකතු කරල මිශ්‍ර කරගන්න. ඒ මිශ්‍රණයෙන් මේස හැඳි 1 ක් උණු වතුර පත 1 කට මිශ්‍ර කරල රෑ නින්දට පෙර මාස 3 ක් පමණ එක දිගට පානය කරන්න. ආමාශයේ, මහබඩවැලේ රැඳිල තියෙන අපද්‍රව්‍ය ඉවත් වෙලා ඉන්ද්‍රියන් සක්‍රිය වෙනවා. අම්ල පිත්ත ප්‍රදාහය සුව වෙන්න හේතු වෙනවා.

ඒ වගේම පසුකාලීනව සෙම තැන්පත් වීම නිසා කන් ඇසීමේ දුර්වලතා තියෙන අයටත් හීන් ගොටුකොළ මුල්, ගෙඩි (ඇට) සහිතව අව්වෙ වේළගෙන කුඩු කරගෙන, කලාඳුරු අල මුල් පිටින්ම හෝදගෙන අව්වෙ වේළගෙන කුඩු කරගෙන සම ප්‍රමාණයන්ගෙන් මිශ්‍ර කරල, වතුර නොදා තික කොළ ඉස්මෙන් අනාගෙන දින 28 ක් කන් වටා ගැල්වීමෙන් මේ කියන කන් ඇසීමේ දුර්වලතාවයන් මගහරව ගන්න පුළුවන්. වරක් ගල්වල අඩු තරමින් පැයක්වත් තියෙන්න ඕන. (හීන් ගොටුකොළ නැත්නම් වැල් ගොටුකොළ ගන්න.)

ඒ වගේම වයසට යනකොට ඇතිවෙන ශරීර සමබරතාවය ගිලිහීමේ ස්වභාවයත්, ඒ කියන්නෙ නිදාගෙන නැගිටිනකොට කැරකෙන ස්වභාවය, ඔළුව පහත් කරගෙන ඉඳල ක්ෂණිකව කෙලින් කරනකොට කණාමැදිරියන් වගේ පෙනෙන ස්වභාවය, ආධාරයක් නැතිව ඇවිදින්න බැරි ස්වභාවය, කෙලින් හිටගෙන ඉන්නකොට වැටෙන්න යන ස්වභාවය, ක්ෂණිකව ඉරියව් මාරු කරන කොට ශරීරයේ ඇතිවන අසමතුලිතතාවය ආදී රෝග තත්ත්වයන් තික කොළ සහ හීන් ගොටුකොළ (නැත්නම් වැල් ගොටුකොළ) සමව අරගෙන කොටාගෙන තල තෙලෙන් මලවගෙන වණ්ඩුවේ තම්බගෙන පොට්ටනි බැඳල කන් දෙපස තැවීමෙන් සුව කරගන්න පුළුවන්. මේ ප්‍රතිකාරය උදේ හවස දින 7 කට වැඩි ප්‍රමාණයක් සුව වෙන කල් කරන්න ඕන. සුව වුනත් දින 7 කට වැඩි ප්‍රමාණයක් තවන්න ඕන. ඒ වගේම පොට්ටනි බඳිනකොට කන් දෙකටම සමාන ප්‍රමාණවලින් අවශ්‍ය නිසා පොට්ටනි 2 ක් හෝ 4 ක් වශයෙන් ඉරට්ටේ සංඛ්‍යාවක් හදාගන්න ඕන. එක වතාවක් එක පොට්ටනියකින් තැව්වට පස්සෙ ඒ පොට්ටනිය නැවත ගන්නෙ නෑ. අලුත් පොට්ටනි හදාගන්න ඕන.

පොදුවේ ගත්තම ගොටුකොළ ඇස් පෙනීම තීව්‍ර කරනවා. ස්නායු දුර්වලතා මග හරවනවා. ස්නායු ප්‍රාණවත් කරනවා. ශීර්ෂ රෝග සුව කරනවා. අකලට හිස් කෙස් පැසීම වළක්වනවා. හිසකෙස් වර්ධනය කරනවා. මල බද්ධය දුරු කරනවා. හැමෝම දන්න කියන විදිහට මේ ගොටුකොළ සාමාන්‍ය මැල්ලුමක් හෝ සම්බෝලයක් විදිහටත් කොළ කැඳක් ආකාරයටත් ආහාරයට ගන්න පුළුවන්.

**ඉරමුසු** : වියළි, කාෂ්ට, ගල් බොරළු බහුල ස්ථානවල ස්වභාවිකව වැවෙන වැල් විශේෂයක්. හෙළ වෙදකමේදී ගහ සහමුලින්ම ඖෂධයක් විදිහට යොදාගන්නවා. ශරීරයේ ඉන්ද්‍රියන් කරා මේ ඉරමුසුවල ශක්තිය පැතිරීමෙන් ශරීරගත අපද්‍රව්‍ය ඉවත් කරල බහිස්‍රාවී පද්ධතිය ක්‍රමවත් කිරීම, ස්නායු සංකූලතා දුරු කිරීම, ස්නායු ප්‍රබෝධමත් කිරීම, රුධි නාලවල ඇතිවෙන විවිධ සංකූලතා මග හැරවීම, මානසික ඒකාග්‍රතාවය පවත්වාගෙන යාම... ආදී විශේෂ ගුණ රසක් ලැබෙනවා.

ඉරමුසු ශාකයේ මුල් සහ අලය ආශ්‍රිතව විශේෂ ශක්තියක් ගැබ් වෙලා තියෙන නිසා පිළිකා, ස්නායු ආබාධ සඳහා හිඳින තෙල්වලටත් ඉරමුසු යොදා ගන්නවා. ශීර්ෂ රෝග, ඇට මිදුළු ආශ්‍රිත රෝග, මහ බඩවැල හා කුඩා බඩවැල ආශ්‍රිත රෝග, අම්ල පිත්ත ප්‍රදාහය දුරු කිරීමේ ගුණයත් ඉරමුසුවල තියෙනවා.

ඉරමුසු කොළ හෝ මුල් අල සමග ගහ සහමුලින්ම තම්බල උදෑසන හිස්බඩ පානය කිරීමෙනුත් මේ ඖෂධීය ගුණ ලබා ගන්න පුළුවන්. මුල්වල ශක්තිය වැඩියි. ඒ වගේම කැඳක් විදිහටත් හදල ආහාරයට ගන්න පුළුවන්.

**කරපිංචා** : එදිනෙදා සෑම ආහාර වේලකටම වගේ එකතු කරන ඖෂධයක්. නමුත් හුගක් අය කරපිංචවල ඖෂධීය ගුණය ගැන දන්නෙ නෑ. ඒ නිසාම ආහාර රස කරන්න එකතු කළත් අනුභව කරනකොට කරපිංච කොළ ටික ඉවත් කරන්න පුරුදු වෙලා තියෙනවා. ඒ හේතුවෙන් ලැබෙන්න තියෙන ඖෂධීය ගුණයත් නැතිවෙනවා. හෙළ වෙදකම තුල ශරීරගත විස ඉවත් කරන්න, විස නසන්න කරපිංච තරම් ස්වභාවිකව වැවෙන තවත් ඖෂධයක් නැති තරම්. දැන් අපි ආහාරයට ගන්න එළවළු, හාල් වර්ග වගා කරනකොට සහ කල් තබා ගන්නකොට එකතු කරන කෘමිනාශක, වල්නාශක... ආදී විස නසන්නත් මේ කරපිංච උපකාරී වෙනවා. සර්පයෙක් දෂ්ට කළාම හෙළ වෙදකමේදි පළමුව කරන්නෙ කරපිංච කැඳක් විදිහට සකස් කරල දීම. ඒ මගින් ශරීරය තුල විස දිවීම වහා නතර කරනවා. සර්ප විස නිසා අක්‍රිය වන වෘක්කානු නැවත යථා තත්ත්වයට පත් කරල මුත්‍රා පරිවහනය යථා තත්ත්වයට පත් කරනවා.

ඒ වගේම ආහාර ජීර්ණයට අවශ්‍ය එන්සයිම ස්‍රාවය තීව්‍ර කිරීමේ ශක්තියක් සහ ආහාර රුචිය වැඩි කිරීමේ ශක්තියක් තියෙනවා. හදවත නිසි පරිදි ක්‍රියාත්මක කරමින්

හෘද රෝග වැළැක්වීමේ ශක්තියත් කරපිංච සතුයි. රුධිර නාලවල මේදය තැන්පත් වීම වළක්වල රුධිර සංසරණය නිසි පරිදි පවත්වාගෙන යන්න උපකාරී වෙනවා. අධික තෙල් සහිත ආහාර නිසා ආමාශයේ ආම්ලිකතාවය ඉහල යාමෙන් ඇතිවන අම්ල පිත්ත ප්‍රදාහය පාලනය කරනවා. හෘදය වස්තුවේ, මොළයේ, අග්න්‍යාශයේ ක්‍රියාකාරීත්වය වර්ධනයට උපකාරි වෙනවා. ඒ මගින් එදිනෙදා කටයුතු ක්‍රියාශීලී වෙනවා. ඒ වගේම ලේ පිරිසිදු කිරීමේ ගුණයෙන් යුක්තයි. හුස්ම ගැනීමේ අපහසුතා දුරු කරනවා. වකුගඩු නිසි පරිදි ක්‍රියාත්මක වන නිසා ඒ ආශ්‍රිත රෝග සඳහාත් ගුණදායකයි.

එළවළු ව්‍යංජනවලට එකතු කිරීමට අමතරව සාමාන්‍ය කැඳක් විදිහටත්, කලවම් මැල්ලුමක් විදිහටත්, සාමාන්‍ය පළා සම්බෝලයකට එකතු කරලත් ආහාරයට ගැනීමෙන් මේ ඖෂධීය ශක්තිය ලබා ගන්න පුළුවන්.

**අබකොළ** : අබ ඇට ආහාර රස කාරකයක් විදිහට එකතු කළත් හුගක් අය අබ කොළ ආහාරයට ගන්න බව දන්නෙ නෑ. කළු අබ, එළ අබ වශයෙන් අබ වර්ග කිහිපයක් තියෙනවා. එළ අබ සුදු පාටයි. මේ වර්ග දෙකම රාබු කොළයට සමාන ආකාරයෙන් ගහක් විදිහට හැදෙනවා. මොණරකුඩුම්බිය මලට තරමක් සමාන ආකාරයෙන් පොකුරු විදිහට කහ පාට මල් හට ගන්නවා. ළා කොළ පාටින් යුක්ත කොළ ඉතා වටිනා ඖෂධයක්. මල් පරාගනය වුනාම කුඩා කරල් රාශියක් හට ගන්නවා. නිවෙස් අසළ ස්වභාවිකවත් සීතල ප්‍රදේශවල කැලෑබදවත් වැවෙන ශාකයක්. උෂ්ණ ගුණයෙන් යුක්ත අබ සීතල ආහාරවල සීත ගති නැති කිරීමට උපකාරි වෙනවා.

හෙළ වෙදකමේදි සහ නිවෙස්වල දොස් දුරු කිරීමේදි අබවලින් විසාල පිටිවහලක් ලැබෙනවා. බාහිර කිරණ ශක්තිය ඇදල ගැබ් කර ගැනීමේ හැකියාවෙන් යුක්තයි. ඒ නිසා ගෙවල් ආරක්ෂා කිරීමටත්, ඇස්වහ දෝස දුරු කර ගැනීමටත්, අමනුස්ස දෝස දුරු කර ගැනීමටත් යොදා ගන්නවා. හෙළ වෙදකමේදි තැලිච්ච ලේ තියෙන තැන්වල ලේ ඉහිරවා යවන්නත්, ලේ ගෙඩි පුපුරවා හරින්නත්, අධික වේදනා දුරු කරන්නත් ඉගුරු පියළි සමග අබ යොදා ගන්නවා. පැසුනු රා සමග හෝ විනාකිරි සමග අබ එකට අඹරා ගැල්වීමෙන් වේදනා දුරු වෙලා එකී රෝගී තත්ත්වයන් සමනය වෙනවා. **දරාගත නොහැකි අධික හිසරදයටත් කළු හෝ සුදු අබ තම්බපු වතුරට පොල් විනාකිරි මිශ්‍ර කරල රෙදි කැබැල්ලක් පොගවල නළල මත තැබීමෙන් හිසරදය දුරු වෙනවා.**

**ඒ වගේම නව අරහාදී ගුණවලින් එළ අබ ඇට 108 වාරයක් ජීවම් කරල නිවෙස් ඉදිරිපිට ඉසීමෙන් නිවෙස්වලට ඇති ඇස්වහ කටවහ හෝ වහ දුරු වෙලා යනවා. අමනුස්ස බලපෑම් තියේනම් ඒවත් දුරු වෙලා යනවා.** මේ සඳහා නිවෙස් අසළට ඉහින අබ පැළවෙලා කරල් හට ගෙන ගෙඩි පුපුරන කල් තියෙන්න ඕන. සාමාන්‍යයෙන් ඇට පැළ වෙලා කරල් පුපුරන්න යන්නෙ දින 45 ක වගේ කාලයක්. ඒ කාලය තුල නිවස අවට පරිසරයේ තියෙන විස කළු කිරණ අබවලට උරාගෙන විනාස කරනවා.

ඒ වගේම බඩට යම් ඉනාවක්, වශියක් හෝ අමනුස්ස බන්ධනයක් කරල තියේ නම් ජල නන්දන පිරිතෙන් 108 වාරයක් එළ අබ ඇට මිටක් පමණ ජීවම් කරල රාත්‍රී කාලයේ ජලයට දමා උදේට පෙරාගෙන දින 7 ක්වත් රෑ නින්දට පෙර ඒ ජලය පානය කිරීමෙන් එකී දෝස වළක්වා ගන්න පුළුවන්. දින 28 කට වඩා හොඳයි. ගන්න පුළුවන් නම් වඩා හො ආහාර පිසිනකොට අබ එකතු කරල තෙම්පරාදු කිරීමෙන් එකී ආහාරවලට ඇතිවන අමනුස්ස බැල්මත් ඉවත් වෙනවා. ඒ වගේම අබ ලේ පිරිසිදු කරන ගුණයෙන් යුක්තයි. අබ උෂ්ණ ආහාරයක් නිසා මාස් සුද්ධිය ඇති අවස්ථාවලදි කාන්තාවන්ට ආහාරයට එකතු කර ගැනීම සුදුසු නෑ.

අබ කොළත් ඉතා රසවත් ව්‍යංජනයක්. මේ වර්ග දෙකේම කොළ ආහාරයට ගන්නවා. රාබු ව්‍යංජනයක් සකස් කරන ආකාරයටත්, සාමාන්‍ය මැල්ලුමක් ආකාරයටත්, එහෙම නැත්නම් සාමාන්‍ය පළා සම්බෝලයක් ආකාරයටත් හදා ගන්න පුළුවන්.

**කොබ්බෑ කොළ** : ගස් කොබ්බෑ සහ වැල් කොබ්බෑ කියල වර්ග 2 ක් තියෙනවා. හෙළ වෙදකමේදි බහුලව යොදා ගැනෙන්නෙ වල් කොබ්බෑ. අද නාගරික ප්‍රදේශවල දකින්න නොලැබුනත් ගම්බද බඩවැටි ආශ්‍රිතව, ළඳු කැලෑවල ස්වභාවිකව බහුලව වැවෙන ගස් වර්ගයක්. මේ ශාකය කාෂ්ට දේශගුණයක වුනත් වැඩෙනවා. ඖෂධීය ගුණය ගත්තොත් ඉතා ඉහලයි. ඇද වෙච්ච අස්ථි කෙලින් කිරීමේ ශක්තියක් කොබ්බෑවල තියෙනවා. හෙළ ජන ගීවල එන "වැල් කොබ්බෑවෙන් දුන්න සදා..." ආදී වශයෙන් කියවෙන්නෙත් එදා දුනු නැවීම සඳහා වල් කොබ්බෑ ලීය යොදා ගත්ත බව. මොකද කොච්චර නැව්වත් නොකැඩෙන ශක්තියකින් යුක්තයි. ක්ෂණිකවම නැමෙන දිග හැරෙන ශක්තියක් කොබ්බෑ ලීයේ තියෙනවා. හෙළ වෙදකමේදි අතපය කැඩිල ගිය අවස්ථාවල, ඇද ගැසීමට ලක්වෙච්ච අවස්ථාවල ඒ ඇද කෙලින් කරල නිවැරදි කරන්නත් බැඳල තියන්නෙ කොබ්බෑ ලී.

ඒ වගේම නහර ගැට ගැහීම්, උළුක්කු වීම්, මස් පිඩු පෙරලීම් සඳහා කොබ්බෑ කොළ කොටල පත්තු බැඳල සුව කරනවා. අමු කහ, කොබ්බෑ කොළ, බැලතණ, එඬරු කොළ, නික කොළ, උළුහාල්, සුදු ළූණු එකට කොටල, කොට්ටපොල් සමග මලවල වණ්ඩුවේ බැදගෙන තැවීමෙන් උළුක්කු වීම්, කකුල් පෙරලීම් සුව වෙනවා. නහර ගැට ගැසීම්වලට කොට්ටපොල් හැර මේ සියලු දේ සමබරින් අරගෙන කොටල වතුර නොදා ඉස්ම අරගෙන සහිඳ ලුණු එක්ක කකාරවල ගෑමෙන් සුව වෙනවා.

මීට අමතරව ආහාර වශයෙන් කොබ්බෑ කොළ සාමාන්‍ය මැල්ලුමක් හදන ආකාරයටත් හදාගන්න පුළුවන්. හැබැයි පොල් ටිකක් යහමින් එකතු කරගන්න ඕන. මොකද මඳ තිත්ත ගතියකින් යුක්ත නිසා. ඒ වගේම කලවම් මැල්ලුමක් විදිහටත්, කැඳක් විදිහටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

## සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුත්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.






# සමාධිමය අත් බෙහෙත්...

ලෝක සත්ත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් ගිලානප්‍රත්‍යකටයුත්තක්වශයෙන්සළකල, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් බෙහෙත් සමාධියෙන් මතු කරල හඳුන්වා දුන්න තවත් ප්‍රත්‍යක්‍ෂ අත් බෙහෙත් කිහිපයක් පින්වත් ඔබගේ ප්‍රයෝජනය පිණිස මෙවරත් සටහන් කරනවා. ඉතා අඩු වියදමකින් සකස් කරගන්න පුළුවන් මේ බෙහෙත් සඳහා යොදා ගන්නා අමුද්‍රව්‍යයන් සඳහන් කරල තියෙන්නෙ යම් කිසි අනුපාතයකට නිසා, ඒ අනුපාතයම එන විදිහට අවශ්‍ය නම් අමුද්‍රව්‍ය ප්‍රමාණයන් අඩු වැඩි කරල ගන්න පුළුවන්.

ඒ වගේම මීට පෙරත් සඳහන් කළා වගේ මේ සියලු බේත් ඒ ඒ පුද්ගලයන්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් සළකන්න. **මනුස්සයාට වැළඳෙන රෝගාබාධවලට කර්මයත් සම්බන්ධ නිසා, ඒ කර්ම වේගත් ගෙවා හැරෙන විදිහට සාසනික වත් පිළිවෙත්වලටත් සම්බන්ධ වෙන ගමන් ප්‍රත්‍යවේක්‍ෂාවෙන් යුතුව මේ බේත් ගැනීමෙන් ලැබෙන ප්‍රතිඵල වඩාත් සාර්ථක හා ඉක්මන් කරගන්න පුළුවන්.**

## ශරීරයේ සියලු අඟපසඟවල අපද්‍රව්‍ය ඉවත් කර ලේ පිරිසිදු වීම සඳහා

කූඩලු දෙහි කිලෝ 9 ක් (අමු බර) අරගෙන දිග අතට මුදුනෙන් කිහිප පැත්තකට පලාගෙන කිලෝ 3 දක්වා බර අඩුවෙනකල් උදුනක වේළගන්න. නැත්නම් අව්වෙ හෝ දහයියා ලිපක වේළගන්නත් පුළුවන්. හැබැයි ලිපක වේළගන්නකොට මැටි වළඳක් වගේ ප්‍රතික්‍රියා නොකරන භාජනයක් ගන්න ඕන. ඊළඟට කොළ, අතු ආදිය සමග සුදු හඳුන් ලී පුච්චල අළු අරගෙන ඉහත වේළ ගත්ත කූඩලු දෙහි සමග සම බරට මිශ්‍ර කරගෙන සිනිඳුවට අඹරගන්න. මේ මිශ්‍රණයට අවශ්‍ය ප්‍රමාණයට මී පැණි දමා කෝපි ඇට ප්‍රමාණයට ගුලි කරගෙන වේළගන්න.

උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු ගුලි 1 බැගින් මාසයක් ගන්න. ශරීරයේ සියලු අඟපසඟවල තැන්පත් වෙලා තියෙන අපද්‍රව්‍ය ඉවත් වෙලා ලේ පිරිසිදු වෙනවා. ලේ නහර සුද්ධ වෙනවා. කෘමීන් නිසා එන කුෂ්ට, කැසිලි... ආදිය දුරු වෙනවා.

## ඇස්, කන් ඇතුළු ස්නායු දුර්වලතා සඳහා තෙලක්

වයස අවුරුදු 20 ට අඩු 5 ට වැඩි දස මූල පැළ 10 කට වැඩි කොටසක පොළවේ මතුපිට හෙවත් මුදුනේ තියෙන මුල් අරගෙන ඇතිලියක දාල වහල පුච්ච ගන්න. පිච්චීමෙන් එන අඟුරු කුඩු කරල ග්‍රෑම් 100 ක් පිරිසිදු තල තෙල් බෝතලයකට මිශ්‍ර කරල පැය 3 ක් අංශක 100 ට රත් කරල පෙරා ගන්න.

පටිසන්ධියෙන් හෙවත් උප්පත්තියෙන් අඳ ගොළු බිහිරි නොවන, ඒ කියන්නෙ ජාති අන්ධ, ජාති හදිරි නොවන අඳ ගොළු බිහිරි අයගේ හිසට හැමදාම උදේට දමන්න. විනාඩි 5 ක් හොඳට අතුල්ලන්න. ඉන්පසු නැවතත් තෙල් ටිකක් දාල අතුල්ලන්න. මේ විදිහට ප්‍රතිඵල ලැබෙන කල්ම අවශ්‍ය තරම් කාලයක් දිනපතා කරන්න.

ඒ වගේම මේ තෙල වයසට ගිය අයගේ ඇස්, කන්වල දුර්වලතාත් දුරු කරල පෙනීම, ඇසීම දියුණු කරනවා. සිහි කල්පනාව වගේම ධාරණ ශක්තියත් නැවත වැඩෙනවා.

## නිතර බඩ විරේක වීමේ රෝගය සඳහා

(කළු) හීනටි හාල් කිලෝ 1 ක් ගරාගෙන බත් උයල කළු වෙන්න බැදගෙන කිලෝ 1 කට සහිඳ ලුණු ග්‍රෑම් 15 ක් එකතු කරගෙන උණු වතුරින් අඹරගන්න. කෝපි ගෙඩි ප්‍රමාණයට ගුලි කරල වේළගෙන උදේ හිස් බඩ ගුලි 3 ක් අරගෙන වතුර ටිකක් බොන්න. දවල් ආහාරයෙන් පැය 4 කට පසු ඒ විදිහටම නැවතත් ගුලි 3 ක් ගන්න. මේ විදිහට සති 3 ක් පමණ පාවිච්චි කරන්න.

නිතර බඩ විරේක වෙන අයගේ බඩවැලේ පේශි ප්‍රකෘතිමත් වෙලා බඩ විරේක වීම සමනය වෙනවා.

## කොඳු ඇට පෙළේ හට ගන්නා විසප්පු ගෙඩි සමනය සඳහා චූර්ණයක්

කැලෑ ඉඳි ගහේ බොඩ අරගෙන පිරිසිදු එළගිතෙල්වලින් අඹරගෙන අදාළ ස්ථානයේ ප්ලාස්ටරයක් විදිහට දමන්න. උදේ 6.00 ට දමා හවස 4.00 ට ගලවන්න. නැවතත් හවස 6.00 ට දමා උදේ 4.00ට ගලවන්න. දින 3යි. අවශ්‍ය නම් තවත් දින කිහිපයක් කරන්න.

**සටහන**

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# හෙළ බොදු පියුම දහම් සඟරාවේ 81 වන කලාපය සඳහා ශ්‍රමය හා මූල්‍යමය දායකත්වය සැපයූ පිංවතුන්

**ශ්‍රම දයකත්වය**

■ ධම්මික සේනාධීර මහතා - හසරු ප්‍රින්ටර්ස් - මාලබේ ■ චන්දන සිරිවර්ධන මහතා - අලපලාදෙනිය ■ චතුර හිඳුරංගලගේ මහතා - නුගේගොඩ ■ අමිත් සමරනායක මහතා - බෙල්ලන්තර ■ සඳරුවන් පෙරේරා මහතා සහ මාරියස් පෙරේරා මහතා - මොරටුව ■ තුසිත මංගල මහතා - පාදුක්ක ■ ඉසුරු සේනාරත්න මහතා - පිටකෝට්ටේ ■ ෆික්රි ඉස්මයිල් මහතා - ගොතටුව ■ එස්. ඒ. එස්. පෙරේරා මහතා - පානදුර ■ සුජීවනී ජයවර්ධන මෙනවිය - පාදුක්ක ■ ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය - පිටකෝට්ටේ ■ ඉමාෂි මුද්‍රණාලයේ අධිපතිතුමා ඇතුළු කාර්ය මණ්ඩලය ■ නන් අයුරින් දයක වූ පින්වතුන්

**මූල්‍යමය දයකත්වය**

■ ශානක ද සිල්වා මහතා, චරනි ද සිල්වා මහත්මිය, රහල් ද සිල්වා පුතා, ගනිඳු ද සිල්වා පුතා, දෙව්රු ද සිල්වා දුව - කැලණිය - රු. 63,805/- ■ ආසිරි වනිගරත්න මහතා සහ දීපිකා සන්දනායක මහත්මිය ඇතුළු පවුලේ සැම - මහරගම - රු. 25,000/- ■ තුසිත නාකන්දල මහතා, සරුපා නාකන්දල මහත්මිය, දෙවින්යා දුව - ගල්කිස්ස - රු. 20,000/- ■ නදීකා ලියනගේ මහත්මිය ඇතුළු පවුලේ සැම - ඕස්ට්‍රේලියාව - රු. 15,000/- ■ චතුර හිඳුරංගලගේ මහතා, නදීරා අරම්පොල මහත්මිය, තනුරි හිඳුරංගලගේ සහ සනුරි හිඳුරංගලගේ යන දියණියන් - නුගේගොඩ - රු. 10,000/- ■ සමන් සිල්වා මහතා - කළුතර - රු. 10,000/- ■ ඩබ්. ඩී. පද්මලතා මහත්මිය - වේයන්ගොඩ - රු. 10,000/- ■ අමිත් හඳුගොඩ මහතා ඇතුළු පවුලේ සැම - අත්තිඩිය - රු. 5,000/- ■ ගයාන් පුෂ්පික ඉන්ද්‍රජිත් ලොකුමාන්න මහතා, හිරෝෂානි ලොකුමාන්න මහත්මිය, සෙනුත් ලොකුමාන්න පුතා, කෙනුලි ලොකුමාන්න දුව - ගල්කිස්ස - රු. 5,000/- ■ සොනාලි සමරදිවාකර මෙනවිය - මහරගම - රු. 5,000/- ■ අමිල සල්ගාදු මහතා සහ කාන්ති ඒකනායක මහත්මිය - බෝමිරිය - රු. 5,000/- ■ මෙරිල් ඩයස් මහතා, ඩිලානි ඩයස් මහත්මිය, ශවින්ද්‍රි ඩයස් සහ ප්‍රශානි ඩයස් යන දියණියන් - නාවින්න - රු. 5,000/- ■ සමන් චාමින් නවරත්න මහතා - පාදුක්ක - රු. 5,000/- ■ සනසි දහම්ලි මෙනවිය - ගොතටුව - රු. 5,000/- ■ එච්. ජී. සෙනෙවිරත්න මහතා, එම්. සී. සෙනෙවිරත්න මහත්මිය, භාග්‍යා මධුෂානි සෙනෙවිරත්න මෙනෙවිය - පන්නල - රු. 5,000/- ■ තේමික ලියනගේ පුතා, ලිතුලි ලියනගේ දුව, තිසරි ලියනගේ දුව, ඔල්ගා ලියනගේ මහත්මිය සහ දිනේෂ ලියනගේ මහතා - මහර - රු. 5,000/- ■ ලක්ෂ්මන් සෙනෙවිරත්න මහතා ඇතුළු පවුලේ සැම - මහියංගනය - රු. 4,000/- ■ දේශිකා වික්‍රමසිංහ මෙනවිය ඇතුළු පවුලේ සැම - කොළඹ - රු. 3,500/- ■ කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරස්ථානයේ සදහම් වැඩසටහනට සහභාගි වන පින්වතුන් - රු. 3,000/- ■ ජනක හපුආරච්චි මහතා ඇතුළු පවුලේ සැම - ගිනිගත්හේන - රු. 3,000/- ■ කේ. එම්. සමන්ත ප්‍රදීප් මහතා - කඹුරුගමුව, මාතර - රු. 3,000/- ■ නිශාන්ති ද සිල්වා මහත්මිය - මොරටුව - රු. 3,000/- ■ සුජාන් කරස්නාගොඩ මහත සහ නිලූෂි දිසානායක මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 3,000/- ■ නුවන් කන්නන්ගර මහතා - ගම්පොල - රු. 3,000/- ■ රෝෂන උමගිලිය මහතා, දුලානි මණ්ඩාවල මහත්මිය, රදින් රාහුල් උමගිලිය පුතා, ටරිනි උමගිලිය, යෙනුලි උමගිලිය යන දියණියන් - පොළොන්නරුව - රු. 3,000/- ■ සමීර දමිත් මහතා - කොට්ටාව - රු. 2,500/= ■ ටී. ටී. පී. සිල්වා මහත්මිය - නාගොඩ, කළුතර - රු. 2,500/- ■ ඩී. ඩී. විතාරණගේ මහතා ඇතුළු පවුලේ සැම - නුගේගොඩ - රු. 2,500/- ■ ගුණපාල ඉද්දගොඩ මහතා - විජේරාම - රු. 2,000/- ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනට සහභාගී වන පින්වතුන් - රු. 2,000/- ■ ඔස්ටින් ප්‍රනාන්දු මහතා සහ සිසිර සිරිවර්ධන මහතා ඇතුළු පවුලේ සැම - පොල්ගහවෙල - රු. 2,000/- ■ නුවන් යාපා අමරසේකර මහතා සහ චරිතා කුමාරි හෙට්ටිආරච්චි මහත්මිය - රදවාන - රු. 2,000/- ■ ජේ. කේ. සිසිර කුමාර සමරදිවාකර මහතා ඇතුළු පිරිස - එල්ලක්කල - රු. 2,000/- ■ කුෂාන් අනුරුද්ධ රාජපක්ෂ මහතා ඇතුළු පවුලේ සැම - කහතුඩුව - රු. 2,000/- ■ නුවන් කැළුම් ආරියසිංහ මහතා - කොළොන්න - රු. 2,000/- ■ ඩබ්. චන්ද්‍රරත්න මහතා ඇතුළු පවුලේ සැම - පාදුක්ක - රු. 2,000/- ■ අමිත දේවප්‍රිය මහතා සහ එම මහත්මිය, සමාධි, අම්ෂා දියණියන් - හෝකන්දර - රු. 2,000/- ■ ඉසුරු ගාල්ලගේ මහතා සහ මේනකා ශාන්තිනී මහත්මිය - කඩවත - රු. 2,000/- ■ නම සඳහන් නොකළ පින්වතෙක් - පිටකෝට්ටේ - රු. 2,000/- ■ ඩිලාරෝ වුඩ් කාවින් පුද්ගලික සමාගම - ගාල්ල - රු. 2,000/- ■ කසුන් වළාකුළුආරච්චි මහතා - දෙඩම්ගොඩ - රු. 2,000/- ■ අයිරාංගනී තිලකරත්න මහත්මිය - නාවල - රු. 1,500/- ■ ශලිනි කරස්නාගොඩ මහත්මිය - ඕස්ට්‍රේලියාව - රු. 1,500/- ■ කේ. එම්. කේ. උදිත ලක්ෂාන් පෙරේරා මහතා සහ එම්. එම්. කේ. චන්ද්‍රිකා ප්‍රියානි පෙරේරා මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,500/- ■ කුමාරි විජේකෝන් මහත්මිය - මිනුවන්ගොඩ - රු. 1,500/- ■ සෙනරත් මහත්මිය - කැලණිය - රු. 1,420/- ■ එස්. ප්‍රසන්න ප්‍රියදර්ශන සිල්වා මහතා සහ මධුෂිකා ලක්මුතු පියදිගම මහත්මිය - ගල්කිස්ස - රු. 1,200/- ■ මාලක මහතා - මීගමුව - රු. 1,075/- ■ රසිකා අතුකෝරාල මහත්මිය - පාදුක්ක - රු. 1,000/- ■ ශ්‍යාමල් බණ්ඩාර මහතා - කුරුණෑගල - රු. 1,000/- ■ සී. එම්. පී. සී. ලක්රුවන් මහතා - කළුතර - රු. 1,000/- ■ මෝක්ෂර තිලකසිරි පුතා - බැලුම්මහර - රු. 1,000/- ■ සමෘද්ධි තිලකසිරි පුතා - බැලුම්මහර- රු. 1,000/- ■ එල්. ඒ. කේ. ද සිල්වා මහතා - කිරුලපන - රු. 1,000/- ■ නිලූකා වෙල්ගම මහත්මිය ඇතුළු පවුලේ සැම - කඳන - රු. 1,000/- ■ පද්මිණී සේනානායක මහත්මිය - කළගෙඩිහේන - රු. 1,000/- ■ රාහුල ඉන්ද්‍රකුමාර මහතා - මිනුවන්ගොඩ - රු. 1,000/- ■ ප්‍රේමා ගීකියනගේ මහත්මිය ඇතුළු පවුලේ සැම - කුඩාඋඩුව - රු. 1,000/- ■ වෛද්‍ය යෙනිකා කුමාරි මහත්මිය - එක්සත් රාජධානිය - රු. 1,000/- ■ උදේශා සංජීවනී මහත්මිය - යක්කල - රු. 1,000/- ■ ජයනාත් සුබසිංහ මහතා - හෝමාගම - රු. 1,000/- ■ කේ. ඒ. උපාලි ජිනදාස මහතා - දිවුරුම්පිටිය - 1,000/- ■ එච්. එන්. ජී. වයි. නාඳුගල මහතා - රු. 1,000/- ■ සෝමා වික්‍රමසිංහ මහත්මිය - යක්කල - රු. 1,000/- ■ එම්. එල්. එම්. සුමනසිරි මහතා ඇතුළු පවුලේ සැම - වේවැල්දෙණිය - රු. 1,000/- ■ වසන්තා කුමාරි ආරියසිංහ මහත්මිය ඇතුළු පවුලේ සැම - නාගහහේන - රු. 1,000/- ■ පී. ඒ. ආරියතිලක මහතා - දකුණුඋඩුව - රු. 1,000/- ■ මැණිකේ දිසානායක මහත්මිය - කැලණිය - රු. 1,000/- ■ මාලිනී බස්නායක මහත්මිය - අකුරැස්ස - රු. 1,000/- ■ සෝමා කස්තුරිආරච්චි මහත්මිය සහ ජී. බී. කේ. ලියනගේ මහතා - අල්ගම - රු. 1,000/- ■ අයි. ජී. චන්ද්‍රාවතී මහත්මිය - අරනායක - රු. 1,000/- ■ ජී. ඒ. සරත් මහතා - හබරකඩ - රු. 1,000/- ■ පුෂ්පා වික්‍රමසේකර මහත්මිය -

තලපත්පිටිය - රු. 1,000/- ■ ධම්මික හේරත් මහතා - කොච්චිකඩේ - රු. 1,000/- ■ නාලක ද සිල්වා මහතා සහ නන්දි ද සිල්වා මහත්මිය ඇතුළු පවුලේ සැම - කිරුළපන - රු. 1,000/- ■ නිල්මිණී වික්‍රමසිංහ මහත්මිය - සීදූව - රු. 1,000/- ■ දමිත් නදීර මහතා ඇතුළු පවුලේ සැම - කඩවත - රු. 1,000/- ■ පරලෝ සැපත් සුන්දර බණ්ඩා මහතා - ඉහල හක්ගමුව - රු. 1,000/- ■ ඒ. ඒ. අකිල ඩිල්ශාන් පුතා - රදවාන - රු. 1,000/- ■ ගාමිණී ද සිල්වා මහතා - මාකොළ - රු. 1,000/- ■ මර්වින් ජයසූරිය මහතා ඇතුළු පවුලේ සැම - මොරටුව - රු. 1,000/- ■ ජී. ආර්. ඩී. එස්. ගම්ලත් මහතා - වහරක - රු. 1,000/- රංජිත් වික්‍රමසිංහ මහතා, පද්මාවතී වික්‍රමසිංහ මහත්මිය, සුභාෂිනී දිසානායක මහත්මිය - කඩිගමුව, උපුල් විජේනායක මහතා - මාවනැල්ල, මනෝජ් ජයසූරිය මහතා - මහරගම, දුමින්ද සංජීවනී මහත්මිය - නිට්ටඹුව, කුමාරි ගොඩවිට මහත්මිය - කුරුණෑගල, රසික තුෂාන්ත මහතා - හෝමාගම, එම්. ඩී. තිලකරත්න මහතා ඇතුළු පවුලේ සැම - වැලිපැන්න, තිස්ස බී. අතාවුද මහතා ඇතුළු පවුලේ සැම - ජාඇල, සුනිල් ධර්මසිරි මහතා - මිනුවන්ගොඩ, කුසුම් වික්‍රමසිංහ මහත්මිය - රදවාන, සෙනෙහෙලතා ජයවික්‍රම මහත්මිය - ගම්පහ - එකතුව - රු. 5,200/- ■ විවිධ පින්වතුන් විසින් ලබා දුන් පරිත්‍යාග - රු. 2,075/- ■ එකතු වූ සියලු මුදල් පරිත්‍යාග - රු. 311,775/- ■ පළමු පිටපත් 15,000 සඳහා මුද්‍රණ වියදම රු. 395,250/- ■ අනෙකුත් වියදම් - 13,270/- ■ සම්පූර්ණ වියදම - රු. 408,520/- ■ එක් පිටපතක නිෂ්පාදන වියදම - රු. 27.23/- ■ මුද්‍රණ කටයුතු සඳහා ගිය හිඟ මුදල සඟරා අලෙවියෙන් පියවා ගන්නා ලදී. සඟරා අලෙවියෙන් ලැබෙන ඉතිරි සියලු මුදල් නැවත මුද්‍රණ කටයුතු ඇතුළු දහම් කටයුතු සඳහාම යොදවනු ලැබේ.

**ඉහත නම් සඳහන් පිංවත් පිරිස ඇතුළු ආධාර උපකාර කළ සියලු දෙනා සිදු කරගත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද හේතු කොටගෙන, අනන්ත සසරේ පටන් මේ දක්වා තම තමන් අතින් අවැඩ, අසාධාරණ, වැරදි, ප්‍රමාද දෝෂවලට ලක් වූ සියලු දෙනාට මෙන්ම උදව් උපකාර කළ සැමටත්, මියගිය සතර වරිගයක ඥාති මිත්‍රාදීන්ටත් මේ පුණ්‍ය කුසල ආශිර්වාද විහිදී පැතිර් පිහිටා සුගතිගාමීව තම තමන්ගේ පැතුම් පරිදි නිර්වාණාවබෝධයටද හේතු වාසනා වේවා! එම ආධාර උපකාර කළ පිංවත් පිරිස් ඇතුළු සිය පවුල්වල සැමටත්, කරන කියන යහපත් රැකී රක්ෂා ව්‍යාපාර ආදියෙන් සියලු ජයග්‍රහණයන් අත් වේවා. දූ දරුවන්ගේ අධ්‍යාපන ආදී කටයුතුවලින් විශිෂ්ඨ ජයග්‍රහණ අත් වී සුචරිත පිරිසක් වී සියලු අභිවෘද්ධිය උදා වේවා!**

---

**පින්වත් ඔබ වෙනුවෙන් එළි දැක්වූ දහම් ගබඩාවන්...**

www.waharaka.com webmaster@helabodhupiyuma.net 071 3046895 / 036 2267111 / 072 7076688

**සැඟවුණු බොදු මග යළි විවර කරමින් වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානයේ සදහම් වැඩසටහන් පැවැත්වෙන කාල හෝරාවන්:**

සෑම පුන් පොහෝ දිනකම සහ සෑම අමාවක පොහොය දිනකම උදෑසන 8.00 සිට සවස 5.00 දක්වා - පෙහෙවත් සමාදානය, දහම් සාකච්ඡා සහ විශේෂ පුණ්‍යානුමෝදනාව. සෑම මසකම 1 වන සහ 3 වන සෙනසුරාදා ආශිර්වාද පූජාව සහ ධර්ම සාකච්ඡාව. 2 වන සහ 4 වන සෙනසුරාදා භාවනා වැඩසටහන්

**ගමන් මාර්ගය: නිට්ටඹුව - රුවන්වැල්ල ප්‍රධාන මාර්ගයේ ගෝණගල්දෙනිය හන්දියේ සිට වහරක අතුරු මාර්ගයේ මීටර 350 ක් පමණ දුරින් දකුණු පස.**

---

## හෙළ බොදු පියුම දහම් සඟරාවේ පසුගිය කලාපයන් ඇතුලු සියලු කලාපයන් දැනට ලබාගත හැකි ස්ථානඃ

■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 104, හයිලෙවල් පාර, මහරගම 077 7258851 ■ හසරු ප්‍රින්ටර්ස්, මාලබේ. (071 4220558 / 011 2744308) ■ පිනැකල් නෙට්, හයිලෙවල් පාර, ගොඩගම - 011 2895132 ■ තුෂාරා ෆැෂන්, හයිලෙවල් පාර, හෝමාගම - 011 2857572 ■ තුෂාරි සාරි සෙන්ටර්, කොළඹ පාර, පාදුක්ක - 076 6114237 ■ නිව් පියුමි කොමිනිකේෂන් - පීරිස් මාවත, කළුබෝවිල - 077 3742023 ■ නැදිමාල ශ්‍රී සෝමානන්ද විහාරයේ සදහම් වැඩසටහනින් (බදාදා පෙ. ව. 9.00 සිට 3.00 දක්වා පමණි.) 077 2292677 / 071 3228571 ■ දෙහිවල කරගම්පිටිය ශාස්ත්‍රානන්ද පිරිවෙන් විහාරයේ සදහම් වැඩසටහනින් (සෙනසුරාද උදේ 8.30 සිට සවස 2.00 දක්වා පමණි) (දෙහිවල පොලිස් ස්ථානය අසල) - 071 8059784, 077 2055098 ■ සෙනාරෝ සෙන්ටර්, අංක 35, රාජගිරිය පාර, රාජගිරිය - 075 5569555 ■ සීදේවි හෝටලය, වේයන්ගොඩ පාර, කිරිදිවැල. 071 0118101 ■ කුමාර අයන් වර්ක්ස්, 209 ඒ, ගලහිටියාව, ගනේමුල්ල - 076 9604682, 071 3329621 ■ පෝලර් රීජන්ස් 402 සී, ගාලු පාර, පානදුර 038 2235369 ■ සරසවි පොත්හල, 330/ඒ, ගාලුපාර, අළුත්ගම - 077 3474081 ■ සුධීර කොමිනිකේෂන්, පිටිගල පාර, පැලවත්ත. - 071 2103177, 075 2679202 ■ සහන ෆාමසි, මුණගම, හොරණ - 071 2608776 ■ උපාලි පූජා භාණ්ඩ මන්දිරය, හොරණ 077 7722531 ■ සමනල පොත්හළ, නෙළුව - 071 2837757 ■ ස්ටුඩියෝ සෙවන් සීරෝ, තවලම හන්දිය, තවලම (ඉන්ධන පිරවුම් හල අසළ) 071 5827923 ■ ගේට්වේ අධ්‍යාපන ආයතනය, කලේගාන, ගාල්ල - 091 2242610 ■ නිව් මෙට්‍රෝ කම්පියුටර්ස්, කාලිදස මාවත, මාතර - 041 2225118 ■ හෙළ බොදු සිසිල සෙනසුන, මුරුතමුරේ, හක්මන - 041 3021878 ■ පත්මසිරි ස්ටෝර්ස්, මුරුතමුරේ (පන්සල අසල) හක්මන - 071 4133487 ■ මෝලෙ කඩේ, මුදුන, වලස්මුල්ල - 071 1662643 ■ දිලුනෙත්, පාසල් මාවත, කඹුරුපිටිය - 071 9856555 ■ රාජපක්ෂ වෙළඳසැල, බැද්දෙගෙදර, මිද්දෙණිය පාර, වීරකැටිය - 07 12136329 ■ සංජීව සුපර් ග්‍රොසරි, ප්‍රධාන වීදිය, බඩල්කුඹුර 075 5863883, 055 2250051 ■ හොරණ වාසනා බේකර්ස්, අංක 31, තිස්ස පාර, වැල්ලවාය - 078 8987930, 071 8375871 ■ අමර බුක් ෂොප් ඇන්ඩ් කොමියුනිකේෂන්, අංක 113/11 ඒ, බණ්ඩාරනායක මාවත, රත්නපුර - 071 2404242, 072 2404242 ■ සොබා දහම් ගොවිපොළ, සණස, උකුවෙල, මාතලේ - 071 8261500, 066 2245353 ■ චන්ද්‍රල වෙළඳ විමන, අංක 124, කෙලින් වීදිය, මාතලේ - 077 3632966 ■ ශ්‍රී සුදර්ශනාරාමය, මහවෙල, මාතලේ - 076 7997638 ■ ඒකනායක මන්තින්දරාමය, ඉහළගම, මහඋඩගම, ගම්පොළ, නුවර - 077 541 64 61, 081 020 57572 ■ අමිල ට්‍රේඩර්ස් ඩී1, ඒ. ඒ. ධර්මසේන මාවත, මහනුවර - 075 7246797 ■ අරිය චින්තාශ්‍රම හෙළ බොදු සෙනසුන, බාලදක්ෂ මාවත, ගල්කඩවල, අනුරාධපුර - 076 6442125 ■ අරි සිතුම් අරණ දහම් මැදුර, දේවගිරිපුර, ගල්ගමුව - 071 1211876 ■ හොරණ වාසනා බේකර්ස්, මැදවච්චිය (ඔරලෝසු කණුව ඉදිරිපිට) - 078 8506619, 071 8375871 ■ ප්‍රජාපතී ගෝතමී ආරාමය, පහලගම, සියඹලන්ගමුව, මාස්පොත - 037 4902817 ■ පිවිතුරු අරණ සෙනසුන, කට්ටකඩුව, ආඬියාගල, දඹුල්ල - 025 5789988 ■ සීගිරි පොත්හළ, පොළ හන්දිය, මහව - 077 6243804 ■ ශෛල පබ්බතාරාමය, ගිජිදගම, පොල්ගහවෙල - 071 212 5880 ■ රුහුණු ෆුඩ් ලයින්, අංක 05, හලාවත පාර, කොච්චිකඩේ - 031 2277726 ■ චන්දන පූජා භාණ්ඩ, 100, බදුල්ල පාර, හාලිඇල - 055 2294999 ■ සෙව්වන්දි පොත්හළ, පාසල් මාවත (වැරෙන්කටගොඩ මහා විද්‍යාලය ඉදිරිපිට), වැරෙන්කටගොඩ, අම්පාර - 077 4182684, 077 0844980

**තැපෑලෙන් ගෙන්වා ගැනීම සඳහා විමසන්න - ඩී. සී. ආර්. ඇක්සස් මුද්‍රණාලය - අංක 33, තලවතුගොඩ පාර, පිටකෝට්ටේ - 0777794676**

***ඉහත ආයතන හිමි පින්වතුන් මෙම සද් කාර්ය ඉටු කරනු ලබන්නේ කිසිදු වෙළඳ ලාභයකින් තොරව සාසනික කටයුත්තක් වශයෙන් පමණි.***



# වනවාසික තිස්ස තෙර

මහසෙන් නමැති රජගහ නුවර වැසියෙකි
ඉසුරෙන් පිරුන යහතින් විසුව බමුණෙකි
ධනයෙන් නොසිතු ලෙස පිරිහුනි එ කරුමෙකි
එහෙයින් හෙතෙම දැන් එනුවරෙහි දුගියෙකි

සැරියුත් තෙරිඳු වැඩි සඳ එහි පිඬු පිණිස
මොනවත් නොමැත අහරක් පුද දෙනු කෙලෙස
සොව පත් හෙතෙම සමිඳුට නොහැඟෙන විලස
ගෙට විත් සැඟවුනා හිමි දුටු කල විගස

දෙවරක් එලෙස වුනි මොහු පසුවෙයි සොවිනි
අහරක් නොමැත පවසනු කෙලෙසක මුවිනි
පිළියක් කිරි බතක් එ අතර ලද බැවිනි
සඟනක් වඩිනු ඇත සිත මඳකට නිවිනි

සැරියුත් මහ තෙරිඳු දැහැනට සම වැදුනා
වියපත් බමුණු තෙම මියයන බව පෙනුනා
සුවපත් කරමි මොහු සිත පිඬු පිළි ගැනුනා
එපිනත් රැගෙන යළි සැවතෙහි පිළි සිඳුනා

සත් හැවිරිදි කල මැ සැරියුත් තෙරිඳු වෙත
පත් විය කුමරු සපුරයි දැන් මහණ වත
සිත් ලෙස වනගතව ලොවිතුරු සුවය සෙත
අත් කර ගනු පිණිස නොපැකිළ වඩයි තැත

වන වාසික තිස්ස නම සමිඳුට යෙදුනා
ගුණ දහමට පිනට දැහැනට සිත බැඳුනා
පින බලවත් වුනා භව බැමි සිඳ දැමුනා
මන සුවපත් වුනා හිමි නිවනින් නිවුනා

වනයට වැද සිඟා පිඬු වැළඳුව නමුදු
ගුණයට පිනට අඩුවක් නොම විය කිසිදු
පසයට නොම ඇලුනු දහමෙහි සිත පැහැදු
සඟනට උරුම වනු නිවනයි දෙසු මුනිඳු

(ධම්ම පදය - බාල වග්ගය ඇසුරෙනි)

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා

# මේ යන එන ගමන
# එක නැවතුම් පොළකි...

මුල නොපෙනෙනා අනත වු සසරෙහිද දිරූ
පොළවල් කෝටි ගණනකි කිව නොහැකි දැරූ
මිල කළ නමුත් එදවස නැත කිසිම සරූ
කල ගිය තරම සිහි කරනට නොමැත හුරූ

නොසිටිය තැනක් නැත තුන් ලොව කිසිම සත
විසි විය කලක් යන විට හැර එතැන සිත
ඇසි පිය හෙළන මොහොතකි තවෙකකට යත
නිසි විය නම් කිමද එම තැන් හැරුන අත

නිලතල තනතුරුද දැරූ පෙර භව වලදී
එල නොම වුනා ගෙවුනා එහි නිසි කලදී
බැල මෙහෙවර කරපු අත්බැව් පව් පලදී
කෙළවර වුවද තව ඇත රිසි ලෙස නොලදී

ඒ ආ ගමනෙ දැරූ කයවල් ගොඩක ගසා
නෑ බෑ කියා හැඬු කඳුලැලි එගොඩ නිසා
මේ මහ පොළවෙ පස් සහ සිඳු දියද වසා
සේරම පරාදයි සසඳනු දකිනු දොසා

මිස දිටුවකින් අල්වා මම මගෙ ලෙසට
ඇස කන නහය දිව කය ඇර ලොව දෙසට
විස කර දේම වටිනා ලෙස ගෙන හිසට
පසටම දිරා යයි රැවටී මරූ බසට

මේ යන එන ගමන එක නැවතුම් පොළකි
පා වෙන පරඬැලකි ආයුස කිව නොහැකි
තේරෙන අයට නම් මේ මරුවගෙ ඇමකි
නෑ වෙන සරණ සදහම් පිළිවෙත යෙහෙකි

එදත් සිදුවු දේ අදටද සිදු වෙනවා
හෙටත් මේ ලෙසට සිදු වී කල යනවා
බණත් දෙසා හිමිවරූ නිවනට යනවා
නොගත් ලෝ සතුන් දුක සේ මියැදෙනවා

නැවතුම් පොළක සොබ මේ ලෙස හඳුන ගෙන
පැවතුම් වෙහෙස දුක් කඳුලැලි බවම දැන
වැනසුම් ගෙනෙන තුන් ලොව තතු කියන බණ
සැනසුම් ලබන්නට නොපමා අසනු මැන

පබැඳුම - නීතිඥ චන්දන සිරිවර්ධන



1081 RS.25.00
HELA BODHU PIYUMA 81

නීතිඥ චන්දන සිරිවර්ධන විසින් සංස්කරණය කර නුගේගොඩ ගංගොඩවිල වනාත පාරේ අංක 96/A දරණ ස්ථානයේ පිහිටි ඉමාෂි මුද්‍රණාලයේ මුද්‍රණය කරවා ප්‍රසිද්ධ කරන ලදී.